සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2559ක් වූ ඉල් මස (ව්‍යවහාරික වර්ෂ 2015 නොවැම්බර්)

50 වෙනි කලාපය

## දහම් අවබෝධ මාත්‍රයක තියෙන මහා ආනුහස...





සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

# ලෝව උතුම් දායාදය...





මායා ලොවක් තුළ ඉපදී අපිද පුතේ
සේයා රුවක් ලෙස කම් පල හිමිව ඇතේ
පායා සඳක් ලෙස මුනි බණ අහන හිතේ
දායාදයක් නම් තෙරුවන් මිසක නැතේ



කාත් කවුරුවත් නැති උන් ලොව නැත්තේ
ඇත් වෙලා හිටියත් පිහිටම ඇත්තේ
මාත් දහම අහලයි මේ මග ගත්තේ
ඊත් පුතේ ගැලවුම පහසුම නැත්තේ



යහළුවන් මොනව කිව්වත් නුඹට මෙදා
අහ ගනින් නිවෙන මග දුක නොමැති සදා
පහ කරන් කියන බස උන් ලොවම බදා
බහ ගනින් පුතේ දුන් තිලොවටම වෙදා



ලොක්කෙක් වෙලා ලොව මැද වැජඹෙන්න නොවේ
දැක්මක් ඇත අපට පුත සැනසෙන්න ලොවේ
දුක් දෙන ලොව උගත්කම් මරණින්ම ගෙවේ
රැක්කොත් හොඳයි කියමින් හැමතින්ම දැවේ

නින්දා සමග පැසසුම් එන ලොවක සොබා
බන්දා ඇත සතුන් තුන් දොස තුළට ඔබා
සින්දා එබැම් දම් අවබෝධයම ලබා
වැන්දා පුතේ මහ වෙදැදුරු දොහොත තබා





පියෙක් නොවන මුත් දැන් මම පෙර ලෙසට
ණයක් නැත නුඹට දම් දී ඇත හිසට
රැයක් වත් නොසිට සිත ගෙන බුදු බසට
නොයෙක් ලෙඩැති ලොව වටහනු නැණ ඇසට

රස මසවුළුද සෙල්ලම් බඩු ලොවෙහි වන
වස විස වෙමැයි නාඬන් පුත වටහ ගෙන
බස ගෙන මුනිගෙ හිටියොත් ඇත නිවෙන තැන
අසලට වෙලා අහපන් පුත කියන බණ



බුදු හිමි දුන්න දායාදය පුත හැමට
පොදු වෙයි වෙනස නැත ඇත නුඹගෙද නමට
නිදුකින් ඉන්න මග දෙන දම් ගුරු තුමට
බොදු දරුවෙකු මිසක සුරතල් කම කුමට ?

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# ධම්ම පදය තුලින් නිවන් මග

**17 වන කොටස**

ප්‍රිය වර්ගය කියන්නෙ ධම්ම පදයේ එන ගාථා කොටස්වලින් 16 වන කොටස. කෙනෙකුට යමක් හෝ යම් කෙනෙක් කෙරෙහි ඇතිවන ප්‍රියතාවය නිසා දුක හටගන්න හැටි තමයි මේ කොටසින් කියවෙන්නෙ. කෙනෙක් යම් දේකට හෝ තවත් කෙනෙකුට විවිධාකාරයෙන් බැඳෙනවා. ඒ බැඳුන ප්‍රමාණය අනුව දුකක් ගෙන දෙනවා. ඉතින් එහෙම වෙන්නෙ කොහොමද? උදාහරණයක් විදිහට එදා බුදුන් දවසේ ඇති වෙච්ච සිද්ධියක් පෙන්වන්න පුළුවන්. මේ සිද්ධිය සිද්ධ වුනේ විශාකා සිටු දේවියට. විශාකාව කියන්නෙ හත් අවුරුද්දෙන් දහම් අවබෝධය ලබපු, ගෞතම බුද්ධ සාසනයේ අග්‍ර උපස්ථායිකා තනතුර දරපු උත්තමාවියක්. ඇය වයස අවුරුදු හත වෙන කොට බණ අහල සෝවාන් වෙලා හිටියෙ. ඉතින් සෝවාන් වෙච්ච කෙනෙකුටත් තියෙන බැඳීම් නිසා විඳින්න සිද්ධ වෙන දුක ගැන කියවෙන කතාවක් තමයි මේ.

විශාකා සිටු දේවියට තමන් බොහොම ප්‍රිය කරන මිණිබිරියක් හිටියා. මේ මිණිබිරිය හදිස්සියේ ජීවිතයෙන් සමුගත්තා. සෝවාන් වෙලා හිටියත් විශාකාවට ඒ වෙන්වීම දරා ගන්න බැරි වුණා. ඉතින් බොහොම දුකින් ඒ වතාවත් ඉටු කරල බුදුන් වහන්සේ හමුවෙන්න ගියා. අද බොහෝ දෙනෙක් හිතන් ඉන්න දෙයක් තමයි, සෝවාන් වෙච්ච කෙනෙක් කියන්නෙ කිසිම දේකට ඇලීමක් නැති, ඒ අනුව ගැටීමකුත් නැති කෙනෙක් කියල. ඒ නිසා මේ සෝවාන් වෙනව කියන්නෙ මොකක්ද කියල බලන්න ඕන. සත්කාය දිට්ඨිය, විචිකිච්චාව සහ සීලබ්බත-පරාමාසය කියන සංයෝජන තුන සහමුලින්ම බිඳුනම සෝවාන් වෙනව කියන්නෙ පොදුවේ කියන කාරණයක්. සරලව කියනව නම්, ලෝකය සාරයි කියල ගන්න වැරදි හැඟීම, බුදුන් දහම් සඟුන් කෙරෙහි ඇති අවිස්වාසය සහ අවසානයේ සිල් වතක් රැකල නිවන් දකින්න පුළුවන් කියන වැරදි අවබෝධය කියන මේවා නැත්තටම නැති වීම. කොටින්ම සතර අපාගත වෙන මට්ටමේ වැරැද්දක්, පාපයක් ඒ අය අතින් කෙරෙන්නෙ නෑ.

ඉතින් සමහරු මේ තත්වය, සියලු කෙලෙස් නැසූ අරිහතුන් වහන්සේ නමකට සමාන කරන්න හදනවා. ඒ අනුව සෝවාන් කෙනෙක් මනින්න ගිහින් පටලවා ගන්නවා. එහෙම හිතන්න ගියොත්, ''විශාකාවත් දූනගෙන හිටියනේ ලෝකය අසාරයි කියල, මේ අනිසි ලෝකයේ තමන්ගෙ මිණිබිරියත් අසාරයි කියල, ඉතින් මොකට දුක් වුනාද ?...'' මේ ආදී වශයෙන් වැරදි අවබෝධයක් ගන්න පුළුවන්. සෝවාන් වීම කියන්නෙ මූලිකව සසර ගමනට ඉන්ධන සපයපු වැරදි දෘෂ්ටිවලින් මුළුමනින්ම ඉවත්වීම. ඒ අනුව නිවන පූර්ණය කරන්න අවශ්‍ය මාර්ගය සැකසෙනවා. තමන් ලබන අවබෝධය අනුව, තමන්ගෙ නුවණ මට්ටම අනුව ඒ ඒ වේගවලින් පුද්ගලිකව සසර ගමන කෙලවර කරගන්නවා.



උපමාවක් කියනව නම්, තැනක් හොයා ගන්න බැරිව අතරමං වුන මිනිස්සු තුන් දෙනෙක් ඉන්නවා. මේ තුන් දෙනා ඉබාගාතෙ යනවා. යන්නෙ කොහෙද, කොහාටද යන්න ඕන, මේ කිසිවක් දන්නෙ නෑ. ඉතින් විස්වාසවන්ත කෙනෙක් හමුවෙලා කියනවා, ඔය පාරෙ යන්න එපා අතරමං වෙනවා, මෙන්න මෙතනින් පටන් ගන්න අර තියෙන්නෙ පාරෙ කෙලවර, එතකොට අවශ්‍ය තැනට යන්න පුළුවන් කියල. එහෙම කියල අර තුන් දෙනාට පාර පෙන්වනවා. දැන් ඒ තුන් දෙනා අර විස්වාසවන්ත කෙනා පෙන්වපු පාරෙ ගමන් කරනවා. මේ තුන් දෙනා එකම පාරෙ ගමන් කරන්නෙ. දැන් මේ තුන් දෙනා ගමන් කරන වේගය, අඩිය තියන තැන් එක සමානද? නෑ, ඒ ඒ කෙනාගෙ ශක්තිය අනුව, ජවය අනුව යන වේගය, අඩිය තියන තැන වෙනස්. කෙනෙක් මුලින් යන්න පුළුවන්, අනෙක් කෙනා මැදින් යන්න පුළුවන්, ඊළඟ කෙනා අන්තිමට යන්න පුළුවන්. ඒත් යන දිසාව එකයි, අරමුණ එකයි. යන වේගය සහ අනෙකුත් දේවල් තමයි වෙනස් වෙන්නෙ.

ඒ වගේම තමයි සෝවන් වෙච්ච කෙනත් තමන්ගෙ ජවය අනුව, ඒ කියන්නෙ ඉන්ද්‍රිය ප්‍රබලත්වය අනුව, නිවන කරා යන වේගය වෙනස් වෙන්න පුළුවන්. ශ්‍රද්ධා ඉන්ද්‍රිය බලවත් කෙනා ගමන් කරන වේගයට වඩා වැඩි වේගයකින් ප්‍රඥා ඉන්ද්‍රිය බලවත් කෙනා ගමන් කරනවා. ඒ අනුව වීර්ය ඉන්ද්‍රිය බලවත් කෙනා ගමන් කරන වේගය වෙනස් වෙන්න පුළුවන්. ඒත් හැමෝම ගමන් කරන අත එකයි. ඒ කිව්වෙ සුවයක් ලබන අතට තමයි ගමන් කරන්නෙ. මේ සුවයක් තියෙන අතට ගමන් කරන නිසා, පෙර අඩියට වඩා ඊළඟට තියන අඩිය සුවයි. පෙර අත්දැකීමකින් සැලිච්ච කෙනා ඊළඟ අත්දැකීමෙන් සැලෙන්නෙ නෑ. ඒ කලින් අත්දැකීමෙන් ක්ෂය වෙච්ච ප්‍රමාණයක් තියෙන නිසා. ඉතින් මේ සුව අත නිසා සෝත කියනවා. ඒ වගේම සෝත කියන්නෙ අරි අටඟි මගට කියන තවත් නමක්. අරි අටඟි මගට පැමිණීමට / සුව අතට පැමිණීමට සෝත + ආපන්න - සෝතාපන්න කියල කියනවා.

ඒ වගේම මෙතන තවත් පැත්තක් තියෙනවා. විශාකාව ඒ වෙලාවෙ යම් කිසි චාරිත්‍රයක් ඉටු කළා. ඒ දවස්වල තිබුන සිරිතක් තමයි හිතවත් ඥාතියෙක් මිය පරලොව ගියාම ඇඳුම් පිටින් නාලා, ඒ තෙත බරිත ඇඳුම් ඇඳගෙනම දුක ප්‍රකාශ කරනවා. ඉතින් සෝවාන් වෙලා හිටපු විශාකාවත් මේ සිරිත ඉටු කළා. එහෙම තෙත බරිත ඇඳුම්වලින් තමයි බුදුන් වහන්සේ හමුවෙන්න ගියේ. හැබැයි අද ඉන්න කෙනෙක් මේක දැක්ක නම් කියන්න පුළුවන්, ඇයි මේ මිථ්‍යා දෘෂ්ඨික වැඩ කරන්නෙ, බෞද්ධයෙකුට මේක ගැලපෙන්නෙ නෑ කියල. අදත් කෙනෙක් දේවාලයකට පූජාවක් තියන්න ගියොත්, එහෙම නැත්නම් කේන්දරය බලව ගන්න ගියොත් ඔය ජාතියේම කතා තමයි කියන්නෙ. දැන් එතකොට බලන්න ඕන කාරණය තමයි, සෝවාන් වෙච්ච කෙනෙක් අතින් මිථ්‍යා දෘෂ්ඨික වැඩක් වෙන්න පුළුවන්ද කියල. ඒක කොහෙත්ම වෙන්න බෑ. සෝවාන් ඵලයට පත් වෙච්ච කෙනා සතර අපාගත වෙන්න තියෙන සියලු දෘෂ්ඨි ඉවත් කරල ඉන්නෙ. ඒ එක පැත්තක්. අනික ඒ ක්‍රියාව මිථ්‍යා දෘෂ්ටියක් වුනා නම්, විශාකාව බුදුන් වහන්සේ

හමුවෙන්න ගිය වෙලාවෙ උන් වහන්සේ ඒක එතනදිම පෙන්වා දෙනවා. උන්වහන්සේ ඇහුවෙ සරල ප්‍රශ්න කීපයක්. ඇයි මොකද වුනේ ? ඉතින් විශාකාව විස්තරය කිව්වා. ඊළඟට උන්වහන්සේ ඇහුවෙ, ඔබට මේ වගේ තව එක මිණිබිරියෙක්, දෙන්නෙක්, හතර දෙනෙක් ... හිටියොත් කැමතිද කියල. ඔව් ස්වාමීනි මම හරි කැමතියි කියල උත්තර දුන්නා. ඊට පස්සෙ උන්වහන්සේ මේ සැවැත් නුවර ජනගහනය කොච්චරද කියල අහල, ඒ සේරම ඔබේ මිණිබිරියන් වුනා නම් ඔබ කැමතිද කියල ඇහුවා. ඔව් ස්වාමීනි, එහෙනම් මම තමයි වැඩියෙන්ම සතුටින් ඉන්න කෙනා කියල උත්තර දුන්නා. අන්තිමේදි උන් වහන්සේ ඇහුවා, දවසකට මේ සැවැත් නුවර කී දෙනෙක් නම් මැරෙනවද කියල. එක්කෙනෙක් නම් නෙවෙයි, තුන් හතර දෙනෙක් මැරෙනව කියල උත්තර දුන්නා. එහෙනම් ඔබට තෙත ඇඳුම් අඳින්නෙ නැතිව එක දවසක්වත් ගත කරන්න පුළුවන්ද කියල අහල ඇත්ත වටහල දුන්නා. එතකොට තමයි විශාකාවට ඇත්ත නැත්ත තේරුනේ.

ඒ විදිහට අවශ්‍ය කාරණය සියල්ලෙන් සියල්ල දකින ලොව්තුරා බුදුන් වහන්සේ ඒ කාරණය පෙන්වා දුන්න මිසක්, අර සිරිතට ගරහන්න ගියේ නෑ. නමුත් අද බොහෝ අය මේ අවිද්‍යාවෙ දෘෂ්ටියි, දස වස්තුක මිථ්‍යා දෘෂ්ටියයි පටලවා ගෙන, අරක ගැලපෙන්නෙ නෑ, මේක ගැලපෙන්නෙ නෑ කිය කියා සමහර බොහෝ වටින සිරිත් විරිත් පවා අහක දාන්න පුරුදු වෙලා ඉන්නවා. අවිද්‍යාවෙ දෘෂ්ටිය සම්පූර්ණයෙන්ම බිඳ හැරෙන්නෙ අරිහතුන් වහන්සේට විතරයි. ඊට මෙහා අය ඒ ඒ මට්ටම්වලින් අවිද්‍යාවෙ දෘෂ්ටිවල බැඳිල ඉන්නෙ. එතකොට බුදුන් වහන්සේ, නියත අපාගත වෙන දෘෂ්ඨි දහයක් පෙන්වා දුන්නා. ඒව තමයි දස වස්තුක මිථ්‍යා දෘෂ්ටි කියන්නෙ. ඒව තමයි එපා කිව්වෙ.

1. **නත්ථි දින්නං** - **දීමෙහි විපාක නැත.**

මෙතනදි කියන්නෙ දන් දීල වැඩක් නෑ, ඒකෙන් කිසිම ලැබීමක් නෑ කියන දෘෂ්ටිය. දන් දීම කියන කාරණය ගැන බුදුන් වහන්සේ, සතා සිව්පාවගෙ පටන් ආර්ය මහා සංඝ රත්නයට යනකල්ම පෙන්වා තියෙනවා. කෙනෙක් කියන්න පුළුවන්, අපෝ පන්සලේ හාමුදුරුවන්ට දන් දීල වැඩක් නෑ, ඒ අයට ඕන තරම් ලැබෙනවා, දෙනව නම් අන්න අර කන්න බොන්න නැති හිඟන්නෙකුට දීපන් කියල. හැබැයි ඒක අවිද්‍යාවෙ දෘෂ්ටියක් මිසක් දස වස්තුක මිථ්‍යා දෘෂ්ටියට අයිති වෙන්නෙ නෑ. දස වස්තුක මිථ්‍යා දෘෂ්ටියෙදි වෙන්නෙ, කිසි කෙනෙකුට දීල වැඩක් නෑ, දුන්නොත් අඩු වෙනව මිසක් ලැබීමක් නෑ කියන මේ දැඩි මතය. ඒ නිසා කාට හෝ දන් දෙනව නම් ඒ කාරණය මේකට අයිති නෑ.

2. **නත්ථි යිට්ඨං** - යුතුකම් ඉටු කිරීමේ විපාක නැත.

3. **නත්ථි හුතං** - පූජාවන්හි ඵල විපාක නැත - ඉෂ්ඨ දේවතාදීන්ට කරන පුද පූජා, පඬුරු පූජා, සුවඳ දුම් පූජා ... ආදියේ කිසිම ඵලක් නෑ කියන දැඩි මතය තමයි මේකෙන් කියන්නෙ.

4. **නත්ථි සුකටදුක්කටානං කම්මානං ඵලං විපාකෝ** - හොඳ නරක ක්‍රියාවල විපාක නැත - ඒ කියන්නෙ සැප දුක් විපාකයන්ට හේතු වන හොඳ නරක කර්මවල විපාක නෑ කියන දෘෂ්ටිය.

මේකත් භයානක දෘෂ්ටියක්. මේකට මූලික වෙන්නෙ, මේ ජීවිතය විතරයි අපට තියෙන්නෙ, මළාට පස්සෙ සේරම ඉවරයි, පින් කළත් එකයි පව් කළත් එකයි, පල දෙන්න කෙනෙක් නැත්නම් කොහොම හිටියත් මොකද කියන දැඩි මතය. (උච්ඡේද දෘෂ්ටිය)

5. **නත්ථි අයං ලෝකෝ** - මෙලොවක් නැත.

6. **නත්ථි පරෝ ලෝකෝ** - පරලොවක් නැත.

7. **නත්ථි මාතා** - අම්මා කියල විශේෂ කෙනෙක් නෑ, අනෙක් අය වගේම ගැහැනියක් කියන දැඩි මතය.

8. **නත්ථි පිතා** - තාත්තා කියල විශේෂ කෙනෙක් නෑ, අනෙක් අය වගේම පිරිමියෙක් කියන දැඩි මතය.

9. **නත්ථි සත්තා ඕපපාතිකා** - ඕපපාතිකව බිහි වන දෙව් බඹුන්, අමනුස්සයො වගේ සත්වයන් නෑ කියන දැඩි මතය.

10. **නත්ථි ලෝකේ සමණ බ්‍රාහ්මණා සම්මග්ගතා සම්මා පටිපන්නා යෙ ඉමංච ලෝකං පරං ච ලෝකං සයං අභිඤ්ඤා සච්ඡිකත්වා පවේදෙන්ති** - යහපත් ප්‍රතිපත්ති පිරීමෙන් යහපත් මගට පිවිස තම තමන් ලබාගත් විශිෂ්ට නුවණින් ප්‍රත්‍යක්‍ෂාවබෝධයෙන් මෙලොව පරලොව පෙන්වා දෙන, මිනිසුන් යහපත් මාර්ගයට යොමු කරවන ශ්‍රමණ බ්‍රාහ්මණයන් නැත කියන දැඩි මතය. (ම.නි. 3 - මහාචත්තාරීසක සූත්‍රය)

මේ මත දහයෙම හෝ එකක දැඩිව එල්බ ගෙන ඉන්න කෙනෙක් ඒ මතයේ ඉඳගෙන අනෙක් අයත් සමාදන් කරනව නම්, මැරෙන කොටත් ඒ දෘෂ්ටිය දුරු නොකර හිටිය නම්, ඒ පුද්ගලයා අනිවාර්යෙන්ම අපාගත වෙනව කියල ධර්මයේ සඳහන් වෙනවා. ඉතින් මේ දස වස්තුක මිථ්‍යා දෘෂ්ටියයි අවිද්‍යාවෙ දෘෂ්ටියි පටලව ගෙන බොහෝ අය මත ප්‍රකාශ කරනවා. සෝවාන් වෙච්ච විශාකාවත් චාරිත්‍ර ඉටු කළා. බුදුන් වහන්සේ ඒකට පහර ගහන්න ගියේ නෑ. අපිත් ඒ අනුව මේ දෙකේ වෙනස තෝරගෙන සමාජයේ ජීවත් වෙන කොට, යුතුකම් ඉටු කරමින් චාරිත්‍ර වාරිත්‍ර ඉටු කළාම ලැබෙන්න තියෙන ආශිර්වාදයත් නොඅඩුව ලැබෙනවා. මාර්ගය වඩන්නත් පහසු වෙනවා.

මෙතනදි තේරුම් ගන්න ඕන දේ තමයි සෝවාන් වෙච්ච කෙනෙක් කියන්නෙ අරිහතුන් වහන්සේ නමක් නෙවෙයි. ඒ කෙනත් කාම ලෝකයේ සැරි සරන කෙනෙක්. සතර අපාගත වෙන මට්ටමේ ඇලීම් ගැටීම් සහිත බලාපොරොත්තු නැති වුනාට, දරුමල්ලන් රකින්න ඕන, හොඳ ගෙයක් දොරක් හදාගෙන ඉන්න ඕන, රස කෑමක් කන්න ඕන... ආදී අදහස් තියෙනවා. වෙනසකට තියෙන්නෙ ඒවා නොලැබුනා කියල බරපතල විදිහට සැලීමකුත් නෑ, නමුත් තිබුන කියල ලෝකයට ලොකුවට පෙන්වන්න යන්නෙත් නෑ. ඒ කියන්නෙ සතර අපාගත වෙන මට්ටමේ ඇලීම් ගැටීම් නෑ. ඒ ඒ මට්ටමෙන් තමන් බැඳුන තැන් අනුව දුක විඳගෙන, ඒ දුක තේරුම් ගනිමින් ගමන යනවා. ඉතින් විශාකාවට වුනෙත් මෙහෙම සිද්ධියක්. බුදුන් වහන්සේ ළඟට ගිහින් මේ කාරණය කිව්වම, උන්වහන්සේ මේ ගාථාව දේශනා කරල පහදල දුන්නා.

**පේමතෝ ජායතී සෝකෝ**
**පේමතෝ ජායතී භයං**
**පේමතෝ විප්පමුත්තස්ස**
**නත්ථි සෝකෝ කුතෝ භයං ?**

සරල සිංහල තේරුම,

ප්‍රේමය නිසා නිසා සෝකය උපදී. ප්‍රේමය නිසා බිය උපදී. ප්‍රේමයෙන් වෙන් වූවහුට සෝකයක් නැත. එසේ නම් බියක් කොයින්ද? නැත්තේ මැයි.

දැන් ආපහු ප්‍රශ්නයක් එනවා, කොහොමද ප්‍රේමය නිසා සෝකයක් උපදින්නෙ, එහෙම නැත්නම් අපි කෙනෙකුට ආදරය කරුණාව දක්වන කොට ඒකෙන් සෝකයක් එන්නෙ කොහොමද කියල. බුදුන් වහන්සේත්, උන්වහන්සේ දේශනා කරපු මාර්ගය පූර්ණ කරපු අරිහතුන් වහන්සේලාත් ලෝකයාට ආදරය කරුණාව දැක්වුවා. ඒත් උන්වහන්සේලාට උපාදානස්කන්ධයක්

නැති නිසා මේ කියන විදිහෙ සෝකයක් දුකක් ආවෙ නෑ. එතකොට අපිට විතරක් එහෙම එන්නෙ කොහොමද ?

ඇයි එහෙනම් ආදරය කරුණාව නිසා සෝකයක් එනව කියල බුදුන් වහන්සේ දේශනා කළේ ? මුලින්ම බලන්න ඕන, අපි ඔය දක්වන ආදරය කරුණාව හැමෝටම එක සමානද කියල. මගේ දුවට, මගේ පුතාට තියෙන ආදරය කරුණාවමද වෙන කෙනෙකුගේ දුවෙකුට පුතෙකුට තියෙන්නෙත් ? මෙහෙම හිතල බලමු. දුව හෝ පුතා පාසල් යනවා. උදෙන්ම පාසල් යවල අපි ගෙදර එනවා. ආරංචියක් එනවා, පාසල ඇතුලෙ ලොකු ගින්නක් හට ගෙන කියල. දැන් අපි දුවල යනවා පාසලට. ගිහින් කාගෙ හරි දුවෙක් හෝ පුතෙක් අතින් අරගෙන එළියට එනවද ? එහෙම නැත්නම් අනෙක් ළමයි ඉදෙද්දි තමන්ගෙ පුතා හෝ දුව හොයනවද? එහෙම අවංකව හිතල බැලුවොත් පේන්න තියෙන කාරණය තමයි, මගේ දුව මගේ පුතා කියන මමත්වයත් එක්ක ආපු හැඟීම. අන්න ඒ කිළුට එක්ක තමයි අපි බැඳීම් ඇති කරගෙන තියෙන්නෙ. මගේ පුතාට මොකක් හරි වුනොත් මට ඉඳල වැඩක් නෑ. මගේ දුවට කරදරයක් වුනොත් මට ඉඳල වැඩක් නෑ. ''මම'' කියන තැන ඉඳන් කිළුට එක්ක එකතු වුන ''මගේ'' කියන හැඟීමට තමයි ඔය ආදරය කරුණාව කියල වචන දෙකක් දාගෙන තියෙන්නෙ. අන්න ඒ හැඟීමට විරුද්ධව දෙයක් ආවොත් දුකක් මිසක් සැපක් කොහොම එන්නද ?

ඒ නිසයි ලොව්තුරා බුදුන් වහන්සේ, ප්‍රේමය නිසා සෝකය උපදිනව කිව්වෙ. සෝකයත් එක්කම නිතරම එන හැඟීමක් තමයි බය කියන්නෙ. දුව පාසල් ගියාද? පුතා පාසල් ගියාද? අර ගින්න ඇතිවුනා කියල ආරංචි වුන ගමන් විලාප තිය තියා බය වෙලා දුවනවා. වෙනද එන වෙලාවට වඩා පැය භාගයක් විතර පරක්කු වුනොත් මොන වගේ හැඟීමක් හිතට එයිද? අනේ තාම නෑ ! අනෙක් ළමයි ඝේරම ගෙවල්වල ගිහින්, අපේ දුව අපේ පුතා තාම ඇවිත් නෑ කියල දැන ගත්තම ඒ බය තව තවත් වැඩි වෙනවා. කරදරයක් අනතුරක් වෙලාද ? එන ගමන් වෙන බස් එකක, වෑන් එකක නැගල අතරමං වුනාද ... මේ වගේ හිතාගන්න බැරි සිතිවිලිවලින් හිත පිරිල දැවෙනවා, තැවෙනවා. ඉතින් මේ පාසලේ ඇති වෙච්ච ගින්න වගේම ලෝක සත්වයා විඳින ගින්නක් තියෙනවා. ඒ තමයි සසර ගින්න. ඒකෙන් දැවෙනවා, තැවෙනවා. එක එක තැන්වල දුක්පත් පොහොසත් කියල ලගිනවා. ඒ තැන්වලින් ගිහින් කරගත්ත දේවල් අනුව සතර අපාගත වෙලා දුක් විඳිනවා. නිතරම ඇවිලි ඇවිලි ඉන්නෙ. මේ ගින්න දැකපු ලොව්තුරා බුදුන් වහන්සේ, මේ අපේ කෙනා, මේ අහවලාගෙ කෙනා කියල වෙන් කරන්නෙ නැතුව පොදුවේ ඒ ගින්න නිවා ගන්න හැටි, ඒ ගින්නෙන් මිදෙන හැටි පෙන්වා දුන්නා. ''මම, මගේ'' කියන හැඟීමෙන් තොර මේ දේ සැබෑ ආදරය කරුණාව වෙනවා, වංක නැති අවංක ප්‍රේමය වෙනවා. එහෙම කෙනෙකුට සෝකයක් නෑ. ඒ සෝකය නැති කෙනාට බයක් කොයින්ද? එහෙම එකක් නෑ කියල ඔප්පු කරල පෙන්නුවා.

ඔය එක පැත්තක්, දරුවන් කෙරෙහි ඇතිවෙන ප්‍රේමය, ආදරය වගේ දේවල් නිසා දුකට පත්වෙන හැටි පෙන්වපු අවස්ථාවක්. ඒ වගේම මේ කාරණය දරුවන්, දෙමව්පියන් කෙරෙහි වෙන්නත් පුළුවන්. ඒ අනුව අපට හිතල තේරුම් ගන්න පුළුවන්. ඊට එහා ගිය එකක් තමයි ස්ත්‍රියක් පුරුෂයෙක් කෙරෙහි හෝ පුරුෂයෙක් ස්ත්‍රියක් කෙරෙහි ඇති වෙන රාගය. ඒ ගින්න සුළු පටු නෑ. එදා බුදුන් දවස වෙච්ච සිද්ධියක් අරන් බැලුවොත්, එදා උත්සවයක් තිබුන දවසක්. ලිච්ඡවී රජ දරුවො ලස්සනට සැරසිලා උයන් කෙලියට යන අවස්ථාවක්. ඒ අය කොච්චර ප්‍රිය මනාපද ලස්සනද කියල කියනව නම්, බුදුන් වහන්සේ ඒ අය පෙන්වල, තාවතිංසයේ දෙවියන් දැකල නැති අය ඉන්නව නම් අන්න බලාගන්න, ඒ දෙවිවරුත් මේ ලිච්ඡවී රජ දරුවනුත් එක සමානයි කියල කිව්වා. ඉතින් මේ රජ දරුවො උයන් කෙළිය සඳහා පිටව ගිහින්, අභිසාරිකාවක් නිසා ඇති වෙච්ච ප්‍රශ්නයකට ගහ මරා ගත්තා. ලේ විලක් මැද වැටෙන තරමට මේ රණ්ඩුව දුර දිග ගියා. එදා උදේ උයන් කෙළියට ගිය රජ දරුවො නැවතත් අරන් ගියේ ලේ පෙර පෙරා ඇඳන් උඩින්. ඒ සිද්ධිය දැකපු භික්ෂූන් වහන්සේලා මෙහෙම කතාවක් කිව්වා. බලන්න උදේ දෙවිවරු වගේ ගිය අය දැන් මේ හවස කා කොටා ගෙන ඇඳන් උඩින් වෙන අය ලවා අරගෙන යනවා. ඉතින් මේ කාරණය මුල් කරගෙන ලොව්තුරා බුදුන් වහන්සේ මේ ගාථාව දේශනා කළා.

**රතියා ජායතී සෝකෝ**
**රතියා ජායතී භයං**
**රතියා විප්පමුත්තස්ස**
**නත්ථි සෝකෝ කුතෝ භයං ?**

සරල සිංහල තේරුම,

ඇල්ම නිසා සෝකය උපදී. ඇල්ම නිසා බිය උපදී. ඇල්මෙන් වෙන් වූවහුට සෝකයක් නැත. එසේ නම් බියක් කොයින්ද? නැත්තේ මැයි.

දැන් මෙතනත් කලින් වගේමයි. වෙනසකට තියෙන්නෙ, මේක ස්පර්ශ කාමය මුල් කර ගෙන වෙච්ච සිද්ධියක්. කායික ස්පර්ශය ලබා ගැනීම නිසා ඇති වෙච්ච බහින් බස් වීමක් දුර දිග යෑමක්. මේ බහින් බස් වීම ඇති වෙන්න ඇත්තෙ, මට මුලින් ඕන උඹ දෙවනියට ගනින් .... ආදී අදහස් නිසා. නැවතත් ''මම, මගේ, මට'' කියන හැඟීම, ''මටම වේවා අනිකෙකුට නොවේවා'' කියන හැඟීම තමයි එන්නෙ. දුර්වලයෙක් නම්, ඒවා ලබා ගන්න බැරි නිසා සෝක වෙනවා. හොරෙන් හෝ ලබා ගත්ත නම්, අහුවුනොත් මොකද වෙන්නෙ කියල බයක් ඇති වෙනවා. සෝවාන් වෙච්ච කෙනා පටිවිරති වෙනවා. ඒ කියන්නෙ බැඳෙන රතියෙන් වෙන් වෙනවා. ඒකෙන් කියන්නෙ නෑ සම්පූර්ණයෙන් වෙන් වෙලා කියල. වෙනසකට තියෙන්නෙ අර වගේ බහින් බස් වෙලා ගහ මරා ගන්නෙ නෑ. සාධාරණයෙන් ලැබුනොත් ඒක ලබා ගන්නවා, සතර අපාගත වන මට්ටමේ ඇලීම් ගැටීම් නෑ. ඒ අනුව කාකොටා ගන්නෙ නෑ. ඒ නිසා තමයි පාණාතිපාතා පටිවිරති හෝති, අදින්නාදානා පටිවිරතෝ හෝති කියල කියන්නෙ. ඒ කියන්නෙ ප්‍රාණ ඝාතය කරන්න, හොරකම් කරන්න කැමැත්තෙන් / රතියෙන් බැඳී හිටීමේ ස්වභාවයෙන් වෙන් වුණා. ඒ ගුණයට බැඳිල ඉන්නවා. හැබැයි අකමැත්තෙන් කරන අවස්ථා එන්න පුළුවන්.

උදාහරණයක් විදිහට බඩගින්නට කන්න දෙයක් ඇත්තෙම නැත්නම්, ලබාගන්න යහපත් ක්‍රමයකුත් නැත්නම්, ආහාරය සඳහා පුංචි හොරකමක් කරන්න පුළුවන්. හැබැයි ඒකත් වරදක් බව දකිනවා. ඒ වරද වසං වෙන්නෙ නෑ. නමුත් කරන්න දෙයක් නැති නිසා කරනවා. එතකොට රතියෙන් වෙන්වීම හෙවත් ආස්වාදයන්ගෙන් සම්පූර්ණයෙන් වෙන් වෙලා ඉන්නෙ අරිහතුන් වහන්සේ. උන්වහන්සේට අනුව නම්, අදින්නාදානා වේරමණී, පාණාතිපාතා වේරමණී. උන් වහන්සේගෙ දිවි තොර වුනත්, නුදුන් දෙයක් ගන්නෙ නෑ, වෙන කෙනෙක්ගෙ ප්‍රාණයක් නසන්නෙ නෑ. සම්පූර්ණයෙන්ම වැළකිලා ඉවත් වෙලා ඉන්නෙ. උන්වහන්සේට තමයි මේ සෝකයත්, ඒ අනුව එන බයත් සම්පූර්ණයෙන්ම නැත්තෙ. අනෙක් අය එතැනට යන ගමනට අත්දැකීම් ලබාගෙන, ඒ මට්ටමින් රතිය නිසා ඇතිවෙන සෝකය දුක නිවා ගන්නවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්ම පද පාළිය - ප්‍රිය වග්ගය ඇසුරින් සකස් කළේ :*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

# නිවනට හේතු වන බොජ්ජංග ධර්ම වැඩෙන හැටි...

විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත, නිරෝධ නිශ්‍රිත, වොස්සග්ග පරිනාමී, මෙත්තා සහගත සත්ත බොජ්ජංග වැඩීමෙන්, මෙලොවදී අරිහත්වයට පත් නොවුනොත්, සුභ කියන බ්‍රහ්ම ලෝකයේ ඉපදිලා, එහි යම් ආයු කාලයක් ගත කරල එහිදිම පිරිනිවන් පාන බව පසුගිය කලාපයෙන් විස්තර කළා. වොස්සග්ග පරිනාමී කියන්නෙ නිවනට නැමී සිටිනවයි කියන එක. නිවනට නැමී සිටින්න නම්, නිවන හොඳයි කියල වටහ ගන්න නම්, නිවනේ අප්‍රමාණ ශාන්තිය යම් ප්‍රමාණයකට හරි අත්දුටු සෝතාපන්න ආර්ය ශ්‍රාවකයෙක් වෙන්න ඕන. එහෙනම් මේ ආර්ය මෛත්‍රිය බුදු සසුනෙන් බැහැර වෙනත් සාසනයක නෑ.



ලෝක සත්වයා පස් කම් සැපයට වටිනකම් දෙනවා. මේ වටිනව කියල අල්ලගෙන ඉන්න දේවල්වලම තමයි සියලු දුක් ගිනි සැඟවිලා තියෙන්නෙ කියල, ආස්වාදයේ දුක දකින සිවු අරිසස් දහම බුදු පියාණන් වහන්සේ දේශනා කළා. මේ දුක කියන ඵලය ගොඩ නැගිල තියෙන්නෙ, පෙර සසරෙදි ලෝක සත්වයා දුකට පත් කරන වැරදි අසාධාරණකම් කිරීමේ විපාක හැටියට. ලෝක සත්වයා දුකට පත් කරන වැරදි අසාධාරණකම් සහමුලින්ම අත්හැරියොත්, මතු සසර දුකක් එන්නෙ නෑ. එතකොට ඒ වැරදි අසාධාරණකම් අත් හරින්නෙ කොහොමද ? අත් හරින්න නම් යථාර්ථය දකින්න ඕන. ඒ කියන්නෙ දස අකුසලයම අනිච්ච, දුක්ඛ, අනත්ත කියන යථාර්ථයෙන් දැකල අත් හරින්න ඕන. එහෙම නැත්නම් නිකං යටපත් කිරීමක් විතරයි සිද්ධ වෙන්නෙ. අත් හැරීමක්, නොඇල්මක්, මිදීමක් ඇත්ද ඒක තමයි නිවන කියන්නෙ.

එතකොට මේ සිවු අරිසස් දහම දකිනවත් එක්කම තවත් දෙයක් දකිනවා. බලු වැඩ කරපු නිසයි බලු දුක විඳින්නෙ. ගොන් වැඩ කරපු නිසයි ගොන් දුක විඳින්නෙ. ලෝක සත්වයා බල්ලෙක් වෙන්න අකමැති වුනාට, සත්පුරුෂ උත්තමයින් විසින් නොකළ යුතුයි කියල දේශනා කළ වැරදි පාප දුසිරිත් කරන්න කැමතියි. දුසිරිත අතහරින තාක් දුකෙන් මිදීමක් නෑ. වටිනවා, හොඳයි, සාරයි කියල අනුන්ට දුක් දීල ලබන සැප අසාරයි කියල තමන්ටම අවබෝධ වුනොත් දුසිරිත අත්හරින එක අමාරු නෑ. සිවු අරිසස් දැක්කම, හේතු ඵල දහම දැක්කම, පස්කම් සැප අසාරයි කියල වැටහෙනවා. මම සහ මගේ කියල වැඩියෙන්ම සැලකිල්ලෙන් රැක බලා ගන්න ඇස, කන, නාසය, දිව, කය, මන මොහොතක්වත් තමන් කැමති විදිහට පවත්ව ගන්න බෑ. ඒවාට ගෝචර වන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්මත් තමන් කැමති විදිහට පවත්ව ගන්න බෑ. ඒවා තමන්ගෙ කැමැත්ත ඉෂ්ට කරන්නෙත් නෑ. ඒ සියල්ල අනිච්චයි. නොයෙකුත් උපක්‍රම යොද යොදා මේවා කැමති විදිහට පවත්ව ගන්න වෙහෙසෙනවා. මස් ලේ නැති ඇට කැබලි වගේ පස්කම් සුව අතර හොඳ එකක්ම පතනවා. නමුත් එලක් නෑ. අසහනයෙන් පෙළෙනවා. හොඳ එකක් පතන හේතුවෙන් යළි යළිත් සසර උපදිමින් මියයමින් දුක් විඳිනවා. ඒ නිසා දුක්ඛයි. මිරිඟුවක් වගේ ආස්වාද මාත්‍රයකට මුළා වෙවී, මේ විදිහට පෙළි පෙළී භව ගමනක අනේක දුක් විඳීම හරයක් නෑ, අර්ථයක් නෑ, අනත්තයි.

ධර්ම ශ්‍රවණයයි, සද්ධර්ම ශ්‍රවණයයි මතුපිටින් බැලුවම පේන්නෙ අකුරු දෙකක වෙනසක් විතරයි. නමුත් ඒ පුංචි වෙනස තුළ තමයි නිවන් මග තියෙන්නෙ. යහපත් ධර්මය අහල ඒ අනුව පිළිපැදීමෙන් යහපත් ප්‍රතිඵල ලබනවා. අයහපත් අසත්ධර්මය අහල ඒ අනුව කටයුතු කිරීමෙන් අයහපත් ප්‍රතිඵල ලබනවා. සද්ධර්මය කියන්නෙ නිවන් දකින මග හෙළිකරන ධර්මය. සද්ධර්මය අහල ඒ අනුව පිළිපැදීමෙන් නිවන් දකිනවා. වටිනවා, හොඳයි, සුබයි කියල හිතාගෙන හිටියත්, උරගලේ ගාල පරීක්ෂා කළාට පස්සෙ රන් නොවන දෙයක වටිනාකම ගිලිහෙනව වගේ, සද්ධර්මය ශ්‍රවණය කිරීම කියන උරගලේ ගෑවම, මේ සසර ගමනෙත් යහපත් භවයක් ඇත්තෙ නෑ කියල වැටහුනාම, ලෝකය පිළිබඳ තිබ්ච්ච මහා බලාපොරොත්තු අත් හැරිල යනවා. ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුබ වශයෙන් දැකීම පිළිබඳ සවිස්තර ලිපි පසුගිය හෙළ බොදු පියුම කලාපවල පළ කරල තියෙන නිසා ඉතාම කෙටියෙන් තමයි මේ සටහන් කළේ. වටිනවා, හොඳයි, සාරයි කියල අල්ලගෙන ඉන්නෙ අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුබ ගිනි ගොඩවල් කියල දැක්කම, අසාර ලෝකෙන් මිදිල, නිවනේ ශාන්තිය උදාකර ගැනීම සඳහා සිතින්, කයින්, වචනයෙන් කළ යුතු යම් දෙයක් ඇත්ද, ඒ කටයුතු නොපිරිහෙලා කරනවා.

සෝතාපන්න කෙනෙකුට පලමුවෙන්ම දැනෙන මෙත්තා සහගත සිතිවිල්ල තමයි, අනේ මේ දුක් විඳින ලෝක සත්වයාටත් මේ ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කිරීමෙන් මා ලබන්නා වූ සැනසීම ලබා දෙන්න ඇත්නම්... කොච්චර වටිනවද ... කියන එක. මෙබඳු සිතිවිල්ලක් නැගිල ආව නම්, තමන් අවබෝධ කරගත් දහම පුළුවන් නම් අනිත් අයටත් කියල දෙනවා (මෙත්තා සහගත වචී කර්ම).

තමන්ට දේශනා කිරීමේ හැකියාව නැත්නම්, එබඳු හැකියාවක් තියෙන අය විසින් ධර්ම දේශනා කරන ස්ථානවලට, කලණ මිතුරු දහමක් සොයමින් සිටින නිසි පුද්ගලයින් යොමු කරනවා. ඒ අයට අවශ්‍ය ආහාර පාන ආදිය සපයා දීමෙන් පහසුකම් සලසනවා. ඒ දහම තේරුම් ගන්න තරම් හැකියාවක් නැති, නමුත් දහම කෙරෙහි යම් ගරුත්වයක් ඇති පිරිසට ශ්‍රද්ධාව වැඩි දියුණු කරගන්න උපකාර වන පූජා, පින්කම් ආදිය සංවිධානය කරනවා (මෙත්තා සහගත කාය කර්ම). ආර්ය මෛත්‍රී භාවනාව වැඩීමෙන්, තවදුරටත් කළ හැකි යම් උපකාරයක් ඇත්නම් ඒකත් කරනවා (මෙත්තා සහගත මනෝ කර්ම).

සාමාන්‍ය යහපත් ධර්මයක් ශ්‍රවණය කළාට වඩා සද්ධර්මය ශ්‍රවණය කළාම, ලෝකය පිළිබඳව මෙතෙක් කලක් හිතාගන්න බැරිව තිබුණ ගැටළු පහසුවෙන් විසඳගන්න සූත්‍රයක් ලැබෙනවා. ඒ තමයි සිවු අරිසස්. ඒ සූත්‍රයට බහා බැලුවම, සද්ධර්මයට (පටිච්ච සමුප්පාදයට) අනුව ලෝකය ගැන පුන පුනා හිතන්නත්, හිත හිතා එහි අසාරත්වය දකින්නත් පුළුවන් වෙනවා. ඒ අසාර ලෝකය අත් හැරීම, නොඇල්ම, මිදීම තරම් නිවීමක් සැනසීමක් පස්කම් සුව කියන ලෝකය තුළ නැති බවත් වැටහෙනවා. සං. නි. 5-1 කාණ්ඩයේ එන <u>සීල සූත්‍රයේ</u> බුදුන් වහන්සේ මේ විදිහට දේශනා කරල තියෙනවා. "මහණෙනි, යම් ඒ භික්ෂු කෙනෙක් සීල සම්පන්න වෙත්ද, සමාධි සම්පන්න වෙත්ද, ප්‍රඥා සම්පන්න වෙත්ද, විමුක්ති සම්පන්න වෙත්ද, විමුක්ති ඤාණ දර්ශන සම්පන්න වෙත්ද, මහණෙනි, ඒ භික්ෂූන්ගේ දැක්මත් බොහෝ උපකාර යැයි මම කියමි. මහණෙනි, ඒ භික්ෂූන්ගේ වදන් ඇසීමත් බොහෝ උපකාර යැයි මම කියමි. මහණෙනි, ඒ භික්ෂූන් වෙත එළඹීමත් බොහෝ උපකාර යැයි මම කියමි. ඒ භික්ෂූන් ඇසුරු කිරීමත් බොහෝ උපකාර යැයි මම කියමි. ඒ භික්ෂූන් සිහි කිරීමත් බොහෝ උපකාර යැයි මම කියමි. ඒ භික්ෂූන් අනුව පැවිදි වීමත් බොහෝ උපකාර යැයි මම කියමි. ඒ කවර හෙයින්ද යත්; මහණෙනි, එබඳු භික්ෂූන්ගේ දහම් අසා, කාය විවේකය චිත්ත විවේකය යන උභය විවේකයෙන් යුතුව වෙසෙන හෙයිනි..."

සද්ධර්මය ශ්‍රවණය කරන්න ලැබෙන්නෙ මේ වගේ ආර්ය මහා සංඝයා වහන්සේලා වෙතින්. මේ විදිහට ඇසූ දහම නිතර නිතර සිහි කරන්න තරම් විශේෂ වන නිසා, නිතර නිතර සිහි කිරීමෙන් සති සම්බොජ්ජංගය වැඩීම ආරම්භ වෙනවා. අවබෝධයට හේතු කරන අංග කියන එකයි බොජ්ජංග කියන්නෙ. දහම නිතර සිහි කරන කොට විමස විමසා බලන්න කැමැත්තක් ඇති වෙනවා. සති සම්බොජ්ජංගය වැඩෙන අතරෙ, ධම්ම විචය සම්බොජ්ජංගය වැඩීම ආරම්භ වෙනවා. දහම විචක්ෂණ නුවණින් මෙනෙහි කිරීම හෙවත් විචාරණ ස්වභාවය තමයි මේ කියන්නෙ. දහම විමස විමසා බලන්න ඇති කැමැත්ත අනුව එසේ කිරීමෙන්, එදිනෙදා කටයුතුවලදි ධර්මය ක්‍රියාත්මක වෙන ආකාරය අත්දැකීමෙන්ම පෙනි පෙනී නුවණ හසුරුවනවා. රාගක්ෂය, ද්වේශක්ෂය, මෝහක්ෂය කිරීම නිවනයි කියන කාරණය, මේ සද්ධර්ම ශ්‍රවණය කිරීමෙන් දැන ගන්නවා. එතකොට එදිනෙදා කටයුතුවලදි නුවණ හසුරුවන්නෙ, තමන් තුළ රාගය, ද්වේශය, මෝහය ක්ෂය වෙනවද කියල විමසන්න. මේ ආකාරයෙන් කටයුතු කරන කොට ධම්ම විචය සම්බොජ්ජංගය වැඩෙනවා. ඒ සඳහා සද්දහම දන්න සීල සම්පන්න, ප්‍රඥා සම්පන්න පිරිස් සොය සොයා ඇසුරු කරනවා. ඒ සඳහා අවශ්‍ය කරන දහම් පොත පත, විද්‍යුත් මෙවලම් ආදිය සොය සොයා ශ්‍රවණය කරමින්, දහම් සාකච්ඡා පවත්වමින් මේ මිතුරු දහම ජීවිතයට බද්ධ කර ගන්නවා. මේ කටයුතු සඳහා යම් උත්සාහයක් වීර්යක් ගන්නවද, ධම්ම විචය සම්බොජ්ජංගය වැඩෙන අතරම විරිය සම්බොජ්ජංගය වැඩීම ආරම්භ වෙනවා. නූපන් අකුසල් නූපදීමට, උපන් අකුසල් දුරු කිරීමට, නූපන් කුසල් ඉපදවීමට, උපන් කුසල් වර්ධනයට වීර්ය කරනවා.

මේ වෙත්දි දහම ජීවිතයට බද්ධ වෙලා තියෙන නිසා, ලෝක කටයුතුවලදි ඇතිවන ගැටළුවලින් කම්පා නොවී, ලෝකයා දහම නොදන්නා කමින් වෙහෙසට පත්වෙන හැටිත්, තමන් මහත් වූ සැනසීමක් විඳින හැටිත් නුවණින් දකිනවා. මේ දැකීමෙන් මහත් වූ සොම්නසක් ඇති වෙනවා. මේ විදියට විරිය සම්බොජ්ජංගය වැඩෙන කොට ප්‍රීති සම්බොජ්ජංගය වැඩීම ආරම්භ වෙනවා. හැබැයි මේ කියන්නෙ නිරාමිස ප්‍රීතිය. මිසක් කාමයත් එක්ක සම්බන්ධ ආමිස ප්‍රීතිය නෙවෙයි. සිතේ ප්‍රීතියක් ඇතිවීම නිසා කායික මානසික සැහැල්ලුව ඇති වෙනවා. ප්‍රීති සම්බොජ්ජංගය වැඩෙන කොට පස්සද්ධි සම්බොජ්ජංගය වැඩීම ආරම්භ වෙනවා. සැහැල්ලු බව නිසා කර්මස්ථාන වැඩීම, ධ්‍යාන සමාපත්ති ආදිය උපදවා ගැනීම කෙරෙහි යොමුවීම, එදිනෙදා කරන කියන කටයුතු පිළිබඳව ප්‍රත්‍යවේක්ෂා කර බැලීම ... ආදී ධර්ම මාර්ගයේ අලුත් අලුත් කටයුතු බහුලව කරනවා. ඒ කටයුතුවලින් ධර්මයේ සත්‍ය ගුණ දකිනවා. නිවන කෙරෙහි සිත එකඟ වෙනවා. පස්සද්ධි සම්බොජ්ජංගය වැඩීම සිද්ධ වෙනවා. සමාධි සම්බොජ්ජංගය වැඩීම ආරම්භ වෙනවා. එතකොට ඇලීම් ගැටීම් දුරු වෙනවා. නිවන අරමුණු කරගෙන දන් දීම, පෙරහැර පූජා, බුද්ධ පූජා, බෝධි පූජා, දැහැත් ගිලන්පස පූජා, අටපැන් පූජා, සිල් සමාදන් වීම ආදී වශයෙන් නිවනේ සමාධියට ඇලුන කුදු මහත් සියලු කටයුතු කිරීමෙන් සමාධි සම්බොජ්ජංගය වැඩෙනවා. ඒ කටයුතුවලත් කිසියම් කායික මානසික වෙහෙසක් ඇතිවෙන කොට, ඒ වගේම මේ දහම පිළිගන්න / පිළි නොගන්න කොටස් දෙකක් ඉන්න බවත්, පිළි නොගන්න අයට බලෙන් දෙන්න බැරි බවත් දකින කොට සිත උපේක්ෂාවට පත්වෙනවා. එතකොට උපේක්ෂා සම්බොජ්ජංගය වැඩීම ආරම්භ වෙනවා.

මේ විදියට පේළියට සටහන් කළත්, බොජ්ජංග ධර්ම වැඩීම එක පෙළට කරගෙන යන්න බෑ. අපේ සිත එක් එක් අවස්ථාවලදි සන්සුන් වෙනවා, නොසන්සුන් වෙනවා, මැදහත් වෙනවා. මේ වගේ විවිධයි. සිත නොසන්සුන් වෙලා තියෙන මොහොතක කොච්චර වැදගත් සාරවත් දේශනයක් වුනත් හිතට ගන්න අමාරුයි. ඒ වෙලාවට ධම්ම විචය සම්බොජ්ජංගය වඩන්න බෑ. සිත කය සැහැල්ලු වෙන විදියෙ දාන මානාදියකට උදව් කිරීම, මල් පහන් සුවඳ දුම් ආදිය සකස් කිරීම වගේ සමාධි සම්බොජ්ජංගය වැඩෙන දේකට යොමු වෙන්න පුළුවන්. අසනීප අවස්ථාවක් වුනාම ඒ වෙලාවට විරිය සම්බොජ්ජංගය වඩන්න අමාරුයි. නමුත් සතිය වඩන්න අපහසුවක් නෑ. මේ විදියට සති සම්බොජ්ජංගය හැම විටම පෙරටුව තියෙන්න ඕන.

ධම්ම විචය සම්බොජ්ජංගය, විරිය සම්බොජ්ජංගය, ප්‍රීති සම්බොජ්ජංගය වඩාගෙන යන කොට, ඒ කොටස තව දුරටත් කරගෙන යන්න අපහසු අවස්ථාවක් එනවා. ඒ වෙලාවට තාවකාලිකව ඒ වැඩ කොටසින් ඉවත් වෙලා, පස්සද්ධි සම්බොජ්ජංගය, සමාධි සම්බොජ්ජංගය, උපේක්ඛා සම්බොජ්ජංගය වැඩෙන කටයුතුවලට යොමු වෙන්න ඕන. ඒ වැඩ කොටසත් යම් කිසි ප්‍රමාණයක් කරගෙන යත්දි, තව දුරටත් ඉදිරියට යන්න අපහසු අවස්ථාවක් එනවා. ඒ වෙලාවට ඒ බොජ්ජංග තුන වැඩීම තාවකාලිකව නතර කරල, මුල් තුන වඩන්න නැවත පටන් ගන්න ඕන. මේ විදියට සති සම්බොජ්ජංගය, හැරමිටිය වගේ නිතරම ඉදිරියෙන් තියාගෙන, දෙපය මාරු කරමින් යන ගමනක් වගේ, බොජ්ජංග ධර්ම තුන බැගින් මාරුවෙන් මාරුවට වඩන්න ඕන. ඒ කියන්නෙ ගමනක් යන කොට යන්න වෙන්නෙ පය මාරු කර කර. තනි කකුලෙන් යන්න බෑ. ඉස්සෙල්ලම

වම් හෝ දකුණු කකුල ඉස්සරහින් තියනවා. එහෙම තියල තමයි ඊළඟ කකුල උස්සන්නෙ. ඊළඟට ඒ කකුලත් පොළවට තියල තමයි අනික් කකුල උස්සන්නෙ. එතකොට තමයි ගමන යන්නෙ. පාර බලාගෙන යන්න නිතරම ඇහැ පේන්න ඕන. සති සම්බොජ්ජංගයත් හරියට ඇස් දෙකෙන් පාර බලාගෙන යනව වගේ.

මෙත්තා සහගත, කරුණා සහගත, මුදිතා සහගත, උපේක්ඛා සහගත කියන ආකාර හතරකින් සත්ත බොජ්ජංග වඩන්න ඕන. සතර අපා දුක් විඳින ලෝක සත්වයින් කෙරෙහි දයානුකම්පාවෙන්, විවිධාකාර උතුම් බුද්ධ පූජා පවත්වල පින් අනුමෝදන් කිරීම, කරුණා සහගත සත්ත බොජ්ජංග වැඩෙන වැඩ පිළිවෙලක් වුනත්, සමහර පිරිස් නිවන් දකින්න විදර්ශනා භාවනාව කිරීම පමණක් ප්‍රමාණවත් කියනවා. ඒ අයට "සබ්බේ සත්තා භවන්තු සුඛි තත්තා..." කියන කොටස වචන ටිකක් විතරයි. එතකොට කරණීය මත්ත කුසලේන කියල, නිවන සඳහා කළ යුතුම දේවල් හැටියට බුදුන් වහන්සේ වදාල දෙයින් එකක් සිද්ධ නොවෙන බවයි පේන්නෙ. කරුණා සහගත කාය කර්ම, වචී කර්ම, මනෝ කර්ම සමුදායක් සිදු කෙරෙන පින් කමකින්, සත්ත බොජ්ජංග වැඩෙන හැටි දැන් විමසල බලමු.

ආර්ය මෛත්‍රිය, ආර්ය කරුණාව ආදිය වඩන්න නම් ආර්ය බවට පත් වෙලා ඉන්න ඕන. එබඳු ආර්ය පිරිසක්, දකින්නන්ගේ අසන්නන්ගේ චිත්ත ප්‍රසාදය උපරිමයෙන් වැඩෙන ආකාරයට, අපි හොඳ පූජා පෙරහැරක් සංවිධානය කරමු... කියල එකතු වෙනවා. ඒ අය අතර විවිධ හැකියාවන් තියෙන අය ඉන්නවා. විවිධ රුචි අරුචිකම් තියෙන අය ඉන්නවා. විවිධ සමාජ මට්ටම්වල කටයුතු කරන අය ඉන්නවා. ඒ කවුරුත් එකතු වෙලා පූජා කරන්න සකසා ගත යුතු සුදුසු දේවල්, මිළදී ගත යුතු දේවල්, සංවිධානය කරගත යුතු පිරිස්, ඒ ඒ වෙලාවල් සාකච්ඡා කරල තීරණය කරගෙන වැඩ පිළිවෙලක් කරගෙන යනවා. නිවන අරමුණු කරල තියෙන නිසා මේ වැඩ පිළිවෙල පුරාම මෙත්තා සහගත, කරුණා සහගත සති සම්බොජ්ජංගය වැඩෙනවා. මේ මේ දේවල් පූජා කිරීමේ ආනිසංස මේවයි, පෙර බුද්ධ සාසනවල මෙබඳු පින්කම් කළ අය මෙබඳු සම්පත් ලබල අන්තිමට මේ බුද්ධ සාසනයෙදි උතුම් අරිහත් ඵලය ලබල තියෙනවා .... ආදී වශයෙන් පින්කමට අදාල නොයෙකුත් ධර්ම සාකච්ඡා කිරීමෙන් ධම්ම විචය සම්බොජ්ජංගය වැඩෙනවා. දිවා රාත්‍රී නොබලා වෙහෙස වෙමින් වටතිර, මුතුකුඩ, අලංකාර නෙළුම් මල් ආදිය සකස් කරනවා. ඇත්තටම හිඟන්නෙක්ද නැත්නම් බොරුකාරයෙක්ද දන්නෙ නෑ කියල, හිඟන්නෙකුට පුංචි කාසියක් දෙන්නත් දෙසැරයක් හිතල බලන අය අතර, මෙබඳු පින්කම් කරන්න කිසිම අග හිඟයක් නෑ. ඒ ත්‍රිවිධ රත්නයේ අසීමිත ගුණ මහිමය නිසා.

එතකොට සමාධි සම්බොජ්ජංගය, විරිය සම්බොජ්ජංගය වැඩෙනවා. කාගෙ කාගෙත් හිතට සතුටු වෙන්න පුළුවන් ආකාරයෙන් පෙරහැර පවත්වල, කවුරුත් එකතු වෙලා තමන් කළ පින්කම සිහි කරල දෙවියන්ටත් පින් අනුමෝදන් කළාම ප්‍රීති සම්බොජ්ජංගය වැඩෙනවා. දැන් සිතත් සැහැල්ලුයි. කයටත් විවේකයි. පස්සද්ධි සම්බොජ්ජංගය වැඩෙනවා. ඒ පින්කමින් සාසන වැඩිහිටියන් නිවනට උපනිශ්‍රය වන සම්පත් උදාකර ගත්තා. ශ්‍රද්ධාව අඩු පිරිසට ශ්‍රද්ධාව වැඩි දියුණු කරගන්න අවස්ථාව ලැබුණා. චිත්ත ප්‍රසාදය ඇතිකරගත්ත නම්, සමහර දුගතිගාමී සත්වයන්ට දුගතියෙන් මිදෙන්න හැකියාව උදා කරල දුන්න වෙනවා. කොච්චර යහපතක් සිද්ධ වුනත් මෙහෙම කියන පිරිසකුත් ඉන්නවා. "ඕව කරල පුළුවන්ද නිවන් දකින්න ? ඕව ආමිස පූජා, දන්වත් ඕව අත් හැරල විදර්ශනා වඩන්න..." ඉතින් මොනව කරන්නද ? ඒ අයටත් කවදා හෝ නිවැරදි දහමට යොමු වෙන්න මේ පින හේතු වාසනා වේවා කියල පතනවා. ඒ සිතිවිල්ලෙන් කරුණා සහගත උපේක්ඛා සම්බොජ්ජංගය වැඩෙනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ:*

**ඩබ්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත**

# මග නොමග ....

**මෙලොවෙහි කිසිදු නොලබන දහමෙහි සරණ**
**දිවියෙහි දිවා රැය දුසිරිතෙහිම යෙදෙන**
**නිරයෙහි දැවෙන බව නොතකන දන අමන**
**සසරෙහි සරති කෙදිනක හමු වෙද නිවන**

**නොපනත් කමින් ලොව සත හට වින කටින**
**කවදත් පවට මිස පිනකට සිත නොයන**
**මැරුණත් කිමද කනු බොනු මිස යයි කියන**
**කවුරුත් වැටෙනු ඇත නිරයෙහි පසු මැරුණ**

**නිති කොලහල කරති සුරතෙහි ඇත අවිය**
**කැති පොලු මුගුරු ගෙන පෙන්වති බල සවිය**
**ගති තිරිසනුන් මෙනි කෙළෙසති මනු දිවිය**
**අති දුක්බර නිසයි ලියැවුනෙ මෙම කවිය**

**අව ගති නිසා හිමි මොවුනට සිපිරි ගෙයයි**
**පව බිහිසුනුය හිත ගත නිරතුරුව දවයි**
**භවයෙහි යළි යළිත් බලු ගව උපත ලබයි**
**තව දුක් ගොඩකි නෙක හිරි හැර ගැහැට විඳියි**

**සිරි සදහම් ඔසුව ගත යුතු නිසි පරිදී**
**හරි සුව සෙත ලැබේ මොහඳුර දුක පැරදී**
**අරි අට මගට ආ කල දහමට උරදී**
**සරි වෙයි නිවන සිත කය වචනය පැහැදී**

**රජෙකුට වුවද හැකි වෙද නොමැරී ඉන්න**
**කිසි විට නොහැක මරණය වළකා ලන්න**
**සත හට දෙසුව බණ දහමේ හැසිරෙන්න**
**එම විට හැකිය අම නිවනේ සැනසෙන්න**

පබැඳුම : පානදුරේ එස්.ඒ.එස්. පෙරේරා

# දහම් අවබෝධ මාත්‍රයක තියෙන මහා අනුහස...

ලෝකයේ තියෙන අසාරත්වය, අනාත බව අවබෝධ කර ගන්න තියෙන ශ්‍රී සද්ධර්මය අහල, ඒ පිළිබඳව මාත්‍රයක් හරි වටහ ගත්ත හුඟ දෙනෙකුට තියෙන ගැටළුවක් තමයි, බාහිර සමාජයට ගිහින් ලෝකයත් එක්ක වැඩ කටයුතු කරද්දි, තමන්ගෙ තිබ්බ්ච පරණ නරක පුරුදු නැවතත් ඉස්මතු වීම සහ ඒ මගින් අවැඩක් වෙයිද, අපාගත වෙයිද කියන බිය. ඒ කියන්නෙ බණ දහම් අහන මොහොතෙ කොච්චර සංවරව අවබෝධය ලබල හිටියත්, බාහිර සමාජයට ගියාම ඒ තත්ත්වය මතුපිටින් වෙනස් වෙන්න පුළුවන්. නමුත් ඒ වෙනස්වීම ගැන අපි මොනව හිතුවත්, මොන විදිහට වෙනස් වුනත්, ජීවිත කාලය තුළදීම එක වතාවක් හරි අහල ලබාගත්තු දහම් අවබෝධ මාත්‍රයක තියෙන මහා බලය, ඒ සියලු වෙනස්වීම් අභිබවා මරණ මොහොතෙදි නැගිල එනවා. ඒ තමයි මේ දහමෙ තියෙන මහා අනුහස. ඒ කියන්නෙ, අනුව භාවෙන ස්වභාවය.

හැබැයි මේ කියන්නෙ දහම් අවබෝධය මාත්‍රයක් හරි ලබපු අය ගැන මිසක්, දහම් දැනුම විතරක් ගොඩ ගහගෙන ඒ තුළින් රටේ ලෝකයේ මහා උගත්තු බවට පත් වෙච්ච අය ගැන නෙවෙයි. අවබෝධයයි, උගත්කමයි කියන්නෙ සම්පූර්ණයෙන්ම වෙනස් කාරණා 2 ක්. ඉස්සෙල්ලම එන අනුබෝධය කියන්නෙ, කිව්ව දේට අනුව තේරුම් ගත්තා කියන එක. ඊට පස්සෙ එන අවබෝධය කියන්නෙ බුද්ධියට ආවා කියන එක, තමන්ට තනියෙන් තේරුම් ගන්න හැකි වීම. ඊට පස්සෙ එන ප්‍රත්‍යක්ෂය කියන්නෙ අවිද්‍යාවෙන් ගොඩ නැගිච්ච හේතුව ක්ෂය කළා. ඒකෙන් මාර්ග ඵල ලබනවා. එතකොට කෙනෙක් ලබපු අවබෝධය, මැරි මැරී කොච්චර අත්බැව් ගණනක් ගියත් වැඩි වෙනව මිසක් නැති වෙන්නෙ හෝ ආපස්සට යන්නෙ නෑ. නමුත් කෙනෙක් අවබෝධයකින් තොරව, උගත්කම විතරක් මහා සාගරයක් වගේ දරාගෙන හිටියත්, මේ අත් භවයෙන් කෙළවර වෙලා ඊළඟ අත්භවයට යන කොට ඒ සේරම අමතකයි. මොකද උගත්කම කියන්නෙ අනුන්ගෙන් ගත්ත දෙයක්. ඒ නිසා තමයි කෙනෙක් පාලි සංස්කෘත, දහම් කතා ආදිය දැන ගෙන, ත්‍රිපිටකය කට පාඩම් කර ගෙන ලෝක සම්මතයේ ආචාර්ය මහාචාර්ය වෙලා හිටියත්, දහම් අවබෝධ මාත්‍රයක්වත් ලැබුවෙ නැත්නම්, මරණින් මතු චුති පටිසන්ධියෙදි සුගතියක් ගැන සහතික කරල කියන්න බැරි. මොකද අවබෝධයක් නැත්නම් ඒ සියලු දැනුම් සම්භාරයන්/ උගත්කම් අභිබවල තමන් ළඟ අභ්‍යන්තරයේ සැඟවිලා තියෙන දුෂ්චරිත ගතියක් නැගිල එන්න පුළුවන්. නමුත් ඒ කියන කිසිම උගත්කමක් නැතිව, මළ පොතේ අකුරක්වත් ලියා කියාගන්න බැරිව, දහම් අවබෝධය මාත්‍රයක් හරි ලබපු කෙනෙක්, මොන විදිහට ජීවත් වෙලා මොන විදිහට මැරෙන්න ගියත්, මැරෙන මොහොතෙදි ඒ මාත්‍රයෙන් ලබපු ගතිය



මහා බලවත් වෙලා ඇදිල ඇවිත් සුගතියක උප්පත්තියකට ගෙනියනවා.

එතකොට දැන් තියෙන ගැටළුව තමයි, එහෙම මාත්‍රයක හරි දහම් අවබෝධයක් ලබපු කෙනෙක්, බාහිර සමාජයට ගියාම නැවතත් පරණ නරක පුරුදු ඇදිල ඒම නිසා දුගතියකට පත් වෙන්නෙ නෑ කියන කාරණය කොහොමද ඔප්පු කරන්නෙ කියල. මේ කාරණය උදාහරණ උපමාවලින් පහදන්න පුළුවන්. අපේ ශරීරයේ ලෙඩ කරන යම් කිසි විසබීජයක් තියේ නම්, බාහිර පරිසරයේ තියෙන අපිරිසිදුතාවය නිසා ඒකට තව තවත් විසබීජ එකතු වෙන්න පුළුවන්. ඒකෙන් අපි ලෙඩ වෙන්න පුළුවන්. ඒ වගේ වෙලාවක අපි රෝහලකට ගිහින් විසබීජ නාශක බේතක් ගන්නවා. ඒ බේත අරගෙන අපි නැවතත් ගෙදර තියෙන බාහිර පරිසරයටම එනවා. හැබැයි දැන් ඒ බාහිර පරිසරයේ තියෙන විසබීජවලින් ශරීරය ලෙඩ කරන්න බෑ. ශරීරයේ ඒ විසබීජ ගැටුනත් කලින් වගේ හානියක් කරන්න බෑ. එතකොට ඒ පුංචි බේත ගිලින්න අපිට ගියේ තත්පර ගණනයි. හැබැයි ඒකෙන් එන විසබීජ නාශක ශක්තිය දවස් ගණනාවක්, සමහර විට මාස ගණනාවක් ශරීරය ඇතුලෙ වැඩ කරනවා. නමුත් ඒක අපිට පේන්නෙ නෑ. ඒ බේත ඉවර වෙන කොට අපි තවත් බේත් අරගෙන එනවා. විසබීජ නසන්න තියෙන ඒ බේත දෙන්නෙ පැය 8 න් 8 ට හෝ දවස් ගණනකට හෝ සැරයක් නම් ඒ සුළු මොහොතකින් දෙන බේතෙ ක්‍රියාකාරීත්වය කොච්චර කලක් නම් අපේ ශරීරයේ තියෙනවද ? කොච්චර නම් ඒකෙන් විසබීජ නසනවද ?

මේ ශ්‍රී සද්ධර්මය අහල අවබෝධ කර ගන්න කොටත් එහෙම දෙයක් සිද්ධ වෙනවා. දහම් ඖෂධය සියලු ඖෂධ අභිබවා මහා බලවත් වෙනව කියන්නෙ ඒකයි. අනෙක්වා ඒකෙන් කවද හරි මෙල්ල වෙනව මිසක් ඒ ඖෂධය අනික් ඒවායින් මෙල්ල කරන්න බෑ. අපි පුංචි බෙහෙත් පෙත්තක් ගිලල මුළු ශරීරයේම තියෙන විසබීජ ඒකට නතු කරගන්නව වගේ, මහා කෙළෙස් කන්දක් යට කරන්න පුළුවන් අප්‍රමාණ බලවත් ශක්තියක් දහම් ඖෂධවල තියෙනවා. ඒ තමයි මේ බණ අහන මොහොතක ගන්න ශක්තිය. අපි බේත් අරගෙන ගෙදර ගියාම බාහිර පරිසරයෙන් විසබීජ එකතු වෙනව වගේ තමයි, ඒ දහම් අවබෝධ මාත්‍රය අරගෙන නැවතත් බාහිර සමාජයට ගියාම පෙර තිබ්බ්ච ලෝභ, ද්වේස, මෝහ සහිත ගතිවලට මුහුණ දෙන්න සිද්ධ වීම. හැබැයි ඒවාට කවදාවත් ජය ගන්න බැරිව ඒ දහම් ඖෂධ ශක්තියම අභ්‍යන්තරයෙන් ප්‍රතිශක්තිකරණය වගේ වැඩෙනවා. වැඩිල මෝරන්න පටන් ගත්තම ඒකෙන් ඒ බාහිරින් එන ලෝභ, ද්වේස, මෝහ මැඩ පවත්වනවා.

මේකට තවත් හොඳ උදාහරණයක් ගත්තොත්, දූරියන් කියන පළතුර සමහර අයට හරි අප්පිරියයි. ජීවිතයේ පළමු වතාවට ඒ අය දූරියන් මදුලක් කන්නෙ බොහොම අමාරුවෙන් අප්පිරියාවෙන්. නැවතත් ඊළඟ ☞

වාරය එන කල් එක මදුලක්වත් කන්නෙ නෑ. හැබැයි දූන් ඊළඟ වාරෙදි දූරියන් හැදෙන කොට මදුලු 3 - 4 ක් අප්පිරියාවකින් තොරව කන්න පුළුවන්. ඒ වතාවෙදි 3 - 4 ක් කෑවට පස්සෙ තමයි අප්පිරිය වෙන්නෙ. ඔහොම ගිහින් ඊළඟ වතාව එන කොට අප්පිරියාවක් නැතිව මදුළු 10 ක් වුනත් කන්න පුළුවන්. එතකොට පළවෙනි වතාවෙදි තිබ්ච්ච අප්‍රියතාවය දෙවෙනි වතාවෙදි ටිකක් අඩු වුණා. ඊට පස්සෙ තුන් වෙනි වතාවෙදි තවත් ටිකක් අඩු වුණා. ඔහොම ගිහින් වාර දෙක තුනක් යන කොට ඒකට කිසි අප්පිරියාවක් නෑ. එතකොට වෙනසක් නැද්ද ? කාලයක් යන කොට මදුළු 10 ක් නෙවෙයි ගෙඩියක් වුනත් කන්න පුළුවන්. එතකොට මුලින්ම මදුලක් කාල ඊළඟ වාරය එන කල්ම කෑවෙ නෑ. නමුත් දූන් ඒ අප්පිරියාව ගිහින්. මේක අත්දකින්න තියෙන පැහැදිලි දෙයක්. එතකොට ඒ අප්පිරියාව නැති වෙලා ගියේ කොයි වෙලාවෙ මොනව අරගෙනද ? ඒක පෙන්වන්න පුළුවන්ද ?

අපි එක මොහොතක ගත්ත ප්‍රිය දෙයක් තිබුනොත් ඒක ඊළඟට වැඩෙන අතට ක්‍රියාත්මක වෙනවා. හොඳ නරක දෙපැත්තටම ඒක එහෙමයි. මනුස්සයො වුනාම හොඳ නරක දෙකටම ප්‍රිය කරනවා. මොනව හරි එක දවසක එක මොහොතක හරි කරපු දෙයක බල පිහිටීම කොයි ආකාරද කියල අපිට කියන්න බෑ. රූප, ශබ්ධ, ගන්ධ, රස, ස්පර්ශ කියන බාහිර ලෝකයෙන් ගන්න විවිධ අරමුණුවල බල විවිධාකාරයි. ඒවා පුද්ගලයන්ට බලපාන ආකාරයත් විවිධාකාරයි. සමහර විට එක සැරයක් ගත්ත දෙයක් මුල් කර ගෙන හිත අභ්‍යන්තරයේ ඊට අදාල ගති ලක්ෂණය වැඩෙන්න පුළුවන්. එහෙම ගිහින් කාලයක් යන කොට ඒක බලවත් වෙනවා. කර්ම ශක්තියේ ස්වභාවයත් එහෙමයි. දහම් ඖෂධවල ස්වභාවයත් ඒ වගේ තමයි. එක දවසක් බණ අහල ධර්මාවබෝධය මාත්‍රයක් හරි ලැබුව නම්, මුළු ජීවිත කාලය අවුරුදු 80 ක් හරි ජීවත් වෙලා, ඒ අවුරුදු 80 අවසානයේ ඒ මාත්‍රය තමයි නැගිල එන්නෙ. ඒක බලවත් වෙලා අනෙක් සියල්ල දෙවෙනි වෙනවා. කවදාවත් ඒ දහම් මාත්‍රය දෙවෙනි කරන්න බෑ. ධර්මයක් ශ්‍රවණය කරල මාත්‍රයක හරි අවබෝධයක් ලැබුව නම් ඒ ලබපු ශක්තිය, ඒකෙ පුණ්‍ය බලය, කුසල බලය එතැන් පටන් ජීවිත කාලය පුරාවටම ඇසුරට ගන්න දේකින් ඉවත් කරන්න බෑ, මැඩ පවත්වන්න බෑ. අවබෝධ මාත්‍රයක් මොහොතක් හරි ලැබුව නම් ඒ මාත්‍රය නැති වෙන්නෙ නෑ. ඒක හිත අභ්‍යන්තරයෙන් වර්ධනය වෙනවා. මොකද ඒ පුද්ගලයා ඊට පස්සෙ ඒ අවබෝධයට අනුව තමයි ලෝකය දකින්නෙ. ඒ පුද්ගලයා කවද හරි ආස්වාදයන් පොදි බැඳගෙන ගියත් අවසානයේ ප්‍රතිඵලය විදිහට ජරා මරණ එන කොට, ඒකෙ තියෙන දාහය එන කොට, අර දහම මතක් වෙනවා. එතකොට අවසාන මොහොතෙදි ඒකයි බලවත් වෙන්නෙ. ඒ තරම් බලයක් තියෙනවා.

එතකොට අපි ජීවිත කාලය තුළ පුරුදු (පුරුද්ද ගත් හෙවත් එකතු කරගත් දේවල්) පුහුණු කරපු ඒවාට මොකද වෙන්නෙ ? අපි යම් දුෂ්චරිතයක් පුරුදු පුහුණු කර ගත්ත නම් ඒ පුරුදු පුහුණු කිරීමේ හැකියාව දහම් අවබෝධය ලබපු තැන් පටන් බාල වෙන්න පටන් ගන්නවා. ඊට පස්සෙ ඒවා කැමැත්තෙන් බැඳෙන ස්වභාවයෙන් තොරව කරන තැනට තමයි හිත වැඩෙන්නෙ. මේ ලෝකයේ ස්වභාවය දහමක් අහල දූන ගන්න පෙර අපි කැමැත්තෙන් බැඳිල කරපු ඒවා, කැමැත්තෙන් බැඳිල කරපු දුෂ්චරිත, එතැන් පටන් කැමැත්තෙන් බැඳී හිටීමේ ස්වභාවයෙන් තොරව කරන තැනට පත් වෙනවා. ඒ කියන්නෙ පටි විරති හෙවත් බැඳීමට රතියක් / කැමැත්තක් නෑ. බැඳිල අල්ල ගෙන ඉන්න කැමැත්තක් නෑ. එතකොට ඒ අහපු දහම අහක් වෙන්නෙ නෑ. තමන් ඊට පස්සෙ මොන දුෂ්චරිතයක් කළත් ඒ දහම මතක් වෙනවා. ඒ දුෂ්චරිතයට, පෙර කැමැත්තෙන් බැඳිල තිබ්ච්ච ප්‍රිය භාවය නැති වෙනවා. ඊට පස්සෙ ඒක ප්‍රිය දෙයක් නමුත් කරන්නෙ කැමැත්තෙන් බැඳී හිටීමේ ස්වභාවයකින් තොරව. ''මේක නම් මහ භයානකයි, මේක නම් නරකටයි .... හොඳට වෙන්නෙ නෑ'' දූන් මේ විදිහට අදහස් ඇවිත් දෘෂ්ටි විප්‍රයුක්තවයි ඒ වගේ දුෂ්චරිතයක් කළත් කරන්නෙ. අපාගත වෙන මට්ටමට බලය තියෙන්නෙ ඒ වගේ දෙයක් දෘෂ්ටි සම්ප්‍රයුක්තව කළොත් තමයි. ඒ තමයි මිසදුටු ගතිය.

දහම් අවබෝධය මාත්‍රයක් හරි ලබපු කෙනා ඒ දෘෂ්ටිය නැතුවයි දුෂ්චරිතයක් වුනත් කරන්නෙ. එතකොට කරන ක්‍රියාවෙදි ඒකෙ සතර අපාගත වෙන්න තිබ්ච්ච බලය නැති වෙනවා. ඒ නිසා තමයි ඒ අවබෝධ මාත්‍රය ඒ තරම් බලවත් වෙන්නෙ. ඊට පස්සෙ මොන දුෂ්චරිතය කළත් පටිවිරතෝ හෝති හෙවත් කැමැත්තෙන් බැඳී සිටීමේ ස්වභාවයෙන් වෙන්වීම කියන කාරණයටයි වැටෙන්නෙ. සත්තු මරන්න, පෙර කැමැත්තක් තිබුන නම්, ඒ දහම් අවබෝධය ලබපු තැන් පටන් ඒ සඳහා කැමැත්තෙන් බැඳෙන්නෙ නැතිව යනවා. පෙර හොරකම් කරන්න කැමැත්තෙන් බැඳිල හිටිය නම්, සුරාවට කැමැත්තෙන් බැඳිල හිටිය නම්, දූන් ඒ සඳහා කැමැත්තෙන් බැඳීමේ ස්වභාවය නතර වෙනවා. හැබැයි ඒ වගේ දෙයක් කරන්න හේතු යෙදෙන්න පුළුවන්. නමුත් පටිවිරති හෙවත් බැඳෙන කැමැත්තෙන් තොරයි. උදාහරණ විදිහට සරකානි කියන ශාක්‍ය වංශිකයා බුදුන් වහන්සේගෙන් බණ අහල සෝතාපන්න වුනත් මැරෙන මොහොත වෙන කල්ම රා බොන පුරුද්ද අත් හැර ගන්න බැරි වුණා. ඒ වගේම කාම මිථ්‍යාචාරයට පෙර කැමැත්තෙන් බැඳිල හිටිය නම්, ඒ වෙලාවෙදි ඒකෙ කිසි ප්‍රශ්නයක් හෝ අසාධාරණයක් නෑ, හොඳ ආස්වාදයක් කියන අදහස තමයි එන්නෙ. හැබැයි දහම් අවබෝධය ලබපු තැන් පටන් ඒ අදහස නැතිව යනවා. නමුත් කාම ආස්වාදයට තියෙන බලාපොරොත්තුව නැති වෙන්නෙ නෑ. හැබැයි කලින් වගේ කැමත්තෙන් බැඳිල මහ වටින දෙයක් විදිහට හිතාගෙන නෙවෙයි කරන්නෙ. කැමැත්තෙන් බැඳී හිටීමකින් තොරව අසාර දෙයක් බව දූනගෙනයි කරන්නෙ. නමුත් දහම් අවබෝධය ලබන්න කලින් තිබුණෙ දෘෂ්ටි ගත වෙලා කැමැත්තෙන් බැඳීමක්. අවබෝධයෙන් පස්සෙ, මම වැරදි වැඩක් කළේ, මේක නම් නොහොබිනා වැඩක්, නොගැලපෙන දෙයක්, හරයක් නැති වැඩක්, මේකෙන් අහක් වෙන්න ඕන කියන අදහස තමන්ටම එනවා. ඒ අදහසමයි කොච්චරවත් එන්නෙ.

හැබැයි දහම් අවබෝධයක් නොලබපු අනෙක් අයට අදහස එන්නෙ එහෙම නෙවෙයි. '' අම්මෝ මට රාජ්ජයක් පහළ වුනා වගෙයි, ආයෙමත් ලබන්න තියේ නම් කොච්චර දෙයක්ද ?'' ඔය අදහසම තමයි කොච්චරවත් එන්නෙ. ඒකට මහා වටිනකමක් දෙනවා. ඒක වැරැද්දක්, වටින්නෙ නැති දෙයක් කියල පිළිගන්නෙ නෑ. නමුත් මේ දහම් අවබෝධය ලැබූ තැන් පටන්, ඒක වටින්නෙ නැති වැරදි දෙයක්, නොගැලපෙන දෙයක් කියන අදහස එනවා. ඒක තමයි කියන්නෙ, ඒ වගේ පුද්ගලයෙකුට ඒ ධර්මය හැඟවෙන්නෙ නෑ කියල. ඒ කියන්නෙ එතැන් පටන් තමන්ගෙ හිතට වරද වසං කරන්න බෑ. වරද වරද විදිහට තමන්ටම පේන්න පටන් ගන්නවා. ඒ වරද කරන එක වෙනම කාරණයක්. නමුත් වරදක් විදිහට දකිනවා. අයුක්තියක් තිබුනොත් ඒ පුද්ගලයට ඒක අයුක්තියක් කියල වැටහෙන්න පටන් ගන්නවා. වැටහිච්ච තැන් පටන් ඒක නොකළ යුතු දෙයක්, ඇයි මම මේව කරන්නෙ, මේක මට පාලනය කර ගන්න බැරිද ? .... ආදී වශයෙන් තමන්ටම අදහස් එන්න පටන් ගන්නවා. එතකොට ආයති සංවරයේ පිහිටනවා. ඊට පස්සෙ ඒ එන අදහස වළක්වන්න බෑ. එහෙම දෙයක් නොකෙරෙනව කියන එක නෙවෙයි මේ පෙන්වන්නෙ. එන්න එන්නම ඒ ☞

මොහොතේ පටන් දහම වැඩෙනවා. කාගෙන්වත් අහගන්න දෙයක් නෑ තමන්ටම වැටහෙනවා. පර ප්‍රත්‍ය රහිතයි කියන්නෙත් ඒකයි.

මූලික අවබෝධය ලැබුවට පස්සෙ නැවතත් කාගෙන්වත් ආධාරයක් ඕන නෑ. තමන් තමන්ටම උගන්වනවා. හරියට දහම් ගුරුවරයෙක් ඇසුරු කරනව වගේ. වරදක් දුෂ්චරිතයක් වෙන කොට තමන්ගෙ හිත තමන්ටම බනිනවා, තමන්ටම නිගරු කරන්න පටන් ගන්නවා. ඊට පස්සෙ කවුරුවත් කියල දෙන්න ඕන නෑ. ඒක තමයි දහම් ගුරුවරයා කියන්නෙ. හරියට දහම වැටහුනා නම් එතැන් පටන් වෙන්නෙ ඒකයි. ඊට පස්සෙ කවද හරි ඒකෙන් අත්දැකීමට තමයි එන්නෙ. ඒක වෙන කෙනෙක් කියන්න දෙයක් නෑ. කිව්වත් එකයි නැතත් එකයි. වැරදි වැඩක් කළොත් ඒක තමන්ට වැහෙන්නෙ, වසං වෙන්නෙ නෑ කිව්වෙත් ඒකයි. වරද වරද හැටියට දැකල හැම වෙලේම තමන්ගෙ මනස තමන්ටම දොස් කියනවා. ඊට පස්සෙ ඒ ප්‍රඥාව මුල් වෙච්ච මනසමයි නැගී නැගී තමන්ටම දොස් කියන්නෙ. එහෙම දොස් කියල වරද හදනවා. ''ඔය වැඩේ අත හැරපන්. ඕක වැරදියි. ඇයි තවත් කරන්නෙ ? උඹ මහ ගොනෙක්. මහ බූරුවෙක්. නීච වැඩ කරන්න එපා කාලකණ්ණියෝ ....'' ඔය විදිහට තමන්ටම අදහස් එන්න පටන් ගන්නවා. තමන්ට තමන්ම අභ්‍යන්තරයෙන් බැණ බැණ ඒ නීච අදහස් අත් හරිනවා. අත් හැරෙන්න අදහස එන කොට කොච්චර ශාන්තද, ප්‍රණීතද කියල තමන්ටම වැටහෙනවා. ඊට පස්සෙ කවුරුවත් උපදෙස් දෙන්න අවශ්‍ය නෑ. එහෙම ක්‍රමවේදයක් තියෙනවා. අත්දැකීම එන කොට තමයි අපිට ඕක තේරෙන්නෙ. ඇත්තටම තමන් ඇතුලෙ තමන්ට උපදෙස් දෙන්න කෙනෙක් ඉන්නව වගේ දැනෙන්න පටන් ගන්නවා. ඒ තමයි දහමෙ ස්වභාවය.

එතකොට දැන් මේ දහම් අහල අවබෝධය ලබන අය, තමන් මෙච්චර කලක් කරගෙන හිටපු රැකියා කටයුතු ආදියේ යෙදෙනවා. එතකොට බොහෝ කොටම බාහිර අරමුණුත් එක්ක ගැටෙන්න සිද්ධ වෙනවා. ලෝභ, දෝස, මෝහ ඇදිල එනවා. ඒවා ක්‍රියාවට නැංවෙන්නත් පුළුවන්. හැබැයි ඒත් දහම් අවබෝධය මාත්‍රයක් හරි ලබපු කෙනෙක් නම්, අනේ මට එහෙම අදහසක් ආවෙ නැත්නම් ...., එහෙම දෙයක් මම නොකිව්ව නම් ..., හිත වික්ෂිප්ත වෙන්නෙ නැත්නම් කොච්චර හොඳද ... කියල ඔහොම තමයි අන්තිමට අදහස එන්නෙ. තව ටික කලක් යන කොට, ඉතින් ඒ කාලෙ මගේ තිබ්බ්ච නොදැනුවත්කමට මම මේවා ප්‍රිය මනාපයෙන් ඇසුරු කළා නෙ ... ඒ වුනාට මේවායෙ ගන්න හරයක් නෑ නෙ... මේවා මහා භයානක දේවල් නෙ .... මේ සසරට බැඳෙන දේවල් නෙ .... මේ විදිහට තමන්ටම දහමින් උපදෙස් එනවා. ඒ උපදෙස්වලින් ඒ දෝසවලට පහර වදිනවා.

උදාහරණයක් විදිහට මහ ගහකට පොරෝ පහරක් වදින කොට ඒ ගහ එක පාරින් වැටෙන්නෙ නෑ. තල්ලු කළත් වැටෙන්නෙ නෑ. ගහ ලොකු නම් තව දහ පාරක් වැදුනත් වැටෙන්නෙ නෑ. හැබැයි ඔහොම වැදිල වැදිල ගිහින් අන්තිමට එක පාරක් ගැහුවත් ගහ කඩා වැටෙන තත්ත්වයක් එනවා. ඒ ගහට කොටල කොටල ඉවර වෙන කොට තවමත් ගහ කෙළින්. හැබැයි තව එක පාරයි ගහට උහුලන්න පුළුවන්. ඒ පාර ගහපු ගමන් ගහ කඩා වැටෙනවා. එහෙමයි ගහක් වුනත් කඩා වැටෙන්නෙ. අන්න ඒ වගේ ක්‍රමයක් මූලික දහම් අවබෝධය ලබපු අයටත් එනවා. ගහට පොරෝ පහර වදිනව වගේ තමයි දහම් අවබෝධය ලබපු කෙනාගෙ හිතටත් ධර්ම සට්ටනය වෙන්නෙ. ඒ නිසා දුෂ්චරිත අදහස් ආවත් ඒවාට කවදාවත් ජය ගන්න බෑ. එකින් එකට දහම වදිනවා. වැදිල වැදිල අර ගහ කඩා වැටෙන දවසක් එනව වගේ ඵලය ලැබෙන දවසක් එනවා. හැබැයි ඒක කොතැනදි කවදක වෙයිද කියල කියන්න බෑ. කොයි මොහොතක හරි වෙන්න පුළුවන්. ඒ තත්ත්වයට ආපු ගමන් ක්ෂණිකවම මේ ලෝකය වැඩක් නෑ, හරයක් නෑ, අසාරයි කියන අදහස එනවා. ඊට පස්සෙ වැටහෙනවා, පෙර තිබ්බ්ච ප්‍රශ්න දැන් ඉවරයි කියල. ඒ නිසා බාහිර අරමුණු ආව කියල ඒවාට දුක් වෙන්නවත්, මොනවත් විශේෂයෙන් කරන්නවත් අවශ්‍ය නෑ. අවබෝධයෙන් යුතුව තමන්ගෙ වැඩේ පුළුවන් මට්ටමින් කර ගෙන යන්නයි තියෙන්නෙ.

දැන් මේ කියන දහම් අවබෝධ මාත්‍රයක තියෙන මහා අනුහස පෙන්වන තැනක් ත්‍රිපිටක දහමේ එන <u>මහානාම සූත්‍රයේ</u> සඳහන් වෙනවා. මහානාම කුමාරයා හත් අවුරුද්දෙන් සෝවාන් වුණා. ඊට පස්සෙ විවාහ වෙලා ලෞකික කටයුතුවලට මැදිහත් වෙන්න වුනා. ඉතින් නොයෙක් අවස්ථාවල කඩ වීදිවලට, සාප්පුවලට, ඇත් හලට, අස් හලට යනවා. ඒ වගේ අවස්ථාවල නිතර නිතර රාග, ද්වේශ, මෝහ අදහස් එනවා. ඒ වෙලාවට ඔහුට, මේ අදහස් නිසා මම අපාගත වෙයිද කියල බයක් හිතෙනවා. ඉතින් මේ ගැන අහන්න බුදුන් වහන්සේ හමු වෙන්න ගිහින්, ස්වාමීනි මම මේ වගේ වෙලාවට ක්‍රියාත්මක වෙන්නෙ මෙහෙමයි, මම අපාගත වෙයිද කියල ඇහුවා. මහානාම බය වෙන්න එපා, බය වෙන්න එපා, ඔබට කවදාවත් එහෙම වෙන්නෙ නෑ, සත්‍යය දැක්ක කෙනෙක්, දර්ශන ඥානය පහළ වෙච්ච කෙනෙක් කවදාවත් අපාගත වෙන්නෙ නෑ කියල මහානාම කුමාරයගෙ සැකය දුරු වෙන්න උන් වහන්සේ තුන් වතාවක්ම ඒ විදිහට ප්‍රකාශ කළා.

ඊළඟට දුර තියෙන සල් ගස් දෙකක් පෙන්වල, මහානාම මම අර සල් ගස් දෙකට කිව්ව නම් ධර්මාවබෝධය ලබල තියෙනව කියල ඒ සල් ගස් දෙකත් අකාලයේ විනාස වෙන්නෙ නෑ, චිරාත් කාලයක් පවතිනවා. ඒ තරම් විශේෂත්වයක් තියෙනවා, ඉතින් මනුස්සයො ගැන කවර කතාද, මේක විස්වාස කරන්න කියල පෙන්වපු තැනක් තියෙනවා. හැබැයි මේ සල් ගස් දෙකට එහෙම කිව්වට, මේ කියන්නෙ ඒ ගස් දෙකේ හිටපු වෘක්ෂ දේවතාවන් සම්බන්ධයෙන් වෙන්න ඕන. ඒකයි ඒ ගස් දෙක මුල් කරල එහෙම කතාවක් කිව්වෙ. ඒ කාරණය පොතේ නැති වුනාට නැණ නුවණින් තේරුම් ගන්න ඕන. ඒ කියන්නෙ ඒ ගස් දෙකේ ඉන්න වෘක්ෂ අධිපති දේවතාවන් දහම් අවබෝධයක් ලැබුව නම් ඒ අනුහසින් ඒ ගස් දෙකවත් විනාස කරන්න බෑ. එහෙම නැතිව සල් ගහකට ධර්මාවබෝධයක් ලබන්න හිතක් නෑ. ඒ ගහේ හිටපු වෘක්ෂ දේවතාවන් මුල් කර ගෙන තමයි ඒ කතාව කියන්න ඇත්තෙ.

උදාහරණයක් විදිහට අපි සමාජයේ කතා බහ කරන කොට, මේ පණිවිඩය අර වලව්වට ගිහින් දෙන්න ... මේ පණිවිඩය රජ ගෙදරට කියන්න ... ආදී වශයෙන් කියනවා. ඒ කියන්නෙ ඒ වලව්ව ගැනවත්, රජ ගෙදර ගැනවත් නෙවෙයි, ඒවා නිකං ස්ථාන විතරයි. ඒ වලව්වෙ හෝ රජ ගෙදර ඉන්න පුද්ගලයින්ට කියන්න කියන එකයි මේ කියන්නෙ. අන්න ඒ වගේ දෙයක් තමයි මේ කියන්නෙ. මොකද ඒ ගස්වලත් වෘක්ෂ දේවතාවන්ගෙ විමන් තියෙනවා. ඒවායෙ තමයි ඒ අය වාසය කරන්නෙ. ඒ වගේ චන්ද්‍ර සූර්යන් බණ අහන්න ආවයි කියන්නෙ ඉර හඳ ආවයි කියන එක නෙවෙයි. චන්ද්‍ර මණ්ඩලයේ, සූර්ය මණ්ඩලයේ ඉන්නෙ චන්ද්‍ර සූර්ය දේවතාවන්. නමුත් කතාවට ඒ අයට චන්ද්‍රයා සූර්යා කියලත් කියනවා. මොකද ඒ අය ඒවායෙ වාසය කරන නිසා. ඉතින් සඳු දෙව් පුත්, ඉර දෙව් පුත් ආවයි කියන්නෙ ඉර හඳ බුදුන්ගෙන් බණ අහන්න ආවයි කියන එක නෙවෙයි. ඒ ග්‍රහ මණ්ඩලවල ඉන්න ග්‍රහ දේවතාවෙ තමයි එන්නෙ. මණ්ඩලයක් කියන්නෙ ග්‍රහ විමානයක්. ඒවත් එක්තරා පොදියකට සම්බන්ධ වෙච්ච ලෝක. ඒ වගේම කෙනෙක් නුග ගහකට හෝ මොකක් හරි ගහකට පූජාවක් තියනව නම්, ඒ

# සාසනික පැවිද්ද... 2

සාසනය තුල බාල, තරුණ, මහළු වයස්වල අය පැවිද්ද ලැබීම අතීතයේ වගේම වර්තමානයෙත් සිද්ධ වෙනවා. අනාගතයටත් එහෙමයි. ජීවිතයේ සැඳෑ සමයේ පැවිදි වන අය ''බුඩ්ඪ පබ්බජිත'' කියල හඳුන්වනවා. හුගක් වයස්ගත වෙලා පැවිදි වෙන අයට හිත, කය සකස් කර ගැනීම ඒ තරම් පහසු නෑ. ඒ වගේම අතීතයේ පටන් සාසනය තුල නොයෙක් අර්බුද, ගැටලු, අසමගිතාවයන් ඇති වෙන්න වයස් ගත අය සාසනයට ඇතුළුවීම හේතු වෙලා තියෙනවා. හැබැයි වයසට ගිහින් මහණ වෙන අය අතරත් කොටස් 2 ක් ඉන්නවා.

ඒ කියන්නෙ මොකුත් තේරුම් ගන්න බැරි මෝඩ අය වගේම නැණ නුවණින් යමක් කමක් තේරුම් ගන්න පුළුවන් ප්‍රඥාවන්ත අයත් ඉන්නවා. ඒ නිසා මේ කියන්නෙ ඒ වගේ ප්‍රඥාවන්ත බුඩ්ඪ පබ්බජිතයින් ගැන නෙවෙයි. මහළු වෙලා හරි කමක් නෑ ප්‍රඥාවන්ත නම්, ගුණවන්ත නම්, කායික මානසික නිරෝගිතාවය තියේ නම් ඒ අය පැවිදි වෙලා මහණ දම් පිරීම බොහොම වටිනවා. ඒ නිසා බුඩ්ඪ පබ්බජිතයන් පිළිබඳ බුදු රජාණන් වහන්සේ මේ විදිහට කාරණා 5 කින් පැහැදිලි කරල තියෙනවා. (අංගුත්තර නිකාය, පංචක නිපාත, නිවාරණ වග්ග, පඨම බුඩ්ඪ පබ්බජිත සූත්‍රය)

සුවච බුඩ්ඪ පබ්බජිතයන් දුර්ලභය. ගුරුවරයා වෙතින් මැනවින් ඉගෙන ගන්නා අය දුර්ලභය. ගුරුවරයාගේ අනුසාසනාවලට ගරු කරන, ඒවා මැනවින් පිළිගන්නා අය දුර්ලභය. ධර්ම කථික, විනයධර බුඩ්ඪ පබ්බජිතයන්ද දුර්ලභය. ගුරුවරයාට යටහත් පහත්ව වාසය කරන අය දුර්ලභය. මේ විදිහට දුර්ලභ කාරණා පහක් බුඩ්ඪ පබ්බජිතයන් ගැන දේශනා කරල තියෙනවා. තථාගතයන් වහන්සේ විසින් තවත් දේශනයකදි යහපත් ආකල්ප සම්පත් ඇති (භික්ෂුවගේ ඇවතුම් පැවතුම් කතා බහ ගමන බිමන ආදී සියලු ක්‍රියා කලාපයන්) බුඩ්ඪ පබ්බජිතයනුත් දුර්ලභ බව වදාරල තියෙනවා.



සාසනය තුල පැවිදි වෙන්න එන අය අතර නොයෙක් හේතුන් නිසා නොයෙක් අදහස්වලින් පැවිදි වෙන්න උත්සාහ කරන අය ඉන්නවා. තමන්ගෙ මව්පියන්, සහෝදර සහෝදරියන් සමග සමගියෙන් සමාදානයෙන් වාසය කරන්න බැරි සමහර නොහික්මුණු අය, අන්‍යයන් එක්ක සමගියෙන් වාසය කරන්න බැරි නිසාම පැවිදි වෙන්න උත්සාහ කරනවා. තවත් සමහරු බලාපොරොත්තු කඩවීම් නිසා හිත් වේදනාවට පත් වෙලා පැවිදි වෙන්න උත්සාහ කරනවා.

සමහරු යම් යම් උප්පත්ති දෝස නිසා, ඥාතීන් විසින් පිළිගැනීමක් නැතිව පහත් කරල සලකන නිසා පැවිදි වෙන්න උත්සාහ කරනවා. තවත් සමහරු සිවුරට මුවා වෙලා යම් යම් නොමනා අදහස් ඉටු කර ගැනීමේ අදහසින්, පැවිදි වීම ජීවත් වෙන්න පහසු මගක් කියල අදහස් කර ගෙන සාසනයට ඇතුල් වෙනවා. සමහරු තමන්ගෙ යම් කිසි අදහසක් ඉටු කර ගන්න දරුවන් සාසනයට බාර දෙනවා. ජීවමාන බුදු සමයේ ජීවක වෙද මහත්තය භික්ෂූන්ට නොමිලේ වෙදකම් කරපු නිසා, රෝගී පුද්ගලයන් තමන්ගෙ ලෙඩ සුව කර ගැනීමේ අදහසින් පැවිදි වෙලා රෝග සුව වුනාට පසු සිවුරු හැර ගිය අවස්ථාත් තියෙනවා.

නොයෙක් නොමනා අදහස්වලින් පැවිදි වෙන්න එන අය මහණ කළාම ගුරුවරුන්ට වගේම අන්‍ය භික්ෂූන්ටත් බොහෝ කරදර සිද්ධ වෙන්න ඉඩ තියෙනවා. ඒ වගේම විහාරාරාමවල දායක පිංවතුන්ටත් නොයෙක් ගැටලුකාරී තත්වයන් ඇති වෙන්න පුළුවන්.

සසර දුකින් මිදිල නිවන් දැකීමේ බලාපොරොත්තුවෙන්, ශ්‍රද්ධාවෙන් වගේ පැවිදි වෙන්න එන අය අතරත්, කිසිවෙකුට කීකරු නොවන ගුරුවරයාට පවා අකීකරු නොහික්මුණු පුද්ගලයන් ඉන්නවා. බුදුන් වහන්සේ ජීවමානව වැඩ සිටින කාලයේ සැරියුත් මහ රහතන් වහන්සේගෙ ගෝලයෙක් ආරාමයේ භාජන ආදිය බිඳල පන්සලටත් ගිනි තියල ගියපු කතාවක් තියෙනවා.

සසර දුකින් මිදිල නිවන් දැකීමේ අදහසින් පැවිදි වෙන්න එන අය අතරින් ඉවසීම, අන්‍යයන් හා සමගියෙන් ☞

---

තියන්නෙත් ඒ ගහේ ඉන්න අධිගෘහිත වෘක්ෂ දේවතාවන්ට මිසක් ගහට නෙවෙයි. නමුත් කතාවට කියන්නෙ නුග ගහට පූජාවක් තිව්ව කියල. බෝධි පූජා තියන කොටත් ඒ වගේ. බෝධීන් වහන්සේට පූජා තියන්නෙ බුදුන් වහන්සේ සිහි කරල. සාරා සංඛ්‍ය කල්ප ලක්ෂයක් පාරමිතා පුරල ඒ පාරමිතා ශක්තියෙන්, සහජාත ප්‍රත්‍යයෙන් තමයි ජයසිරි මහ බෝධීන් වහන්සේ පහළ වුණේ. එහෙම නැතිව නිකම්ම ගහක ඇටයකින්වත්, අතු කැල්ලකින්වත්, මුලකින්වත් නෙවෙයි. එතකොට ඒ විශේෂත්වය නිසා බුදුන් වහන්සේ මුල් කර ගෙන තමයි බෝධියට පූජා තියන්නෙ. මේ අනුසාරයෙන් සල් ගස් දෙකේ උපමාවත් තේරුම් ගන්න ඕන. ඉතින් මේ පරම දුර්ලභව කල්ප කාලාන්තරයකට පස්සෙ පහළ වන දහම අහල ගන්න අවබෝධය මාත්‍රයක තියෙන මහා අනුහසත් ඒ විදිහට තේරුම් ගන්න ඕන.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

වාසය කරන්න පුළුවන්, සාධාරණ අදහස් තියෙන, මෛත්‍රී කරුණා ගුණ තියෙන, ගුරුවරයාගේ අවවාද අනුසාසනා ආදරයෙන් පිළිගන්න, ගුරු ගෞරවය ගුරු භක්තිය තියෙන අවංක සත් පුරුෂයෝම පැවිදි කරන්න ඕන. එබඳු අය මේ සාසනයේ දියුණුවට පත් වෙන, සාසනය බබලවන උතුමන් බවට පත් වෙනවා.

සාසනයේ පැවිදි වෙන අය කුල දරුවන් විදිහට හඳුන්වනවා. ජාති කුල පුත්‍රයා සහ ආචාර කුල පුත්‍රයා වශයෙන් ඒකත් කොටස් දෙකක් තියෙනවා. උසස් කියල සම්මත වෙලා තියෙන කුලයක උපන් තැනැත්තා ජාති කුල පුත්‍රයෙක්. යහපත් ඇවතුම් පැවතුම් ඇති තැනැත්තා ආචාර කුල පුත්‍රයා විදිහට හැඳින්වෙනවා. සාසනය තුල පැවිදි කරන්න ඕන ආචාර කුල පුත්‍රයා. කුල කියන්නෙ කුල හෙවත් දහමට අනුකූල වන තැනැත්තා. ඒ තමයි නියම කුල පුත්‍රයා. ඒ නිසා ජාති කුල පුත්‍රයෙක් වුනත් ඒ කියන විදිහට දහමට අනුකූල නම් ආචාර කුල පුත්‍රයෙක් වෙනවා. බුද්ධ සාසනය තුල සම්මත ජාති, කුල, ආගම්, පක්‍ෂ භේද කිසිවක් නෑ. ඕනෑම ජාතියක, කුලයක, ආගමක කෙනෙකුට සාසනයේ දොරටු විවෘතයි. රජ, සිටු, මැති ඇමති ආදීන් වගේම සුනීත, සෝපාක වගේ කුල හීනයනුත් සාසනයට ඇතුල් වුනා. එහෙම ඇතුල් වෙලා උතුම් වූ මග ඵලත් ලැබුවා.

ගංගා, යමුනා, අචිරවතී, මහී ආදී ගංගාවෝ සයුරට පැමිණියම පළමු නම් ගොත් හැර දමා මහ මුහුද කියන නාමයට වැටෙනව වගේ ක්‍ෂත්‍රිය, බ්‍රාහ්මණ, වෛශ්‍ය, ශුද්‍ර කියන චතුර් වංශිකයෝ ගිහි ගෙයින් නික්මිලා තථාගතයන් වහන්සේ විසින් වදාල ධර්ම විනයේ අනගාරික පැවිදි තත්ත්වයට පත් වුනාම පළමු නම් ගොත් හැර ශ්‍රමණ ශාක්‍ය පුත්‍රයෝ කියන නාමයට වැටෙනවා.

සිවුර දරන්න සියලු දෙනාම සුදුස්සො නෙවෙයි. ඒ බව ඵුස්ස ථේර ගාථාවල වගේම ධම්ම පදයෙත් මේ විදිහට සඳහන් වෙනවා.

අනික්කසාවෝ කාසාවං
යෝ වත්ථං පරිදහෙස්සති
අපේතෝ දම සච්චේන
න සෝ කාසාව මරහති

**රාගාදී කෙලෙස් කහටවලින් යුක්ත, ඉන්ද්‍රිය දමනයක් නැති, සත්‍යවාදයෙන් තොරව යමෙක් කාසාය වස්ත්‍රය දරයි නම් ඔහු සිවුරට සුදුසු කෙනෙක් නොවේ.**

යෝච වන්ත කසාවස්ස
සීලේසු සුසමාහිතෝ
උපේතෝ දම සච්චේන
ස වේ කාසාව මරහති

**යමෙක් කෙලෙස් පහ කරමින් සීලයේ මැනවින් හික්මෙන ඉන්ද්‍රිය දමනයෙන් හා සත්‍යවාදයෙන් යුක්ත නම් ඔහු සිවුරට සුදුස්සෙකි.**

විප්පන්න සීලෝ දුම්මේධෝ
පාකටෝ කාම කාරියෝ
විබ්භන්ත චිත්තෝ නිස්සුක්කෝ
නසෝ කාසාව මරහති

**සීලය බිඳ ගෙන ඇත්නම්, සීලය පිරිසිදු කර ගැනීමට නුවණක් නැත්නම්, ඉන්ද්‍රිය සංවරත්‍වයක් නැත්නම්, සිතුනු සිතුනු දේවල් කරයි නම්, රූපාදී අරමුණුවල සිත විසිරෙයි නම්, යහපත් ධර්ම තමා තුල නැති ඔහු සිවුරට සුදුසු කෙනෙක් නොවේ.**

උද්ධතෝ උණ්ණතෝ බාලෝ
සීලං යස්ස න විජ්ජති
ඕදාතකං අරහති
කාසාවං කිං කරිස්සති

සිතේ සන්සුන්කමක් නැති, අතිමානයෙන් මත්ව නුවණ නැති යමෙකුට සිල් ගුණයක් නැත්නම් ඔහුට ගැලපෙන්නේ සුදු වස්ත්‍රයයි. කසාවත ඔහුට කුමක් කරන්නද ? ප්‍රයෝජනයක් නැත්තේමය. (මේ කියන්නෙ සුදු පාට වස්ත්‍ර ඇඳීම නෙවෙයි, ගිහි වතක් ගැන. ඒ කියන්නෙ සීලයක්, ගුණයක් නැත්නම් ගිහිව ඉන්නව මිසක් පැවිද්දට සුදුසු නෑ.)

උද්ධතෝ චපලෝ භික්ඛු
පාංශු කුලේන පාරුතෝ
කපීව සීහ චම්මේන
න සෝ තේනූප සෝභති

සංවර බාවයක් නැති චපල වූ භික්‍ෂුව පාංශුකුල සිවුරු පෙරෙව්වත්, සිංහ හමක් පෙරවපු වඳුරෙක් වගේ කියල මහා කස්සප ථේර ගාථාවක සඳහන් වෙනවා.

ඒ නිසා පැවිද්දා සිල් ගුණ ආරක්‍ෂා කරමින් ඉතා පරෙස්සමෙන් පැවිද්ද රැක ගන්නෙ නැත්නම්, මෙලොවත් පරිහානියට පත් වෙලා පරලොවත් විපතට වැටෙනවා. **අතීත බුද්ධ සාසනවල පැවිද්ද වරද්දා ගත් බොහෝ භික්‍ෂු, භික්‍ෂුණී, සාමණේර, සාමණේරී අය ගිනි ගත් පාත්‍ර සිවුරු ඇතිව දුක් අඳෝනා කියමින් ප්‍රේත අත්බැව්වල, දුගතිවල ඉපදිලා අප්‍රමාණ දුක් විඳින හැටි දිවැස්ලාභී උතුමන් දැකල තියෙන බව ධර්මයේ සඳහන් වෙනවා.**

කුසෝ යථා දුග්ගහිතෝ
හත්ථ මේවානුකන්තති
සාමඤ්ඤං දුප්පරාමට්ඨං
නිරයායුපක ඩ්ඪති (ධම්ම පදය)

**කුස තණ ගසක් වරදවා ඇල්ලීමෙන් අත කැපී විපතට පත් වන්නේ යම් සේද, වරදවා ගත් මහණකම ඇති තැනැත්තාත් නිරයට යන්නේය.**

රට්ඨපාල මහ රහතන් වහන්සේගේ චරිතය භික්‍ෂුන් වහන්සේලාට වගේම පැවිදි වෙන්න බලාපොරොත්තු වෙන අයටත් ඉතා වැදගත්. උන් වහන්සේ මහා ධනවත් සිටු පවුලක උපන් ලෞකික සම්පත්වලින් කිසි අඩුවක් නැතිව වාසය කරපු සිටු කුමාරයෙක්. දවසක් මේ තරුණ කුමාරයා තථාගතයන් වහන්සේගෙන් ධර්ම ශ්‍රවණය කරල, ලෝකයේ ඇති තතු මැනවින් වටහා ගෙන පැවිදි වෙන්න අදහස් කළා. නමුත් දෙමව්පියන්ගෙ තිබ්ච්ච බලවත් විරෝධය නිසා නොකා නොබී උපවාස කරල ඉතා අපහසුවෙන් පැවිදි බව ලබල නොබෝ දිනකින්ම සියලු කෙලෙසුන් නසල අරිහත්වයට පත් වුණා.

රට්ඨපාල හාමුදුරුවො දවසක් කෝරව්‍ය රජතුමාගෙ අඹ උයනෙ ගහක් යට වැඩ හිටපු වෙලාවෙ උයන්පල්ලා උන් වහන්සේ දකල ඒ බව රජතුමාට දැන්වුවා. මුන් වහන්සේ ඒ රටේ ප්‍රධාන සිටු පවුලේ හිටපු එකම පුතා බව දන්න රජතුමා ඉතා සතුටට පත් වෙලා උන් වහන්සේ ළඟට ගිහින් වන්දනා කරල පැත්තකින් වාඩි වුනා.

මේ ලෝකයේ ඇතැම් අය පිරිහීම් හතරක් නිසා සාසනයේ පැවිදි වෙන බව කෝරව්‍ය රජතුමා රට්ඨපාල හිමියන්ට පැහැදිලි කළා. ඒ පිරිහීම් හතර තමයි ජරාවෙන් පිරිහීම, ව්‍යාධියෙන් පිරිහීම, ඥාතීන්ගෙන් පිරිහීම, භෝග සම්පත්වලින් පිරිහීම. මේ කියන කරුණු හතරෙන් එකම පිරිහීමක්වත් ඔබ වහන්සේට නෑ. තවම භද්‍ර යෞවන වයසේ පසු වෙනවා. ඒ නිසා ඔබ වහන්සේගේ පැවිද්දට හේතුව මොකක්ද කියල රජතුමා ප්‍රශ්න කළා. ඒ අවස්ථාවෙදි රට්ඨපාල මහ රහතන් වහන්සේ රජතුමාගේ පැනයට මේ විදිහට පිළිතුරු දුන්නා. බුදු රජාණන් වහන්සේගේ ධර්මය අහල ඒ තුළින් කාරණා හතරක් අවබෝධ වීමෙන් සාසනයේ පැවිදි වුණා. ඒ කාරණා හතර තමයි මේ.

''උපනීයති ලෝකෝ අද්ධුවෝ'' මේ ලොව සියළු සත්වයෝම ජරා මරණ කරා රැගෙන යයි. ස්ථිරව පවතින කිසිවක් ලොව නොමැත. ''අත්තානෝ

ලෝකෝ අනභිස්සරෝ'' සත්‍වයාට ආරක්ෂාවක් පිහිටක් නැත්තේය. ''අස්සකෝ ලෝකෝ සබ්බං පහාය ගමනීය'' ලොව සියළු දේ අතහැර දමා සැමට පරලොව යාමට සිදු වේ. ''ඌනෝ ලෝකෝ අතිත්තෝ තණ්හා දාසෝ'' ලෝ වැසි සත හට කිසි දෙයකින් සෑහීමකට, තෘප්තියකට පත්වීමට නොහැකිව තණ්හාවේ දාසයන් බවට පත් වී ඇත.

බුදු පියාණන් වහන්සේ විසින් වදාල මේ ධර්මතා හතර අහල අවබෝධ කර ගෙන ගිහි ගෙයින් නික්මිලා පැවිදි වුනා කියල රජතුමාට පැහැදිලි කරමින් උන් වහන්සේ ධර්ම දේශනා කළා. දේශනාව අහපු රජතුමා අතිශයින්ම පැහැදීමට පත්වූ බව රට්ඨපාල සූත්‍රයේ සඳහන් වෙනවා.

මේ සාසනයේ පැවිදි වෙච්ච සියලු දෙනාම අවබෝධයෙන්ම පැවිදි වෙච්ච අය නොවන බව බුද්ධ කාලයේ සමහර සිදුවීම්වලින් පවා පැහැදිලි වෙනවා. තමන්ට ඉවසා දරා ගන්න බැරි දුක් කම්කටොළු නිසා, තවත් විවිධ කරණා හේතු කොට ගෙන පැවිදි වෙච්ච අය එදා වගේම අදත් ඉන්නවා. නමුත් එහෙම අය පවා පසුව ධර්මාවබෝධය කළ බව බුද්ධ කාලයේ කතාවලින් පැහැදිලි වෙනවා. ඒ නිසා සාසනයේ පැවිද්ද ලැබීම ඉතා වටිනා දෙයක් බවත්, ඒ සඳහා ඉතා සුළු පිරිසකට හේතු වාසනා තියෙන බවත් පැවිදි වෙන ප්‍රමාණයෙන් පැහැදිලි වෙනවා. ලංකාවේ ජනගහනය කෝටි දෙකකට ආසන්න වුනත්, පැවිදි වෙච්ච භික්ෂූන් වහන්සේලා ඉන්නෙ තිස් දහසකටත් අඩු ප්‍රමාණයක්.

### පැවිද්ද ලබන ආකාරය

මුල් කාලයෙදි එක් උපාධ්‍යායන් වහන්සේ නමකට තෙරුණුවන් දෙන්නෙක් හදන්න අවසර තිබුණෙ නෑ. පසුව ඒ නීතිය වෙනස් වුනා. සද්ධිවිහාරිකයන් (ගෝලයින්) දුෂ් ප්‍රතිපත්තිවල යෙදුනම ඔවුන්ට දඬුවම් (සිවුරු හරවන්න පවා) නියම කළා. උපාධ්‍යායන් නැති අවස්ථාවක ආචාර්යවරුන් ළඟට යන්නත්, ඒ දෙන්නම නැති වෙලාවක අනික් ඇදුරෙක් සොයා ගන්නත් ඉඩ සලසල තියෙනවා. ඒ විදිහට උපසම්පදාව ලබල වස් දහයක් ගත වෙන කල් ශිෂ්‍යයෙක් පැවිදි නොකළ යුතු බවත්, දසවස් සම්පූර්ණ වුනත් ව්‍යක්ත, බහුශ්‍රැත නෙවෙයි නම්, විනය ධර්මයන් වටහා ගැනීමේ අපොහොසත් නම් ශිෂ්‍යයෙක් හදන්න බැරි බවත් සඳහන් වෙනවා.

මේ විදිහට කාලය ගෙවිල යද්දි පැවිද්ද පිළිබඳ මනා පිළිවෙලක් සකස් කෙරුණා. ඒ නිසා හිතුමතේ කටයුතු කරන්න බැරි වුනා. පැවිදි වෙන්න බලාපොරොත්තු වෙන පුද්ගලයා වෙනුවෙන් කළ යුතු මුල්ම ක්‍රියාව විදිහට සඳහන් වෙන්නෙ ''භණ්ඩු කර්මය''. ඒ කියන්නෙ හිස කෙස් කැපීම. සංඝ ස්ථවිරයන් වහන්සේ ලවා කෙස් රොදක් කප්පවා ගෙන ඒක ඔහුගෙ අතේ තියල තච පංචකය (කේසා, ලෝමා, නඛා, දන්තා, තචෝ) පැහැදිලි කරල දීල හිස බෑම කරන්න ඕන. ඒක ඉතා උසස් අවස්ථාවක්. ජීවිතයේ ප්‍රධානතම සන්ධිස්ථානයක්. ජීවිතයේ අමතක නොකළ යුතු සිද්ධියක්. ඒ වගේම පැවිදි වෙන කෙනාගෙ සිත ඉතාමත් ප්‍රසන්න මොහොතක්. සමහර වාසනාවන්ත කුල දරුවන් ඒකම



කර්මස්ථානය විදිහට වැඩීමෙන් බර ගෙහිදීම (හිස බාද්දිම) රහත් භාවයට පත්වීමෙන් ඒ කාරණයේ ශ්‍රේෂ්ඨත්වය තේරුම් ගන්න පුළුවන්. මිහිඳු මහ රහතන් වහන්සේ හිස බාද්දිම රහත් වෙච්ච උතුමෙක් බව සාසන ඉතිහාසයේ සඳහන් වෙනවා.

ඉහතින් සඳහන් කළ ආකාරයෙන් හිස රැවුල් බෑවට පස්සෙ, කහ සඳුන් මිශ්‍ර ජලයෙන් නාවල සුදු වතක් අන්දවල මහා සංඝයා වැඩ සිටින තැනට රැගෙනවිත් දෙමාපිය වැඩිහිටියන්ට වන්දවල, ගුරු උපාධ්‍යායන්ට නමස්කාර කරවල මල් දෑහත් ගොටුවක් පිළිගන්වල පසඟ පිහිටුවා තුන් වරක් වැඳල, අත් පස දී (තමන්ගෙ ආසන්නයෙන්) සිවුරු කට්ටලය අතට දීල උක්කුටිකයෙන් ඉඳගෙන

ඕකාස අහං භන්තේ පබ්බජ්ජං යාචාමි
දුතියම්පි අහං භන්තේ පබ්බජ්ජං යාචාමි
තතියම්පි අහං භන්තේ පබ්බජ්ජං යාචාමි

කියල තුන් වතාවක් කියල ඉන් අනතුරුව,

''සබ්බ දුක්ඛ නිස්සරණ නිබ්බාණ සච්ඡිකරණත්ථාය ඉමං කාසාවං ගහෙත්වා පබ්බාජේථ මං භන්තේ අනුකම්පං උපාදාය'' දුතියම්පි ... තතියම්පි ... වශයෙන් තුන් වරක් කියන්න ඕන. මෙයින් කියවෙන්නෙ සියළු දුක් නැති කරල නිවන් අවබෝධ කර ගැනීම පිණිස මේ සිවුරු ටික රැගෙන අනුකම්පාවෙන් මාව පැවිදි කරන්න කියල.

මේ විදිහට ප්‍රකාශ කරල තමන් අත තියෙන සිවුරු ටික උපාධ්‍යායන් වහන්සේ වෙත පිළිගන්වල නැවත මේ විදිහට ප්‍රකාශ කරන්න ඕන.

''සබ්බ දුක්ඛ නිස්සරණ නිබ්බාණ සච්ඡිකරණත්ථාය ඒතං කාසාවං දත්වා පබ්බාජේථ මං භන්තේ අනුකම්පං උපාදාය'' (සියළු දුක් නැති කරල නිවන් අවබෝධ කර ගැනීම පිණිස ඔබ වහන්සේ අත ඇති සිවුරු ටික මට දී අනුකම්පා කර පැවිදි කරන්න)

මේ විදිහට තුන් වරක් කියෙව්වට පස්සෙ උපාධ්‍යායන් වහන්සේ විසින් සිවුරු කට්ටලය ප්‍රව්‍රජ්‍යාපේක්ෂකයාගේ දෙඅත මත තියල සිවුරු පටිය බෙල්ලෙ බඳින කොට ''පටිසංඛා යෝනිසෝ චීවරං පටිසේවාමි'' ආදී චීවර ප්‍රත්‍යවේක්ෂාව (සිවුර අඳින්නෙ මොකටද කියන කාරණය) කියවන්න ඕන. අනතුරුව ඔහුගෙ දෙඅත් අල්ල ගෙන ''කේසා, ලෝමා, නඛා, දන්තා, තචෝ - තචෝ, දන්තා, නඛා, ලෝමා, කේසා'' කියල අනුලෝම ප්‍රතිලෝම වශයෙන් සුදුසු තැනකදි චීවර ප්‍රත්‍යවේක්ෂාව සිහි ගන්වමින් (පටිසංඛා යෝනිසෝ චීවරං ....) සිවුරු ඇඳල පෙරව ගෙන අනතුරුව මහා සංඝයා මධ්‍යයට පමුණුවල උපාධ්‍යායන් වහන්සේ ඉදිරියේ පත්කඩ එලල පසඟ පිහිටුවල වැඳල දොහොත් මුදුන් තියල සාමණේර දස සීලය මේ විදිහට ඉල්ලා සිටින්න ඕන.

''ඕකාස අහං භන්තේ තිසරණේන සද්ධිං පබ්බජ්ජා දස සීලං ධම්මං යාචාමි අනුග්ගහං කත්වා සීලං දේථ මේ භන්තේ'' දුතියම්පි, තතියම්පි වශයෙන් තුන් වරක් ආයාචනා කරල නමස්කාරය තුන් වරක් කියෙව්වට පස්සෙ උපාධ්‍යායන් වහන්සේත් නමස්කාරය කියල ☞

මකාරාන්ත ක්‍රමයට (''ම්'' අගට කියවෙන ආකාරයට) සරණා ගමන පද වෙන වෙනම කියන්න ඕන.

බුද්ධම් සරණම් ගච්ඡාමි, ධම්මම් සරණම් ගච්ඡාමි, සංඝම් සරණම් ගච්ඡාමි, දුතියම්පි ... තතියම්පි ... වශයෙන් කියවල නැවත නිග්ගහීත ආකාරයට, (බින්දුව අගට කියවෙන ආකාරයට. ඒ කියන්නෙ බුද්ධං සරණං ... ධම්මං සරණං .... ආදී වශයෙන්) සරණාගමනය සමාදන් කරන්න ඕන. මේ විදිහට උභතෝ පාරිශුද්ධියෙන් පැවිද්ද පිහිටියම සාමණේර දස සීලයේ පිහිටුවීමෙන් පැවිදි කිරීම සම්පූර්ණ වෙනවා. ''ම්'' අකුර කියවෙන්නෙ නැති සමහර අයට ඒකෙන් දෝසයක් එන්න පුළුවන් නිසා තමයි අගට ''ං'' යොදල ඒ විදිහටත් කියන්නෙ. එතකොට දෙපැත්තෙන් කොයි පැත්තකින් හරි කියවිලා පාරිශුද්ධිය ලැබෙන නිසා සාම්ප්‍රදායක් හැටියට මේ ආකාර දෙකටම කියනවා.

කෙනෙකුට සසුන් ගත වෙන්න පුළුවන්, තවත් සසුන්ගත වෙච්ච අයගෙ මාර්ගයෙන්මයි. කොච්චර සිල්වතෙක්, ගුණවතෙක් වුනත් පැවිදි වෙන්න සසුන්ගත වෙලා ඉන්න භික්ෂුවක් අතරින් උපසම්පදාවෙන් වස් දහයකට වැඩි ආචාර්ය උපාධ්‍යායන් වහන්සේ කෙනෙකුගෙන් පැවිද්ද ලබා ගන්න ඕන. එහෙම නැතිව සසුන් ගත වෙන්න කිසිම මගක් නෑ.

සාසනයට ඇතුළු වෙච්ච සාමණේර භික්ෂුවකට දස සීලය, දස පාරාජිකා, දස නාසනා (නැසෙන අර්ථයෙන්), දස දඬුවම් වත්, සේඛියා (හික්මීම), නියමිත වත් අයිති වෙනවා. ''සුක්ක විසට්ඨි ආදී ලෝක වජ්ජ සික්ඛාපදේසුච සාමණේරේහි වත්ති තබ්බං'' කියල දක්වෙන ධාතු මෝචනාදී .... වශයෙන් උපසම්පදා භික්ෂූන්ට පනවා වදාල සික්ෂා, සාමණේරයන් විසිනුත් ආරක්ෂා කරන්න ඕන.

තථාගතයන් වහන්සේ විසින් සාමණේරයන්ට අනුදැන වදාල සික්ෂා පද දහය තමයි සාමණේර සීලය වෙන්නෙ. ඒකට දස සික්ෂා කියලත් කියනවා. ඊළඟට සාමණේර පැවිද්දට පාරාජිකා දහයක් පනවල තියෙනවා. ඒවායින් ප්‍රාණඝාතය, සොරකම, අබ්‍රහ්ම චරියාව, මුසාවාදය, මත්ද්‍රව්‍ය භාවිතය, බුදුන්ගේ අගුණ කීම, ධර්මයේ අගුණ කීම, සංඝයාගේ අගුණ කීම, මිච්ඡා දිට්ඨික වීම, භික්ෂුණී දූෂණය කියන මේ කරුණු පාරාජිකා වෙනවා. මෙයින් එකක් හෝ සිදුවුනොත් සාමණේර භික්ෂුවගෙ පැවිදි බව අහෝසි වෙනවා. කලින් ලබල තිබ්බ්ච සෙනසුනත් නැති වෙනවා. වස් සමාදන් වෙච්ච කාලයක නම් ඒකත් කැඩෙනවා. ඔහුට ඉතිරි වෙන්නෙ ශ්‍රමණ ලිංගය විතරයි. ඒ කියන්නෙ ශ්‍රමණ වේශය විතරයි.

උපසම්පදා භික්ෂුවක් සතර පාරාජිකා වුනොත් (ධ්‍යාන මගඵල ආදී නැති ගුණ ප්‍රකාශ කිරීම, මනුෂ්‍ය ඝාතනය, කාම මෛථුනය, අදත්තාදානය) මුල කැඩී ගිය තල් ගහක් නැවත හැදෙන්නෙ නෑ වගේ ප්‍රකෘති තත්වයට පත් කරන්න බෑ. ඔහුට ඒ වෙච්ච වරද සංඝයාට දන්වල සාමණේර භික්ෂුවක් විදිහට ඉන්න පුළුවන්. ඒක ආර්ය මාර්ගය වඩා ගන්න බාධාවක් වෙන්නෙ නෑ. පාරාජිකා වෙලා උපසම්පදා භික්ෂුවක් විදිහට සංඝයා මැද පෙනී සිටීම ඉතා අනතුරුදායකයි.

හැබැයි සාමණේර භික්ෂුවක් පාරාජිකා වුණත් ඒක නැවත සකස් කර ගන්න පුළුවන්. නැවත සංවරත්වයේ පිහිටීමට කැමති නම් සරණ සමාදානය සහ සික්ෂා පද සමාදානයේ පිහිටන්න ඕන. නැවත නැවතත් හික්මීමක් නැතිව වරද කරනව නම් සංඝයාට දන්වල සිවුරු ගලවල සසුනෙන් බැහැර කරන්න ඕන. නැවත පසු කාලයක හෝ හික්මිලා පැවිද්ද ඉල්ලා පැමිණියොත් සංඝයාට දන්වල පැවිදි කරන්න පුළුවන්.

බුදුන්ගේ අගුණ කීම, ධර්මයේ අගුණ කීම, සංඝයාගේ අගුණ කීම කියන මේ තුනෙන් යම් කිසිවක් කරනව නම්, එසේ නොකරන ලෙස අවවාද කරන්න ඕන. සාමණේර භික්ෂුව ඒ අවවාදවලට හික්මෙනව නම් සංඝයා මැද වරද ප්‍රකාශ කරල නැවත සරණාගමනය සහ දස සීලයේ පිහිටුවන්න ඕන. නැවත නැවතත් ඒ වරද කරනව නම්, තමන්ගෙ ලබ්ධිය අත් හරින්නෙ නැත්නම් සිවුරු ගලවල යවන්න ඕන. මිසදිටු ගැනීම පිළිබඳ පිළිපැදිය යුත්තෙත් මේ ක්‍රමයමයි.

භික්ෂුණී දූෂණය මහා බරපතල වරදක්. ඒ වගේ දෙයක් කරපු සාමණේර භික්ෂුවට නැවත පැවිද්ද හා උපසම්පදාව ලබන්න බෑ. ඔහු සිවුරු ගලවල යවන්න ඕන. ගිහි ජීවිතයක ඉන්න කෙනෙක් ගිහි භූමියේ ඉඳගෙන භික්ෂුණියක් දූෂණය කළොත් මේ භවයෙදි සාසනයේ පැවිදි වෙන්න අභව්‍ය පුද්ගලයෙක් වෙනවා. භික්ෂුණී දූෂණය අබ්‍රහ්ම චරියාවටම අයත් වෙලා තියෙද්දිත්, මේ විදිහට වෙන් වෙච්ච පාරාජිකාවක් විදිහට වදාරල තියෙන්නෙ ඒක බරපතල කාරණයක් නිසා. උප්පලවණ්ණා මෙහෙණිය දූෂණය කරපු නන්ද මානවකයා පණ පිටින්ම අපාගත වීමෙන් ඒකෙ තියෙන බරපතලකම කොච්චරද කියල පැහැදිලියි.

සාමණේර භික්ෂූන් කරන වැරදිවලට දඬුවම් ක්‍රමත් විනයේ සඳහන් වෙනවා. භික්ෂූන්ට අලාභය පිණිස කටයුතු කරන, භික්ෂූන්ට අනර්ථය පිණිස කටයුතු කරන, භික්ෂූන්ට ආරාමවල වාසය කිරීමට නොහැකි වන ආකාරයට කටයුතු කරන, භික්ෂූන්ට ආක්‍රෝස පරිබව කරන, භික්ෂූන්ගේ සමගිය නැති කරල භේද බින්න කරන මේ කරුණුවලට සාමණේර භික්ෂුවට දඬුවම් කරන්න ඕන. මේ අංග පහෙන් යුක්ත සාමණේර භික්ෂුවට දඬුවම් කරන්න බුදුන් වහන්සේ අනුදැන වදාරල තියෙනවා. මේ වැරදිවලට අවවාද කළත් හික්මෙන්නෙ නැත්නම් ආරාමයෙන් එළවල දාන්න ඕන.

නැටුම් ගැයුම් වැයුම්, විසුළු දර්ශන, මල් ගඳ විලවුන් දැරීම, උස් අසුන් මහ අසුන් පරිහරණය කිරීම, රන් රිදී මසු කහවනු පිළිගැනීම (මේ කියන්නෙ සාසනය උදෙසා පිළිගැනීම නෙවෙයි පුද්ගලිකව පිළිගැනීම) කියන වැරදිවලට දඬුවම් වශයෙන් බෝමලු, චෛත්‍ය මලු ආදියට වැලි ඇද්දවීම, දරදිය ඇද්දවීම වගේ දඬුවම් දිය යුතු බව විනය අටුවාවේ සඳහන් වෙනවා. උපසම්පදා භික්ෂූන්ගේ වැරදි සඳහා පබ්බාජනීය කර්මය, උක්ෂේපනීය කර්මය, පටිසාරණීය කර්මය, බ්‍රහ්ම දණ්ඩය වගේ විනය කර්ම තුලින් දඬුවම් දෙන ක්‍රම තියෙනවා. හැබැයි ඉතින් මේ කියන වැරදිවල, සම්මත පරමාර්ථ කියල අර්ථ 2 ක් තියෙන බවත් තේරුම් ගන්න ඕන.

තථාගතයන් වහන්සේගේ අවවාද අනුසාසනාවලට පවා නොහික්මුණු ඡන්න භික්ෂුවට, උන් වහන්සේගේ ඇවෑමෙන් බ්‍රහ්ම දණ්ඩය දිය යුතු බව අනුදැන වදාළා. ලංකාවේ වළගම්බා රජතුමා දමිලයන් එක්ක සටන් කරල පැරදිලා වනගත වුනාම, මහා විහාරවාසී තිස්ස කියන භික්ෂුව පිඬුසිඟා ගිහින් රජ පවුල පෝෂණය කරපු නිසා, කුලයන්හි ඇලී වාසය කිරීමේ වරදට විනය කර්මයකින් මහා විහාරයෙන් නෙරපුවා. මේකට විරුද්ධ වෙච්ච තිස්ස භික්ෂුවගෙ ගෝලයාටත් වරද පිළි නොගැනීම නිසා උක්ෂේපනීය කර්මය කරල මහා විහාරයෙන් නෙරපල දැම්මා. මේ ක්‍රමයට සාමණේර, උපසම්පදා සියළු භික්ෂූන්ට වරදට දඬුවම් විනයේ පෙන්වා තියෙනවා.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල**

**අභයරතනාලංකාරය - 50**

# කාශ්‍යප බුදුන් වහන්සේ මුණ ගැසී ලබාගත් ආශිර්වාදය ...



*(පසුගිය කලාපයෙන් - බුද්ධාන්තර 10 කට පෙර පහළ වූ සිද්ධාර්ථ බුදුන් කල හට ගත් පැතුම....)*

**- වහරක අභයරතනාලංකාර හිමි**

ලොවිතුරා බුදුන් වහන්සේ නමක් ලෝකයට පහළ වෙලා නිවන් දකින දහම මතු කරල පිරිනිවන් පාල, කාලයක් යන කොට යටපත් වෙලා යන සාසනය නැවත නගා සිටුවන්න වහරක අභයරතනාලංකාර හිමියන්ට පැතුමක් හට ගත් හැටිත්, සසර ගමන යන අතරමග මුණ ගැහුණු බුදු පියාණන් වහන්සේලාගෙන් ඒ සඳහා ආශිර්වාද ලැබුණු හැටිත් මීට පෙර හෙළිදරව් කළා.

ගෞතම බුදුන් වහන්සේ කියන්නෙ ප්‍රඥා අධික බුදුවරයෙක්. ප්‍රඥා අධික බුදුවරුන්ගෙ බුද්ධ සාසනය පවතින කාලය උන් වහන්සේලාගේ ආයුස අනුව වෙනස් වෙනවා. පරමායුස අඩු කාලයක බුදුන් වහන්සේ නමක් පහල වුනොත් උන් වහන්සේගෙ පිරිනිවීමත් සමග සාසනය අතුරුදන් වෙන්නෙ නෑ. උන් වහන්සේගෙම සාසනයේ පෙරුම් පුරාගෙන එන ශ්‍රාවකයින් විසින් සාසනය යටපත් වෙන අතර මගදි නැවත මතු කරල දෙනවා. ඒ කියන්නෙ සාසනය තවත් කලක් ශ්‍රාවකයන්ගෙන් පැවත යනවා.

ගෞතම බුදුන් වහන්සේ පහළ වෙන කාලයේ පරමායුස අවුරුදු 120 යි. ප්‍රඥා අධික නිසා ඒ කාලය තුළ සැහෙන පිරිසක් නිවන් දැක්කා. මොකද ප්‍රඥා අධික නිසා ගමන ඉක්මන්. හේතු වාසනා තියෙන ඉතිරි අයට නිවන් දකින්න තමයි තවත් කාලයක් යනකල් සාසනය පවතිනව කියල කියන්නෙ. ගෞතම බුද්ධ සාසනයේ ඉතිහාසය දෙස බලන කොටත් ඒ කාරණය තහවුරු වෙනවා. ඉතින් මේ වෙන කොටත් තමන්ගෙ සාසනික සේවාව ඉටු කර ගෙන යන වහරක අභයරතනාලංකාර හිමියන්, දීපංකර බුදුන් වහන්සේගෙ පාමුල සුමේධ තාපසතුමා විවරණ ගත් තැන් පටන් යම් කිසි පැතුමක් පතන්න ඕන කියන අදහසේ ඉඳගෙන සසර ගමන ඇවිත්, මීට බුද්ධාන්තර 10 කට පෙර පහළ වූ සිද්ධාර්ථ බුදුන් වහන්සේගෙන් ඒ පැතුම ඉටු වන බවට ආශිර්වාදාත්මක ශ්‍රාවක විවරණයක් ලබාගත් හැටිත් මීට කලින් හෙළිදරව් කළා.

ඒ වගේම උන් වහන්සේ මේ භව රෝගයෙන් පෙළෙන ලෝක සත්වයින්ට දහම් ඖෂධ දෙන ගමන්, මනුස්සයින්ට ඇති වන කායික මානසික ලෙඩ රෝග සඳහාත් සමාධියෙන් යම් යම් බෙහෙත් ඖෂධ වර්ග මතු කිරීම ගිහි කාලයේ පටන්ම සිද්ධ කරල තියෙනවා. ඒ සමහරක් බෙහෙත් දැනටමත් මේ සඟරාවෙ පළ කරල තියෙනවා. විශේෂයෙන් මේ වෙන කොට පුස්කොළ පොත්වල පවා නැති බොහොම දුර්ලභ ගනයේ ප්‍රත්‍යක්ෂ ප්‍රතිකාර ක්‍රම, ඖෂධ වර්ග උන් වහන්සේ විසින් ගිහි කාලයේ පටන්ම හඳුන්වා දීල තියෙනවා. එතකොට ඒ හැකියාවත් අද ඊයෙ ආපු එකක් නෙවෙයි. ඒකටත් හේතුවක් තියෙනවා. අද වෙන කොට ප්‍රධාන වශයෙන් භව රෝගයටත්, ඊට අමතරව සසර ගමන යන කොට කයට ඇති වන විවිධ ආබාධ සඳහා ඖෂධ ප්‍රතිකාර කරන්නත් උන් වහන්සේට ඒ හැකියාව ලබන්න, සිද්ධාර්ථ බුදුන් වහන්සේගෙන් පසු පහළ වූ තවත් බුදුන් වහන්සේ නමකගේ මුණ ගැසීම හේතු වෙලා තියෙනවා. උන් වහන්සේ විස්තර කරපු ඒ සිදුවීම තමයි මේ. හැබැයි මේ දැනට උන් වහන්සේගෙ සමාධියට හසු වෙච්ච බුදු පියාණන් වහන්සේලා කිහිප නමකගේ මුණ ගැසීම විතරයි හෙළිදරව් කළේ. ඊට අමතරව මේ සසර ගමනෙදි මේ වගේ තවත් බුදු පියාණන් වහන්සේලා මුණ ගැසී ඇති බවත් උන් වහන්සේ පවසනවා.

කාශ්‍යප බුදුන් වහන්සේ කියන්නෙ මේ මහා භද්‍ර කල්පයේ පහළ වූ තුන් වන බුදු පියාණන් වහන්සේ. ඒ කියන්නෙ ගෞතම බුදුන් වහන්සේට පෙර වැඩ හිටපු බුදුන් වහන්සේ. අවුරුදුවලින් නම් කියන්න බැරි තරම් කාලයක්. ඒ කාලයේ මම වෛද්‍යවරයෙක් වෙලා මනුස්සයින්ට වෙදකම් කරමින් හිටියා. ඒ කියන්නෙ මේ අද වගේ බටහිර වෛද්‍ය විද්‍යාව නෙවෙයි. ඒ කාලෙ තිබ්බ්ච විශේෂ හෙළ වෙදකමක් හොඳින් හදාරල ප්‍රගුණ කරල, ඒ අනුසාරයෙන් රෝගීන් සුවපත් කරපු අවස්ථාවක්. ඒ කාලෙ මගේ බලාපොරොත්තුව වුනෙත් මා ළඟට එන රෝගීන් කොහොම හරි සුවපත් කරල ඔවුන්ට පිහිට වෙනව කියල.

ඉතින් මුල් කාලෙ සැහෙන රෝගීන් සංඛ්‍යාවක් මා ළඟට ආව වගේම, ඒ සියලු දෙනාම මම සුවපත් කළා. නමුත් ඔහොම කාලයක් යන කොට මට සනීප කරන්න බැරි රෝගීනුත් මා ළඟට ආවා. ඒ රෝගීන්ට වෙදකම් කළාට හොඳ වෙන්නෙ නෑ. ඉතින් ඒ අයත් අඳෝනා තියනවා, අනේ වෙද මහත්තයෝ මගේ අහවලා කොහොම හරි සනීප කරල දෙන්න කියල. මටත් ඉතින් ඒ අඳෝනා අහල ලොකු සංවේගයක් ඇති වුණා. ඉතින් සියලු ලෙඩට වෙදකම් කරන්න බැරි නම්, මම මේ ඉගෙන ගත්ත වෙදකමින් වැඩක් නෑ කියල අන්තිමට අදහසක් ආවා. ඒ සියලු ලෙඩට වෙදකම දන්න කවුරු හරි කෙනෙක් ඉන්නව නම්, ඔහුට වහල් වෙලා බැල මෙහෙවරකම් කරල හරි ඒ වෙදකම ඉගෙන ගෙන මේ රෝගීන්ට පිහිට වෙනව කියන අදහස දැඩිව ආවා. එහෙම අදහසක් ආවට පස්සෙ මම ළඟ ඉන්න ඥාති හිතවතුන්ටත් කිව්වා, මෙහෙම කෙනෙක් ගැන දැන ගන්න ලැබුනොත් මට වහාම දන්වන්න කියල.

එහෙම කියල ඒ කාරණය හැම තැනම ප්‍රසිද්ධ කළා. ඒ ගැන හොයල බැලුවා. ඉතින් එහෙම කෙනෙක් හමුවුනේ නෑ. ඒ තමයි කාශ්‍යප බුදුන් වහන්සේ පහළ වෙලා වැඩ හිටපු කාලය. ඉතින් ඔහොම කාලයක් යන කොට මට හිතවත් කෙනෙක් ඇවිත් කිව්වා, මෙන්න මෙහෙම ☞

උත්තමයෙක් ඉන්නවා, ඒ උත්තමයා ඔය සියලු රෝගවලට වෙදකම් දන්නවා, ගිහින් උන් වහන්සේ මුණ ගැහෙන්න කියල. එතකොට උන් වහන්සේ ළඟ පාත දානයකට මහ මග වැඩම කරමින් හිටපු අවස්ථාවක්. මම ඉතින් ඒ ආරංචිය ලැබුණ සැණින් ඉක්මනට ගිහින් උන් වහන්සේ මුණ ගැහිල දෙපා මුල වැඳ වැටිල කිව්වා, ස්වාමීනි මම මෙහෙම වෙදදුරෙක්, මේ වගේ වෙදකම් කරමින් ඉන්න කොට දන් මගේ ළඟට සනීප කරන්න බැරි රෝගීනුත් එනවා, ඔබ වහන්සේ මේ සියලු රෝගවලට වෙදකම දන්නව කියල මට කෙනෙක් කිව්වා, අනේ මටත් ඒ වෙදකම දෙන්න කියල. එතකොට උන් වහන්සේ කිව්වා, දරුව මෝඩයෙක් වගේ හැම ලෙඩකටම බෙහෙත් හොයන්න යන්න එපා, මේ ලෝක සත්වයින් අතර කායික හෝ මානසික වශයෙන් හෝ අල්පාබාධයක්වත් නැති කෙනෙක් නෑ කියල. හැබැයි සියලු රෝගවලට කරන වෙදකමක් මා ළඟ තියෙනවා, නමුත් ඔබට ඒකට සුදුසු කාලයක් මතුවට එනවා, දැන්ම බෑ කියලත් කිව්වා.

ඉතින් එහෙම කියල උන් වහන්සේ මේ භව රෝගය ගැන දේශනයක් කළත් ඒක මට වැටහුනේ නෑ. මගේ ප්‍රශ්නයට ඒකෙන් උත්තර ආවෙ නෑ. මොකද මගේ හිත තියෙන්නෙ, අර සනීප කරන්න බැරි රෝගීන් කොහොම හරි සනීප කරනවයි කියන තැන. ඉතින් උන් වහන්සේගෙ තුන් කල් නුවණට මේ සියල්ලම ගෝචරයි. ඊට පස්සෙ මම ඇහුවා, මතු ඒ විදිහට එන ශ්‍රාවකයන්ගෙ ශක්තිය කොහොමද කියල. එතකොට උන් වහන්සේ කිව්වා, සක්වල අටක් එක මිටකට මොළවන්න පුළුවන් අය කියල. ඒ කියන්නෙ අට මහා සක්වලක් එක මිටකට මොළවන්න පුළුවන් අයට ඒ බලය තියෙනව කියල උන් වහන්සේ කිව්වා. මේ කාරණය දැන් නොවැටහුණාට මතු වැටහෙයි, මගෙන් පසු සිද්ධාර්ථ ගෞතම නමින් බුදු කෙනෙක් පහළ වෙනවා, ඒ බුදුන් වහන්සේගෙ සාසන කාලය තුළදි මේ වෙදකම දැන ගෙන භව රෝගයෙන් පෙළෙන රෝගීන්ට ප්‍රතිකර්ම කරන්න අවස්ථාවක් ඔබට ලැබෙයි කියලත් උන් වහන්සේ කිව්වා. එහෙම කියල, ඒ කාලය එනකල් ජලය අර ගෙන බුදුන් සිහි කරල අධිෂ්ඨාන කරල අතින් සෙත් කරල රෝගීන්ට දෙන්න කිව්වා. මේක ඉදිරියට බලපවත්වන ආශිර්වාදයක් කියල ඒ ආශිර්වාදයෙන් ජලය සෙත් කරල දුන්නත් ලෙඩ සුව වෙනව කියල කිව්වා.

දැන් මෙතනදි සක්වල අටක් කිව්වෙ අට ලෝ දහම. ලාභ, අලාභ, යස, අයස, ප්‍රසංසා, නින්දා, සැප, දුක කියන මේ අට. මිට මොළවනව කියන්නෙ ඒවායින් කම්පාවට පත් වෙන්නෙ නෑ, අකම්ප්‍ය වෙනව කියන එක. මේ කියන්නෙ අට ලෝ දහමින් කම්පා නොවීම. ඒ තමයි රහතන් වහන්සේගෙ ස්වභාවය. ඉතින් එදා ඒ වෙදකම් කරපු පුරුද්දත් එක්ක කාශ්‍යප බුදුන් වහන්සේගෙන් ලැබිච්ච ආශිර්වාදයෙන් තමයි මේ අත් භවයෙත් වෙදකම පිහිටියේ. ඒකත් නිකම්ම ආවට ගියාට කරන වෙදකමක් නෙවෙයි, සමාධියට ආපු එක්තරා ක්‍රමවේදයක්. මම ගිහි කාලයේ ඒ විදිහෙ වෙදකම්වලින් සැහෙන රෝගීන් සංඛ්‍යාවක් සුවපත් කරල තියෙනවා. ඒ කියන්නෙ යම් කිසි රෝගියෙක් ආවම ඒ රෝගය ඇති වෙන්න හේතු වෙච්ච කර්ම විපාක සම්බන්ධයත්, ඒකට කරන්න ඕන සාසන ප්‍රතිකර්මයත්, භෞතික කයට කරන්න ඕන ප්‍රතිකර්මයත් කියන මේ සියල්ලම බෙහෙත් වට්ටෝරුවත් එක්ක සමාධියට ගෙතිල



එනවා. ඒ විදිහට ඒ කාලෙ ලියපු බෙහෙත් වට්ටෝරු සැහෙන ප්‍රමාණයක් තවමත් තියෙනවා.

මීට අවුරුදු 20 කට පමණ පෙර මම පටන් ගත්තු මංගල බෝධි පූජාවෙදිත් කාශ්‍යප බුදු පියාණන් වහන්සේ එදා ප්‍රකාශ කරපු ඒ කාරණය උන් වහන්සේගෙ අධිෂ්ඨානයක් පරිදි මැවිල ආවා. ඒ කියන්නෙ බෝධීන් වහන්සේ ළඟ සෙත් වෙන්න තඹවලින් හදපු විසාල පැන් බඳුනක් තියල, ඒ බෝධි පූජාව කාව්‍යමය ස්වරූපයෙන් කර ගෙන යන කොට බෝධීන් වහන්සේගෙ කඳ මැදින් බුදුන් වහන්සේගෙ ශ්‍රී හස්තය මැවිල, ඒ ශ්‍රී හස්තයෙන් පොඩි ලෝක බෝල 8 ක් සංකේතයක් විදිහට ජලයට දිය කරල පෙන්නුවා. ඒ සිද්ධිය මස් ලේ ඇහැටම පෙනුණා. ඒත් එක්කම එදා කාශ්‍යප බුදුන් වහන්සේගෙන් මම අහපු ප්‍රශ්නවලට දීපු උත්තර හා සමාන අදහසක් තියෙන බුද්ධ හඬක් බෝධීන් වහන්සේගෙ කඳ මැදින් ඇසුණා.

ඒ වෙලාවෙ මම ඒ පූජාව කර ගෙන යන ගමන්ම ඒ සිද්ධිය අනික් අයටත් අතින් සංඥා කරල දැනුම් දුන්නා. ඒත් එක්කම මහ පිරිසක් වැල නොකැඩී නැගිටල සාධුකාර දෙන්න පටන් ගත්තා. ඉතින් එතන හිටපු තවත් අයත් ඒ සිද්ධිය දකින්න ඇති. ඒ වෙලාවෙ ඡායාරූප ගත්ත නම් සමහර විට ඒක අහුවෙන්නත් ඉඩ තිබුණා. ඒකෙන් පෙන්නුවෙ අට ලෝ දහමින් කම්පා නොවීම. ඉතින් ඊට පස්සෙ මම ඒ පැන් කලය සෙත් කරන කොට මුළු භාජනයම උතුරන්න ගත්තා. ඒ කියන්නෙ සුළියක් වගේ ඇවිත් වතුර ගොබයක් මතු වෙලා හැම තැනම විසිරිලා ගියා. ඒ වගේම ඒ බෝධීන් වහන්සේ වෙතින් අනික් සාමාන්‍ය බෝධීන් වහන්සේලාට වඩා විශේෂත්වයක් දකින්න තිබුණා. ඒ කියන්නෙ අනික් බෝධීන් වහන්සේලාගේ කොළ හැලෙන, දළු දාන කාලයේ නෙවෙයි මේ බෝධීන් වහන්සේගෙ ඒ කාරණා සිද්ධ වුණේ. මලියදේව මහරහතන් වහන්සේගෙ සම්බන්ධයකුත් ඒ ස්ථානයේ තියෙන බව දැණුනා.

ඉතින් එදා ඒ විදිහට සෙත් කරල දීපු ජලය අදත් ඒ පූජාවට සම්බන්ධ වෙච්ච සමහර පින්වතුන් ළඟ සුරක්ෂිතව තියෙනවා. ඒ සෙත් පැන් කවදාවත් නරක් වෙන්නෙ නෑ. නැත්නම් ජලය වුනත් එහෙම කාලයක් තියා ගන්න බෑ, මණ්ඩි බැඳෙනවා. නමුත් මේ සෙත් පැන්වලට එහෙම වෙන්නෙ නෑ. ඒවා අදත් නිරුපද්‍රිතව තියෙනවා. කිසිම විසබීජයකටවත් ඇතුල් වෙලා නරක් කරන්න හැකියාවක් නෑ. ඒ තරම් සුද්ධයි, බලවත්. මොකද අර බුද්ධ ආශිර්වාදයත් සමග සුද්ධ ශක්තිය තමයි ඒ ජලයට කා වැදුනෙ. එදා සමාධියට දැනුන විදිහට ඒ සෙත් පැන් තවත් අවුරුදු 700 ක් තියා ගන්න පුළුවන්. ඒ කියන්නෙ මේ නැවත මතු කරන දහම තවත් අවුරුදු 700 ක් යන කල් බබළනවා. එතකල් මේ සෙත් ජලයත් තියෙනවා. හැබැයි ඒක එදා සමාධියට දැනුන කාරණයක් මිසක් එතනින් පස්සෙ ඉදිරිය කොහොම වෙයිද කියන්න දන්නෙ නෑ. මොකද මේ ගෞතම බුද්ධ සාසනයේ නිවන් දකින්න හේතු වාසනා තිබිච්ච අයගෙන් බහුතරයක්ම මේ වෙන කොටත් නිවන් දැකල ඉවරයි. එදා සැවැත් නුවර විතරක් සෝවාන් වෙච්ච අය පන් කෝටියක් හිටිය කියල සඳහන් වෙනවා. ඊට අමතරව රහතන් වහන්සේලා සහ තවත් මග ඵල ලාභීන් එදා සහ ඊට පසුවත් කොච්චර නම් වැඩ ඉන්න ඇත්ද ?

එතකොට හේතු වාසනා තියෙන තවත් සුළු පිරිසක් තමයි ඉතිරි වෙලා ඉන්නෙ. ඒ අයට නිවන් දකින්න තමයි මේ දහම වරින් වර මතු වෙන්නෙ.

ඉතින් එදා කාශ්‍යප බුදුන් වහන්සේ දීපු ආශිර්වාද ශක්තියෙන් තමයි මේ අත් භවයෙත් රෝගීන් සුවපත් කරන්න සෙත් පැන් ගත්තෙ. ඒ සෙත් පැන්වලින් එදා හිතන්නත් බැරි රෝග සනීප වුණා. ඒ පළවෙනි බෝධි පූජාව පවත්වන කොට වයසට ගිහින් ගිලන් වෙච්ච හාමුදුරුවො නමකුත් එක්ක ගෙන ආවා. උන් වහන්සේගෙ කකුල් කෝම්පිට්ටු වගේ ඉදිමිලා, යන්න එන්නත් බැරිව හිටියෙ. එක තැන් වෙලා අවුරුදු 2 කට පස්සෙ තමයි උන් වහන්සේ පුටුවක් උඩ තියාගෙන මේ බෝධි පූජාවට එක්ක ගෙන ඇවිත් තිබුනෙ. චිත්ත ප්‍රසාදයත්, සන්තෝසයත් වැඩිකමට උන් වහන්සේ බෝධි පූජාවට සවන් දීගෙන හිටියෙත් අඬ අඬා. පූජාව ඉවර වුනාම උන් වහන්සේ සෙත් පැන් බෝතල් ගණනාවක්ම බොහොම ගරුත්වයෙන් අරගෙන ගියා. ඒ සෙත් පැන් ගෙනිහින් ළඟ තියාගෙන එක පාරටම කෝප්පයක්ම පුරවල බොනවා. එතකොට මම මහණ වෙලත් නෑ. ඉතින් උන් වහන්සේ කිසිම අහංකාරකමක් නැතිව කියනවා, මහත්තයෝ මම අද ඇති වෙන්න සෙත් පැන් බිව්ව කියල. ඊට පස්සෙ දවසක් බලන කොට නහර පෑදිලා, ඉදිමුම් බැහැල කකුල්වල කිසිම ලෙඩක් නෑ. නමුත් මේ ලේසියෙන් අරින්න පුළුවන් රෝගී තත්ත්වයක් නෙවෙයි උන් වහන්සේට තිබුණෙ. බඩේ අජීර්ණ හැදිල අපද්‍රව්‍ය හිර වෙලා කකුල් ඉදිමෙන කල් ඔඩු දුවපු තත්ත්වයක් තමයි තිබුණෙ. මේ සෙත් පැන්වල බලයෙන් ඒ සියල්ලම ඇරිල උන් වහන්සේට කායික නිරෝගී සුවය ලැබුණා. අන්තිමට අවුරුදු එකසිය ගණනක් ජීවත් වෙලා තමයි අපවත් වුණේ. ඔය විදිහට මම ගිහි කාලෙ බෝධි පූජා 80 කටත් වැඩිය පවත්වල තියෙනවා.

දැන් මේ ලෝක අටක් එක මිටකට මොළවා ගැනීමයි, ඖෂධ ශක්තියයි අතර සම්බන්ධය මොකක්ද කියල කෙනෙකුට හිතෙන්න පුළුවන්. ලෝක ගෝල 8 ක් දිය කළා කියන්නෙ ඒ අටේම ශක්තිය එකට එකතු වීමක්. එතකොට ලාභ, අලාභ, යස, අයස, ප්‍රසංසා, නින්දා, සැප, දුක් කියන මේවා තමයි රෝගවලට මුල. විශේෂයෙන් හදවත් රෝගවල පටන් අනික් රෝග සියල්ලක්ම හැදෙන්නෙ මේ කාරණා 8 මුල් වෙලා. මොකද ලෝක සත්වයා ලාභයක් බලාපොරොත්තුවෙන් ඉඳල ඒක නොලැබිච්ච ගමන් හූල්ලනවා. අලාභයක් ආවත් හූල්ලනවා. යසස් බලාපොරොත්තුවෙන් ඉඳල අයසක් ආවමත් හූල්ලනවා. ප්‍රසංසා බලාපොරොත්තුවෙන් ඉඳල නින්දාවක් ආවමත් හූල්ලනවා. සැප බලාපොරොත්තුවෙන් ඉඳල දුකක් ආවමත් හූල්ලනවා. මේ විදිහට හූල්ලලම තමයි පපුවෙ අමාරුව හැදෙන්නෙ. අනික හිසේ අමාරුව. ඊළඟට පිළිකාව. මොකද ආස්වාදයන් බලාපොරොත්තුවෙන් ඉඳල නොලැබුනාම කල්පනා කරල ඉමක් කොනක් නැතිව ඒකට ගැටෙන්න ගන්නවා. නොයෙක් අයුතු අසාධාරණකම් කරන්න පටන් ගන්නවා. ඔය විදිහට ගිහින් කෙළවරක් නැති ලෙඩ රෝග ඇති වෙනවා.

ඉතින් එදා කාශ්‍යප බුදු පියාණන් වහන්සේගෙ කාලයේ වෙච්ච සිද්ධිය මීට අවුරුදු 20 කට පෙර පොල්ගහවෙල උඩපනලිය ගෝඨාභය රජමහා විහාරයෙදි පවත්වන්නට යෙදුන මංගල බෝධි පූජාවෙදි මේ විදිහට සමවත් කවි මාලාවකින් නැගුණා.

එදා ගෙන ආ ගුණය දින දින දෙසූ ලෙස භවයෙන් ගෙනා
පැමිණ ගෙන ආ කලකි සම්බුදු පියාණෙනි ගුණ කරමිනා
මෙවන් කල මහ ගුණේ සිහි කර තිබුණු පෙර ඔබ සිදුවනා
තැනේ ලෙස පෙර උතුම් මහ බුදු මහා කස්සප කියවනා

තැනේ මෙම මහ බුදු පියාණන් දකපු සේ දරු සත් ගුණෙන්
එදා එම තුම් මහා බුදු පිය තුමන් හමු වී එම තැනෙන්
ඇසූ හැම සිහි කරමි මතකය නගමි ගරු සමවත් ගුණෙන්
බැලූ හඬ අද සිහි කරමි ගරු උතුම් බුදු පිය සෙත් ගුණෙන්

දරුව දත් මහ උතුම් කස්සප මහා බුදු පිය රජින්දා
උතුම් ලෙස වැඩ හිටපු කාලෙදි එදා සත වෙත මෙබන්දා
මෙසේ මහ ඖෂධිනි ලෝ සත විඳින රෝ දුක නසන්දා
එදා ගත් එම අදහසක් විය බුදුන් කල එම එබන්දා

එසම්පත් පෙර භවයෙ වූ දෙය කියා අද මෙහි මෙලෙසිනා
මෙදා එම මග දෙවමි ලෝ සත වෙතට සැක හැර දෙවමිනා
පතා එම මහ උතුම් කස්සප මහා සම්බුදු රජිඳුනා
එදා සිටි කල එවන් මහ වෙද තුමෙකි සමිඳුනි එම තැනා

එදා කල හමු වුනු සැම අය වෙතින් ලෝ සත ලෙඩ තැනා
හරින විට එම කිසිත් ඖෂධ නාසනා සේ දකිමිනා
අහෝ මා දෙන මෙවන් ඖෂධවලින් ඇති ලෙඩ නොම යනා
තැනින් ඇති බව ගුණේ එබැවින් නොමැත දැනුමක් කිව් තැනා

මෙසේ සිහි කර සමිඳුනේ එම මගට පිළියම් කරන්නේ
එදා යම් ඖෂධය ඇතහොත් සියලු සත රෝ නසන්නේ
එවන් දැනුමක් තිබෙන කෙනෙකුන් කොහිද වෙදදුරු ලෙසින්නේ
සොයන්නට වුන කලකි සමිඳුනි එකල කස්සප බුදුන්නේ

එවන් කල සොය සොයා ගිය තැන සියලු අය මෙය කියනවා
මෙ අප නොම දැන සිටිය ඖෂධ සියලු ලෙඩ රෝ හරිනවා
ඔබේ දැනුමෙන් මට වැඩක් නැත මෙවන් අදහස කියනවා
එවන් කල පාරකද කස්සප මහා බුදු රජ වඩිනවා

එදා ගරු සිත රැගෙන සවු මෙන් ගත් උතුම් මග නැගෙන්නේ
මගේ පැනයට නියම පිළිතුර උතුම් සමිඳුනි නොදන්නේ
එවන් සිත් ගෙන එදා සිහි කර උතුම් තැන සිත දෙවන්නේ
පැතුම් ගෙන එම මහා බුදු රජ හමුවු තැන් ගැන කියන්නේ

ගරු සමිඳුනේ ඔබෙ මහ ගුණ කඳ රැගෙනා
අනත වු ලෝ සතුන් යහ මග යන ලෙසිනා
සමිඳුනි සියල් දත් බව ගරු කරවමිනා
අසනෙමි මෙපැන විසඳා දෙනු මැන ඉතිනා

මෙලෙසින් කියන විට කස්සප මහඟු වන
සම්බුදු පියාණන් සිරි හස්තයෙනි ගෙන
දරු මෝඩයෙක් ලෙස එම පැන මතුව ගෙන
ඇයි ඔබ අසන්නේ ඇසු හැටි මතක දැන

සමිඳුනි සියලු බොරු නැති සත් බස ගන්නේ
එම දා දෙසූ ගරු හඬ සිහියෙහි වන්නේ
ගරු බුදු පියාණන් මෙම පැන විසඳන්නේ
දරු නුඹ මෝඩ නොම වී මෙය දැන ගන්නේ

කී එම උතුම් මහ බුදු පිය රජාණන්
දුන් එම ඔවා අද මහ ගුණ කඳානන්
මන් සිත නගා වැඩි බුදු පිය වෙදානන්
සන්තොස සදා දෙන සිහි කර රදානන්

ගරු ගුණ කියා බුදු රජ වෙත  මෙලෙසකිනේ
සම්බුදුනි රෝග සැමටම වේවිද  ඉතිනේ
දරු තුන් ලොවේ ලෙඩ නැති සත වෙද  කොතැනේ
ලෙඩ නැති කෙනෙක් නැත කිසි තැන දනු  ලොවෙනේ

යම් දා මෙලොව එබඳුම සත  පවසනවා
සිටියත් ලෙඩ රෝග නැති කියමින්  එනවා
දහසක් රෝග මත එම හඬ ගෙන  එනවා
දරු රෝ නසන හැටි මම නුඹ වෙත  දෙනවා

එලෙසින් කියා ගරු බුදු රජ එබඳු  තැනේ
රෝ දුක් නසන බුදු මග එම  විලසකිනේ
සිදු වේ සියලු භව රෝගය දුකම  ගෙනේ
හැරපන් දරුව යම් තැන රෝ  නැසෙනවනේ

යම් දා සියලු රෝ දුක් නැති කර  ගන්න
දම් මග දෙවන මුත් නුඹ හිත  මොහොතින්න
ලෝ සත වෙතට ඇද ගෙන ඇත මෙම  තැන්න
අද බැහැ නුඹට එම මග පුරවා  ගන්න

දරු නුඹ වෙතට යම් යහපත ගෙන  එනවා
මතු කල නුඹට ඔය ආසිරි මතු  වෙනවා
සිතු පැතු දහම දෙන හරි මග ගෙන  එනවා
එම දා සියලු ලෝ සත යහ මග  යනවා

දුන් එම දහම් සහ එම තැන මුනිඳු  ගුණේ
දරු එම කලට නුඹ යන මෙම ගමන  කිනේ
දීපන් සියලු දරු අත ගෙන එබඳු  තැනේ
සුව වෙයි දරුව ලෙඩ රෝ කය පැවසු  දූනේ

සැමදා නොහැකි නම් නුඹ බය නොම  වන්න
සිහි කර මගේ මහ ගුණ කඳ  සිතකින්න
අදිටන් තිබේ දරු නුඹ වෙත  මෙලෙසින්න
දෙවපන් ජලය සුරතින් ගෙන  එලෙසින්න

එම දුන් ජලය ඔබ සිත ගෙන  අරගන්නේ
ලෝ සත වෙතට තව බෙහෙතක් කොහි  වන්නේ
දරු මහ කුසල් සෙත් ඇති බව  දකිමින්නේ
මෙම ගුණ අසිරි නුඹ වෙත යයි  පවසන්නේ

එම දා ලැබූ ගරු මහ හඬ කුළුණු  ගුණ
මහ සෙත් මහා කස්සප බුදු රජිඳු  දුන
අද වෙන තුරා දෙන එම මෙම දහමෙ  ගුණ
යම් දුක් නසා දුන් අවසර සමග  වන

සිහි කළ මොහොතකින් බුදු රජ ගුණ  දෙන්නේ
සමවත් මග මතින් එම කවි  හඬකින්නේ
සුව සෙත් දෙවන ඖෂධ සහ ගෙන  දෙන්නේ
මහ සෙත් වදන් මතු වෙයි අද දූන  ඉන්නේ

ගරු බුදු පියාණෙනි එම මග  අරගන්නේ
එම නැණ නැගු සැම අද සිහි කර  ඉන්නේ
ගරු බුදු පියාණෙනි මෙම හඬ  නගමින්නේ
අද මෙම තැනේ දරු ලෙස සඟ ගුණ  දෙන්නේ

සම්බුදු සිසිල හදවත තුළ නැගෙන  තැනේ
ගරු බුදු පියාණෙනි එන මෙම වසර  කිනේ
අද මේ නැගෙන කල අද සිහි කරන  තැනේ
දරු ගුණ දූනේ බුදු සම්බුදුනි අසම  ගුණේ

සටහන: නීතිඥ චන්දන සිරිවර්ධන

# කෙණ්ඩ පෙරලීම ඇතුළු රෝග රැසකට ප්‍රත්‍යක්ෂ ඔසුවක්...

කෙණ්ඩා පෙරලීම, අත පය වේදනාව, නහර හිරවීම, පාදවල සහ කයේ ඇතුළත තැල්මෙන් හට ගන්නා ආබාධ සඳහා වහරක අභයරතනාලංකාර හිමියන් සමාධියට හසු කර ගත් තවත් ප්‍රත්‍යක්ෂ ඔසුවක් තමයි මේ හඳුන්වා දෙන්න යන්නෙ. මාරාන්තික නොවුනත් සමාජයේ බොහෝ දෙනෙක් පීඩා විඳින මේ වගේ රෝගීතාවයන් සඳහා ස්ථිර පිළියමක් අද වෙන කොට අහන්න ලැබෙන්නෙ නෑ. ඒ වගේ අවස්ථාවකදි මොනව හරි තාවකාලිකව කරන පිළියමකින් ඒ පීඩාව මග හරවා ගැනීම තමයි සාමාන්‍යයෙන් සිද්ධ වෙන්නෙ. ඒ නිසා වැඩි වියදමක්, මහන්සියක් හෝ කිසිම අතුරු ආබාධයක් නැතිව හැමෝටම එක විදිහට පාවිච්චි කරන්න පුළුවන්, දැනටමත් අත්හදා බලන ලද ප්‍රත්‍යක්ෂ ඔසුවක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ.

මේ සඳහා අමුද්‍රව්‍ය විදිහට ගන්නෙ ඉඟිනි ඇට කුඩු, සුදු හඳුන් කුඩු, කළුදුරු කුඩු, නික මුල් කුඩු, පොතු ඇර ගත් සුදු එළු, පිරිසිදු තල තෙල් බෝතල් 1/4 ක් සහ හීන් උඳුපියළිය ග්‍රෑම් 500 ක් පමණ. බෙහෙත් බඩු වෙළඳ සැල්වලින් ඉහත කුඩු කරපු අමුද්‍රව්‍ය සහ තල තෙල් මිලදී ගන්නව නම් බොහොම පිරිසිදු විශ්වාසවන්ත තැනකින් ලබාගන්න ඕන. මොකද අද වෙන කොට සමහරක් වෙළඳ සැල්වල




තියෙන බාල අමුද්‍රව්‍ය යොදා ගත්තොත් මේ ඖෂධයේ තියෙන ශක්තිය හීන වෙලා ප්‍රතිඵල නොලැබී යන්න පුළුවන්. ඒ නිසා හැම තිස්සෙම ඒ මිලදී ගන්න අමුද්‍රව්‍යවල පිරිසිදු බව සැක හැරල දැන ගන්න ඕන.

ඒ විදිහට ලබාගත් ඉඟිනි ඇට කුඩු, සුදු හඳුන් කුඩු, කළුදුරු කුඩු, නික මුල් කුඩු සහ වියලි සුදු එළු කියන මේවායින් ග්‍රෑම් 50 බැගින් ගන්න ඕන. හැබැයි වෙළඳසැල්වල තියෙන සුදු එළු පෙති ගහල වේලල ගන්න බැරිනම්, ඒ අමු එළුවායින් ග්‍රෑම් 150 ක් (තුන් ගුණයක්) ගන්න ඕන. ඒ විදියට අරගත්තු සියලු අමුද්‍රව්‍ය තල තෙල් සමග මිශ්‍ර කරල, කොටා මිරික ගත් හීන් උඳුපියළිය (අවශ්‍ය නම් වතුර ටිකක් දමා) ග්‍රෑම් 500 ක පමණ ඉස්ම සමග මිශ්‍ර කර ගන්න ඕන. ඒ මිශ්‍රණයෙන් කෝපි ගෙඩි තරමේ ගුලි හදා ගෙන වේලගෙන උදේට සහ රෑට කෑමෙන් පසු ගුලි 1 බැගින් දින 21 ක් හෝ අවශ්‍ය තරම් කාලයක් පාවිච්චි කිරීමෙන් ඉහත රෝගීතාවයන් සමනය වෙන්න හේතු වෙනවා.

සටහන:
නීතිඥ චන්දන සිරිවර්ධන

# ඖෂධ පූජාවේ අනුසස්

ලෝකයේ පහළ වූ සාස්තෘන් වහන්සේලා අතර සියලු දෙවි මිනිසුන්ගේ පුද පූජාවන් ලබන්න අග්‍ර ශ්‍රේෂ්ඨතම උතුමා වෙන්නෙ ලොව්තුරා බුදු රජාණන් වහන්සේ. තථාගතයන් වහන්සේ නමකට කරන සුළු පූජාවක පවා අනුසස් අපමණයි. ඒ බව ධම්ම පදය බුද්ධ වර්ගයේ එන ගාථාවක මේ විදියට සඳහන් වෙනවා.

පූජාරහේ පූජයතෝ
බුද්ධේ යදි ව සාවකේ
පපංච සමතික්කන්තේ
තිණ්ණ සෝක පරිද්දවේ

තේ තාදිසේ පූජයතෝ
නිබ්බුතේ අකුතෝ භයේ
න සක්කා පුඤ්ඤං සංඛාතුං
ඉමෙත්තමිති කේනචීති

තථාගතයන් වහන්සේ බොහෝ භික්ෂූන් වහන්සේලා පිරිවරාගෙන බරණැස් නුවරට වැඩම කරන අතර මගදී, තෝදෙය්‍ය කියන බ්‍රාහ්මණ ගමට වැඩල ඒ ගමේ තිබ්ච්ච එක දේවාලයක් ළඟ වැඩ සිටියා. ඒ මොහොතේ ටිකක් දුරින් සී සාමින් හිටපු බමුණෙක් දැකල, ඒ බමුණාට එන්න කියල ආනන්ද හිමියන් පිටත් කර යැව්වා. ඒ බමුණා එතන තිබ්ච්ච දේවාලයට වැඳල බුදුන් වහන්සේ ළඟට ඇවිත් ගරු බුහුමන් දක්වල පසෙකින් ඉඳ ගත්තා. එතනදි තථාගතයන් වහන්සේ, ඔබ මේ දේවාලයට වැන්දෙ කුමක් නිසාද කියල ඇහුවම, මේ දේවාලය ඉතා පැරණියි, අපේ පරපුරේ සියලු දෙනාම වඳින පුදන තැනක් නිසා අපිත් ඒ සිරිත කඩ නොකර පවත්වාගෙන එන බව බමුණා ප්‍රකාශ කර සිටියා.

එතකොට තථාගතයන් වහන්සේ, බ්‍රාහ්මණය මේ ස්ථානයට වැඳීම පිදීම ගරු බුහුමන් දක්වීම ඉතා වටිනා දෙයක්, පෙර කාශ්‍යප බුදු රජාණන් වහන්සේගෙ ධාතූන් වහන්සේලා නිදන් කරපු රන් දාගැබක් පිහිටියේ මේ ස්ථානයේ කියල අතීත කතාව ගෙන හැර දක්වුවා. මේ කාරණය නිමිති කරගෙන බුදු රජාණන් වහන්සේ ඉහත ගාථා දේශනා කළා.

''පපංච සමතික්කන්තේ'' බුද්ධාදී උතුමන් වහන්සේලා තණ්හා, මාන, දිට්ඨි ආදී සියළු ප්‍රපංච ධර්ම ඉක්මවල, ''තිණ්ණ සෝක පරිද්දවේ'' සියළු සෝක පරිදේවයන්ගෙන් එතෙර වෙලා, ''නිබ්බුතේ අකුතෝ භයේ'' කෙලෙසුන්ගෙන් නිවිල නිර්භයව වාසය කරන නිසා, ''පූජාරහේ පූජයතේ'' දෙවි මිනිසුන්ගේ සියලු වන්දනාමාන පූජා සත්කාරවලට සුදුසුයි. ''න සක්කා පුඤ්ඤං සංඛාතුං ඉමෙත්තමිති කේනචීති'' ඒ වගේ උතුමන්ට කරන පූජාවකින්, වන්දනාවකින්, ප්‍රසාද මාත්‍රයකින් පවා ලැබෙන පින මෙපමණයි කියල සීමා කරන්න බෑ. ඒ තරම්ම ලෞකික ලෝකෝත්තර වශයෙන් සැප විපාක ලබන්න හේතු වෙනවා. මේ ලිපියෙන් ප්‍රධාන වශයෙන් පැහැදිලි කරන්න බලාපොරොත්තු වෙන්නෙ, බුද්ධාදී උතුමන් වහන්සේලාට ඖෂධ පූජා කිරීමේ වටිනාකම.



ගෞතම බුද්ධ සාසනයේ නිරෝගී භික්ෂූන් වහන්සේලා අතරින් අග තනතුර ලබල හිටියෙ බක්කුල මහ රහතන් වහන්සේ. බුදු රජාණන් වහන්සේටවත් ඒ වගේ කායික නිරෝගී බවක් තිබිල නෑ. අතීත කර්ම විපාක අනුව තුනටිය අමාරුව, නිතර පැවති හිසරුදාව, ලෝහිත පක්ඛන්දිකා කියන ලේ අතීසාර රෝගය තථාගතයන් වහන්සේට වැළඳුනා. බක්කුල තෙරුන් වහන්සේ අසූ අවුරුද්දක් ගිහි ගෙයි වාසය කරපු කාලයෙත්, අසූ අවුරුද්දක් පැවිදි ජීවිතය ගත කරපු කාලයෙත් සුළු රෝගයක්වත් ඇති වුනේ නෑ. උන්වහන්සේ 160 අවුරුද්දක් ආයු වළඳපු තෙර නමක්. ගෞතම බුද්ධ සාසනයේ මහා ශ්‍රාවකයන් වහන්සේ නමක් වූ උන්වහන්සේ කිසිම රෝගාබාධයක් නොවැළඳී නිරෝගි වෙන්න හේතු වුනේ, අනෝමදස්සී බුදු රජාණන් වහන්සේගෙ කාලයෙදිත්, ඉන් පසුවත් බුද්ධ සාසනවලදි සිදු කරගත් ඖෂධ පූජාවන්.

මේ මහා භද්‍ර කල්පයට ඒකා සංඛ්‍ය කල්ප ලක්ෂයකට පෙර බුදු වූ අනෝමදස්සී බුදු රජාණන් වහන්සේගෙ කාලයේ බක්කුල තෙරුන් වහන්සේ වේදත්‍රයේ කෙළ පැමිණි බ්‍රාහ්මණයෙක් විදිහට ඉපදිලා තාපස පැවිද්ද ලබල ශිෂ්‍ය පිරිසක් සමග හිමාලය අසල අසපුවක වාසය කළා. අනෝමදස්සී තථාගතයන් වහන්සේ විවේක සුවයෙන් වැඩ වාසය කරන්න ඒ අසපුවට වැඩිය අවස්ථාවක, මහත් වූ වාතාබාධයක් හට ගත්තා. ඒ අවස්ථාවෙ බක්කුල හාමුදුරුවො තමන්ගෙ ශිෂ්‍ය පිරිස සමග පර්වතයකට නැගල ඖෂධ සොයා ගෙන බෙහෙත් සකස් කරල දීල තථාගතයන් වහන්සේට වැළඳුන වාතාබාධය සංසිඳවන්න කටයුතු කළා. ඒ කරගත්ත පින් බලයෙන් උපනුපන් ජාතිවල කිසිම ආබාධයක් නොවේවයි කියල ප්‍රාර්ථනාත් කළා.

වාතාබාධයෙන් නිරෝගි සුවය ලබපු අනෝමදස්සී බුදු රජාණන් වහන්සේ, බ්‍රාහ්මණයා සිදු කරපු ඖෂධ පූජාවේ අනුසස් මේ විදිහට විස්තර කළා. මේ බෙහෙත් පූජා කළ පිනෙන් කල්ප ලක්ෂයක් දෙව් ලොව ඉපදිලා දිව්‍ය සැප විඳල, මිනිස් ලොව ඉපදිලා දහස් වරක් චක්‍රවර්තී රජ බවට පත් වෙනවා. පනස් පස් වන කල්පයේ සතර මහා දිවයින් හා සිව් මහා සාගර කෙළවර කර ඇති පෘථිවියට අධිපති, සතුරු රජවරුන් ජයගන්න සත් රුවනින් යුතුව ජම්බුද්වීපයේ මහත් බල ඇති අනෝම නම් චක්‍රවර්තී රජෙක් වෙලා තව්තිසා දෙව්ලොවත් කළඹල අධිපති බව කරනවා. දෙව් මිනිස් දෙගතියේ කොහේ ඉපදුනත් ලෙඩ රෝගවලින් මිදිල නිරෝගි සුවය ලබනවා. ඉන් පසු කල්ප ලක්ෂයකට පසු ඔක්කාක නම් කුලයේ ගෞතම නම් බුදුවරයෙක් ලොව පහළ වෙනවා. ඒ කාලයේ බක්කුල නමින් ඉපදිලා පැවිදි වෙලා සියලු කෙලෙස් නසල අරිහත්වයට පත් වෙලා අල්පාබාධ ඇති භික්ෂූන් අතර අග තනතුර ලබනවා.

කල්ප ලක්ෂයකට පෙර තමා විසින් කළ ඒ ඖෂධ පූජාවේ පුණ්‍ය බල මහිමයෙන් එතැන් පටන් දුගතියකට නොගිය බවත්, අප්‍රමාණ දෙව් මිනිස් සැප ලබල ගෞතම බුදු සසුනේ සිව් පිළිසිඹියා, ෂඩ් අභිඥා ලබාගත් බවත් උන් වහන්සේ විසින්ම ප්‍රකාශ කරල තියෙනවා.

අනෝමදස්සී බුදු රජාණන් වහන්සේට එදා සිදු කළ ඖෂධ පූජාවෙන් පසු සසර සැරිසරා ගෙන එන කොට පහළ වූ පදුමුත්තර කියන සර්වඥයන් වහන්සේගෙ කාලයේ, හංසවතී නුවර කුල ගෙයක ඉපදිලා ඒ බුදු රජාණන් වහන්සේගෙන් බණ අහමින් හිටපු අවස්ථාවක, එක්තරා භික්ෂුවකට අල්පාබාධ ඇති භික්ෂූන් අතරින් අග තනතුර පිරිනමනව දැකල, මමත් අනාගත බුදු කෙනෙක්ගෙන් මේ වගේ පදවියක් ලබනව කියල අධිෂ්ඨාන කර ගත්තා. ඔහු සත් දිනක් තිස්සේ මහා දන් පවත්වල අවසන් දිනයේ පදුමුත්තර බුදුන් වහන්සේට තමන්ගෙ අදහස දැන්වුවා. උන් වහන්සේ අනාගතය බලල ඒ කාරණය සපල වන බව දැකල, ඔබගේ ප්‍රාර්ථනය මෙයින් කල්ප ලක්ෂයකට පසු බුදු වන ගෞතම බුදුන් වහන්සේගෙ සාසනයෙදි සිද්ධ වෙනව කියල විවරණ දුන්නා.

ඒ කුල පුත්‍රයා සසර බොහෝ පිං දහම් කරල නැවත විපස්සී බුදු රජාණන් වහන්සේගෙ කාලයේ හිමාලයට ගිහින් තපස් රකිමින් හිටපු අවස්ථාවක, අට ලක්ෂයක් පමණ භික්ෂූන්ට වැළඳුන වසංගත රෝගයකට බෙහෙත් කරල නිරෝගි බව ලබා දුන්නා. නැවතත් කාශ්‍යප බුදුන් වහන්සේගෙ කාලයේ බරණැස් නුවර ඉපදිලා ගෙයක් හදන්න ආරම්භ කරල, ඊට අවශ්‍ය උපකරණ රැස් කරන මොහොතක දිරා ගිය සංඝාවාසයක් දැකල, තමන්ගෙ ගේ හැදීම නතර කරල ඒ සංඝාවාසය ඇතුළු සියලුම විහාරාරාම ගොඩ නගල පූජා කළා.

මේ විදිහට අප්‍රමාණ පිං රැස් කරල දෙව් මිනිස් දෙගතියේ ඉපදෙමින් ගෞතම බුදුන් වහන්සේගෙ කාලයේ කොසඹෑ නුවර එක්තරා මහා ධනවත් සිටු කුලයක උපන්නා. උපන් දවසෙම යමුනා ගංගාවෙන් නාවපු අය දීර්ඝායුෂ ලබනවයි කියන විස්වාසය අනුව, ඒ දෙමව්පියන් උපන් කුමරු නාවන්න යමුනා ගංගාව කරා පෙරහැරින් ගෙන ගියා. කිරි මව විසින් කුමාරයා දියේ ගිල්වල නාවන කොට, මේ නම් ගොදුරක් කියල හිතපු විසාල මාළුවෙක් පීනගෙන ඇවිත් කුමාරයව ගිල දැම්මා. ඒත් කුමාරයගෙ පිං බලය නිසා කිසිම අනතුරක් වුනේ නෑ. පශ්චිම භවික පුද්ගලයන්ගෙ ජීවිතය (මේ භවයෙදි ඒකාන්තයෙන් අරිහත් වීමට හේතු ඇති) කිසිම උපක්‍රමයකින්වත් විනාස කරන්න බෑ. දබ්බමල්ල හාමුදුරුවො, සංකිච්ච හාමුදුරුවො කියන දෙනමත් මව් ගැබේ ඉඳෙද්දිම මව මළත් නොමැරී ආරක්ෂා වුනේ පශ්චිම භවික පුද්ගලයන් නිසා.

එතකොට අර කුමාරයා ගිල දමපු මාළුවා, මසුන් මරන්නන්ගෙ දැලකට අහුවෙලා මළා. ඒ මාළුවා කහවනු දාහකට විකුණන්න නගරයට ගෙන ගියාම, අසූ කෝටියක් ධනය තිබ්බ්ච, දරුවන් හිටියෙත් නැති සිටුවරයෙක් මේ මාළුවා ගෙනිහින් සිටු දේවියට දුන්නම, ඒ මාළුවා ගැන බලවත් ආසාවක් ඇති වුනා. ඒ නිසා මසුන් මරන අය ඒ ගාන අඩු කරල ඇයට එක කහවනුවකට මාළුවා දීල ගියා. සිටු දේවිය මාළුවගෙ කුස හෙමින් කපන කොට කුස තුළ හිටපු බිළිඳා දැකල ප්‍රීතියෙන්, රන්වන් පුතෙක් ලැබුනයි කියල සිටුතුමාට පෙන්නුවා.

සිටුතුමා බලවත් සතුටට පත් වෙලා ඒ බිළිඳා ගැන බරණැස් රජතුමාට දැන්වුවා. රජතුමා සිටුතුමා අමතල, මොහු මහ පිං ඇති කුමාරයෙක්, හොඳින් පෝෂණය කරන්නෙයි කියල උපදෙස් දුන්නා. බරණැස් සිටුතුමාට මත්ස්‍යයෙකුගේ කුසින් දරුවෙක් ලැබුනු බව මුළු රට පුරාම ආරංචි වුණා. බිළිඳු කුමරු වදපු මවටත් මේ පුවත අහන්න ලැබිල, මහ සෙනග එක්ක ඇවිත් තමන්ගෙ දරුවා හඳුන ගෙන, මේ මම වදපු පුතා කියමින් කුමාරයා ඉල්ලල දබර කළා. දෙපැත්තෙම අය බරණැස් රජතුමාට මේ කාරණය කිව්වම, දෙපක්ෂයෙන්ම කරුණු විමසල දෙගොල්ලන්ටම කුමාරයා අයිති බව පවසල ඔහු පෝෂණය කරන්න සිටු මැදුරු දෙකටම බාර කළා. එතැන් පටන් දෙපක්ෂයේම සිටු මැදුරුවල සැප විඳිමින් අසූ වසරක් කල් ගෙවල බුදු සසුනේ පැවිදි වෙලා බක්කුල නමින් අරිහත්වයට පත් වුනා. කුල දෙකක වැඩුන නිසා බක්කුල කියන නම ලැබුනා.

බක්කුල මහ රහතන් වහන්සේගෙ නුවරවල් දෙකේ ඥාතීන්, පහළොස් දවස බැගින් බෙදාගෙන උන්වහන්සේට සිවු පසයෙන් ඇප උපස්ථාන කළා. පැවිදි වෙලා අසූ වසරක් ජීවත් වෙච්ච උන්වහන්සේට කිසිම දවසක කිසිම ආකාරයක රෝගයක් ඇති වුනේ නෑ. පිරිනිවන්පාන දවසෙ විහාරයෙන් විහාරයට ගිහින් තමන් අද පිරිනිවන්පාන බව තෙරවරුන්ට දන්වල අවුරුදු 160 ක් ආයු වළඳල පිරිනිවන් පෑවා. බුදුන් වහන්සේ බක්කුල තෙරුන් ජීවමාන අවධියේම ''ඒතග්ගං භික්ඛවේ මම සාවකානං භික්ඛුණං අප්පාබාධානං යදිදං බක්කුලෝ'' කියල බක්කුල තෙරුන් වහන්සේ අල්පාබාධ ඇති භික්ෂූන් අතරින් අග්‍රස්ථානයට පත් කළා.

තථාගතයන් වහන්සේලා ලෝකයට පහළ වෙලා සදහම් මහා ඖෂධ විද්‍යමාන කරල දෙනවා. මහා සංඝ රත්නය ඒ සදහම් නමැති ඖෂධ ධර්ම දානය ලෝකයට දේශනා කරමින් විද්‍යමාන කරමින් ආරක්ෂා කරගෙන අද දක්වාම ජීවිත පරිත්‍යාගයෙන් රැගෙන ඇවිත් තියෙනවා. ධර්මයට නොයෙක් අසද්ධර්මයන් එකතු කරන්න සූදානම් වෙච්ච අවස්ථාවල, අධර්මය යටපත් කරල ධර්මය නගා සිටුවමින් ධර්ම සංගායනා කරමින් රැගෙන නොආව නම්, අද අපට ත්‍රිපිටක ධර්මයක් දැක බලාගන්න නෑ. ඒ වගේම බුදු රජාණන් වහන්සේ දේශනා කරපු අසූ හාර දහසක් ධර්මස්කන්ධය මොකක්ද කියල දැන ගන්නත් බෑ.

සම්බුදු පියාණන් වහන්සේලා මුල් කර ගෙන මහා සංඝ රත්නයේ අප්‍රමාණ ඖෂධ ධර්ම දාන ගුණයට ගෞරව උපහාර පූජා වශයෙන්, ඒ උතුමන් වහන්සේලාට ඖෂධ පූජාවන් නොයෙක් ආකාරයෙන් එදා පටන් අද දක්වාම මහ රජ දරුවන්, සැදැහැවතුන් විසින් සිද්ධ කරනවා. ඒක මහා පුණ්‍ය ගංගා කුසල ගංගා සිද්ධ වන, දිව්‍ය මනුස්ස සැප ලබා දෙන මහා පිංකමක්. **සත්වයින්ට වැළඳෙන අට අනූවක් රෝග, නව අනූවක් ව්‍යාධි, දෙසිය තුනක් අන්තරා දුරු කර ගෙන, ලෞකික සැප විපාක ලබල ලෝකෝත්තර නිවනට තියෙන බාධා දුරු කර ගෙන සසර ණය ගනුදෙනු පියවල ආර්ය මාර්ගය වඩන්න උපනිශ්‍රය සම්පත්තියත් සලස ගන්න පුළුවන් පිංකමක්.**

වෙජ්ජූපමා ජිනවරෝ
ගේලඤ්ඤෝව පුථුජ්ජනා
රෝගූපමා කිලේසාව
සද්ධම්මෝ ඕසදූපමෝ

මේ ලොවට පහළ වූ අසහාය වෛද්‍යවරයා නම් තථාගත සම්මා සම්බුදු රජාණන් වහන්සේයි. ''සත්හට වන බව දුකට වෙදානන්'' කියල ලෝ වැඩ සඟරාවෙත් සත්වයාගේ භව දුකට එකම වෙදැදුරාණෝ තථාගතයන් වහන්සේ බව සඳහන් වෙනවා.

''වෙජ්ජුපමා ජිනවරෝ'' ලෝකය ජය ගත්තා වූ බුදු පියාණන් වහන්සේ ලොව අසහාය වෛද්‍යවරයායි. ''ගේලඤ්ඤෝච පුථුජ්ජනා'' පෘථජ්ජන ලෝකයා සසර දුකට හසු වී ගිලන් වී සිටී. ''රෝගුපමා කිලේසාච'' සත්‍වයාට ඇති දරුණුම රෝගය කෙලෙස් රෝගයයි. ''සද්ධම්මෝ ඕසදූපමෝ'' පෘථජ්ජනභාවය නමැති ගිලන් කමෙන් මිදී කෙලෙස් නමැති භව රෝගය සංසිඳුවා ගැනීමට ඇති එකම ඖෂධය සද්ධර්මයයි. ඒ නිසා ධර්මය හා සමාන වටිනා වෙනත් ඖෂධයක් භව රෝගය සුව කර ගන්න ලෝකයේ නෑ කියල, ඒ සදහම් ඖෂධය පානය කරල කෙලෙස් රෝගයෙන් සදහටම මිදෙන්න කියල තථාගතයන් වහන්සේ දහම් ඖෂධය දේශනා කළා.

ධම්මං විනා නත්‍ථි පිතාච මාතා
තමේව තානං සරණං පතිට්ඨා
තස්මාහි හෝ කිච්ච මඤ්ඤප්පහාය
සුනාථ ධාරේථ චරාථ ධම්මේ

ධර්මය හැර භව රෝගයෙන් මිදීමට වෙන පිහිටක් සරණක් සත්වයාට නැත. මවට පියාටවත් එම පිහිට රැකවරණය ලබාදිය නොහැක. එම නිසා අනවශ්‍ය බාහිර මුලා වැඩ අතහැර ධර්මය අසා දරා ගෙන හැසිර කෙලෙස් රෝගයෙන් සදහටම මිදෙන්න. මේ තමයි තථාගත අනුසාසනය.

බුදු රජාණන් වහන්සේ තමන් ශෛල්‍ය වෛද්‍යවරයෙක් බව එක බ්‍රාහ්මණයෙකුට මේ විදිහට දේශනා කළා. ''සෝහං බ්‍රාහ්මණ සම්බුද්ධෝ සල්ලකන්තෝ අනුත්තරෝ'' බ්‍රාහ්මණය මම ශල්‍ය වෛද්‍යවරයෙකි. ලෝක සම්මත වෛද්‍යවරු දරුණු රෝග අවස්ථාවලදී ශල්‍යකර්ම සිදුකරල රෝගීන්ගේ ජීවිත බේරා ගන්නවා. කපල කොටල ඉවත් කළ යුතු කොටස් බැහැර කරල, බද්ධ කළ යුතු කොටස් බද්ධ කරල රෝගී තත්ත්වය සමනය කරනව වගේ, කෙලෙස් රෝගයෙන් ගිලන් වූ පෘථග්ජනයාට රාගාදී කෙලෙස් කපල කොටල ඉවත් කරල, එකතු කර ගත යුතු, වැඩිය යුතු ගුණ දහම් පෙන්වා දෙමින් භව රෝගයෙන් මිදෙන්න අවවාද අනුසාසනා දෙන නිසා තථාගතයන් වහන්සේත් ශල්‍ය වෛද්‍යවරයෙක්.

එක් අවස්ථාවක මාගන්දිය පරිබ්‍රාජකයාට ධර්ම දේශනාවක් කරන අතරතුර නිරෝගිකම පිළිබඳ මේ විදිහට විග්‍රහයක් කළා.

ආරෝග්‍යා පරමා ලාභා
නිබ්බාණං පරමං සුඛං
අට්ඨංගිකෝච මග්ගානං
ඛේමං අමත ගාමිනං
(ම.නි. මාගන්දිය සූත්‍රය)

උතුම්ම ලාභය නිරෝගිකමයි. උතුම්ම සැපය නිර්වාණයයි. මාර්ග අතුරෙන් අරි අටඟි මඟ සියළු මාර්ගයන්ට වඩා උතුම්ය. තථාගතයන් වහන්සේ මේ විදියට දේශනා කළාම, මාගන්දිය පරිබ්‍රාජකයා උන් වහන්සේට ප්‍රසංසා කරමින්, භවත් ගෞතමයන් වහන්සේ පුදුම සහගතයි ආශ්චර්යයි, ඔබ වහන්සේ විසින් නිරෝගි බව උතුම් ලාභය බවත්, නිවන උතුම් සැපත බවත් ප්‍රකාශ කළා, ගෞතමයන් වහන්ස පුරාණ ආචාර්යවරුත් ඒක එසේම ප්‍රකාශ කරල තියෙනව කියල කිව්වා.



මාගන්දිය, පූර්වාචාර්යවරු විසින් අසන ලද නිරෝගි බව කෙබඳු එකක්ද කියල භාග්‍යවතුන් වහන්සේ ඇහුවම, ස්වාමීනි ඒ නිරෝගි බව නම් මෙයයි, නිවන නම් මේ යැයි කියල තමන්ගෙ ශරීරය අතින් පිරිමදිමින් මම නිරෝගීව වාසය කරමි, මා හට කිසි රෝගයක් නෑ කියල කිව්වා.

මාගන්දිය, උපතින්ම අන්ධයෙකුට කළු, සුදු, නිල්, රත්වන්, රතු .... ආදී පාට පේන්නෙ නෑ. වල ගොඩැලි, හිරු, සඳු පේන්නෙ නෑ. සුදු වස්ත්‍රයක් සොයන ඔහුට, කපටි පුද්ගලයෙක් තෙල් දූලි තැවරුණු වස්ත්‍රයක් දීල මේක සුදු පිරිසිදු වස්ත්‍රයක් කියල කියනවා. අන්ධයා ඒක පිළිගෙන තමන්ට සුදු පිරිසිදු වස්ත්‍රයක් ලැබුණයි කියල සතුටු වෙනවා. ඒ විදිහට ඔහු සතුටු වෙන්නෙ ඒකාන්තයෙන් ඒක නිර්මල සුදු වස්ත්‍රයක් නිසාද ? එහෙම නැත්තම් කපටියාගේ වචනය අදහ ගෙනද ?

ස්වාමීනි, ඒ අන්ධයා නිර්මල වස්ත්‍රයක් කියල හිතා ගෙන සතුටු වෙන්නෙ ඒක දැකපු නිසා නෙවෙයි, ඇස් ඇති කපටියාගේ වචනය පිළිගත් නිසා. මාගන්දිය ඒ වගේ අන්‍ය තීර්ථකයො අන්ධයන් මෙන් නියම නිරෝගි බව නොදන, නියම නිවන ගැන නොදන, නිරෝගි බව උතුම් ලාභය බවත් නිවන උතුම් සැපය බවත් ප්‍රකාශ කරනවා. මාගන්දිය පෙර පහළ වූ සම්මා සම්බුදු රජාණන් වහන්සේලා ''ආරෝග්‍යා පරමා ලාභා'' කියන මේ ගාථාව දේශනා කළා. ක්‍රමයෙන් ඒක පෘථජ්ජනයන් අතරට ගිහින් ඒ දහම් අර්ථය වැහිල ගියා. මාගන්දිය මේ ශරීරය රෝගයක්, ගඩුවක්, උලක් වගේ. එබඳු ශරීරය ඔබ නිරෝගි ශරීරයක් විදිහට පවසනවා. ඔබට නිරෝගි බවත්, නිවනත් දැක ගන්න ඇසක් නෑ කියල දේශනා කළාම, ස්වාමීනි නියම නිරෝගි බව දැන ගන්න පුළුවන් ධර්මයක් මට දේශනා කරන්න කියල ඉල්ලා සිටියා.

මාගන්දිය, උපතින් අන්ධ වූ පුරුෂයෙකුට ඔහුගේ නෑදෑයෝ ශල්‍ය වෛද්‍යවරයෙක් කැඳවල ළය විරේක, බඩ විරේක, අඳුන් ගැල්වීම්, නස්න කිරීම් කරල ඇස් සුව කරනවා. එතකොට දූලි තැවරුණ අපිරිසිදු වස්ත්‍රය හඳුන ගෙන ඒ ගැන තිබුණ ආසාව ප්‍රහීණ කරනවා. ඒ වගේම කපටි පුද්ගලයා තමන් රවටා ඇති බවත් දැන ගන්නවා. ඒ කපටියා ගැන බලවත් තරහකුත් ඇති කර ගන්නවා.

මාගන්දිය, ඒ වගේ මම ඔබට නියම නිරෝගි බව සහ නිවන් සැපය ගැන ධර්ම දේශනා කරනවා. ඒ ධර්මය අවබෝධ කර ගත්තම ඔබට නියම ඇස ලැබිල නියම ඇත්ත වැටහෙනවා. එතකොට රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන පංචස්කන්ධය ''මම, මගේ'' කියල අල්ල ගෙන හිටපු ඔබ එහි නොබැඳී ඒ දෘෂ්ටිය අතහරිනවා. එසේ අල්ලා ගෙන සිටීම නිසා භව පැවැත්මට හේතු වන කර්ම සකස් වෙනවා. ඒ කර්ම හේතු කොට ගෙන ජාති, ජරා, ව්‍යාධි, මරණ, සෝක, පරිදේව, දුක්, දොම්නස්, උපායාස පහළ වුණා කියන අදහස ඇති වෙනවා.

මාගන්දිය, ඔබ සත්පුරුෂයන් ඇසුරු කරන්න. එයින් ඔබට සද්ධර්මය දැන ගන්න ලැබෙනවා. එයින් ධර්මානුකූලව කටයුතු කරල උතුම් නිරෝගී බව ලබාගන්න පුළුවන්.

එවිට සියලු දුකෙන් නිදහස් බාවය ලැබෙනවා. මේ විදිහට උන් වහන්සේ දේශනා කළාම, ඒ කෙරෙහි පැහැදුනු මාගන්ධිය පරිබ්‍රාජකයා පැවිද්ද සහ උපසම්පදාව ලබල පසුව අරිහත්වයට පත් වුණා.

''ආරෝග්‍යා පරමා ලාභා'' කියන පාඨයේ නියම තේරුම, කෙලෙස් රෝගයෙන් නිදහස් වීම වුණත්, අද වෙන කොට ලෝකෝත්තර දහම් අර්ථය යටපත් වෙලා ලෞකික අර්ථය ඉස්මතු වෙලා තියෙනවා. අතීත බුදු රජාණන් වහන්සේලාත් ඒ ලොව්තුරු අර්ථය දේශනා කරල තිබුණත්, පසුකාලීනව පෘථජ්ජනයන් අතරට ගිහින් දහම් අදහස් යටපත් වෙලා ගෞතම බුදුන් වහන්සේගෙ කාලය දක්වාම ඇවිත් තියෙනවා. ගෞතම බුදු රජාණන් වහන්සේ නැවත වතාවක් ''ආරෝග්‍යා පරමා ලාභා'' කියන කාරණයට ලෝකෝත්තර දහම් අර්ථය දේශනා කළත්, පසු කාලීනව නැවත වතාවක් කලින් වගේම පෘථජ්ජනයන් අතරට ගිහින් දහම් අර්ථය යටපත් වෙලා අද දක්වාම ලෞකික අර්ථය ඉස්මතු වෙලා තියෙනවා.

ආරෝග්‍යා පරමා ලාභා  
සන්තුට්ඨී පරමං ධනං  
විස්සාසා පරමා ඥාතී  
නිබ්බාණං පරමං සුඛං  
(ධම්ම පදය)

ධම්ම පදයේ සඳහන් මේ ගාථාවේ ''ආරෝග්‍යා පරමා ලාභා'' කියන පද පෙළටත් ලෞකික අර්ථ කථන දීමෙන් දහම් අර්ථය යටපත් වෙලා තියෙනවා. ''ආරෝග්‍යා පරමා ලාභා'' කිව්වම, කයේ නිරෝගි භාවය උතුම්ම ලාභයයි කියල වර්තමානයේ දේශකයන් වහන්සේලාත් ප්‍රකාශ කරනවා. ලේ දන් දෙන තැන්වලත් මේ වැකිය ප්‍රදර්ශනය කිරීමෙන් පේන්නෙ ඒ ලෞකික අදහස ඉස්මතු වෙලා තියෙන බව. බුදු දහමේ සඳහන් නියම නිරෝගී බව මොකක්ද කියල මාගන්දිය සූත්‍රය කියවල නුවණැත්තන්ට වටහා ගන්න පුළුවන්. ඒ නිසා ප්‍රඥාවන්තයෝ කෙලෙස් රෝගයෙන්, භව රෝගයෙන් නිරෝගි බව ලබල සියලු සසර බන්ධනවලින් නිදහස් වෙලා උතුම් පරම සත්‍යය වටහා ගන්න උත්සාහ කරන්න ඕන. දහම් ඖෂධවල තියෙන වටිනාකම, පහත කවිවල අර්ථයන්ට සිත යොමු කිරීමෙන් වටහා ගන්න පුළුවන්.

සදහම් මහා ඖෂධ මුනි පිය දුන්නේ  
දම් ඖෂධ නිසයි භව ලෙඩ දුරු වන්නේ  
ගත හිත වෙතද ලෙඩ රෝ සමනය වන්නේ  
දම් ඖෂධ සියලු ඖෂධ පර දන්නේ

දම් ඖෂධ දෙවූ මුනි රජ ළඟ ලෙසිනේ  
සිහි කර උතුම් මුනි පියවරු වෙත බැතිනේ  
ඖෂධ මවා විහිදමු මහ ගුණ සිතිනේ  
මුනි පියවරු පුදමු මේ ගුණ දැක බැතිනේ

සිරි මුබ සුවඳ දම් ඖෂධ මුනිඳු දෙත  
දම් ඖෂධ නිසා භව ලෙඩ දුරුව යත  
මතු ලෙඩ නොමැති නිවනේ සුව හිමිම වෙත  
දම් ඖෂධ මහා ගුණ බව දැකිය යුත

සැම ලෝ සතට යම් දිනකදි ලෙඩද නැතී  
සැම ලෙඩ කෙළෙවර වූ ඖෂධ දහමෙ ඇතී  
ලැබුවොත් මෙදා ඒ රෝ දුක් දුරුම වෙතී  
නිවනේ මහා සුවයෙන් එම සෙතම දෙතී

දම් සුව විඳින විට ගත සිත සුව දෙනවා  
ගත සිත නිවි නිවී සැනසී සෙත දෙනවා  
එම දම් ඖෂධය සම කුම කොහි වෙනවා  
සැම ඖෂධම පරදන ගුණ එහි වෙනවා

එම වන් මහා දම් ඖෂධ ගෙන දුන්න  
මුනි පිය මහා ගුණ කඳ සිහි කර ගන්න  
එම මුනි පිය ගුණය සිහි කර බැති යෙන්න  
දිවමන් කල ලෙසින් ඖෂධ පුද වන්න

සදහම් මහා ඖෂධ සඟ පෙළ ගෙනෙත  
ලෝ සත වෙතට ගත සිත රෝගද නසත  
භව ලෙඩ නසා දම් සුව නිවනද දෙවත  
එම සඟ ගුණ කඳට ඖෂධ ගෙන පුදත

මහ ගුණ උතුම් දම් ඖෂධ සඟුණු වෙත  
ලැබ ගෙන ගෙනෙයි සත සෙත මහ ගුණෙනි දෙත  
ගත සිත ලෙඩ රෝග සමනද කරනු ඇත  
භව ලෙඩ සහ මුලින් දුරලා නිවන දෙත

එම ගුණ ගෙනෙන මහ සඟ පෙළ සිහි කරමු  
මුනි පිය මුල්ව ඒ සඟ පෙළ දැක පුදමු  
ළඟ ලෙස එදිවමන් කල මනසින් මවමු  
ඖෂධ මව මවා විහිදා ගෙන පුදමු

මෙම වන් මහා ගුණ කඳ සිහියට නගලා  
හිතු පැතු සියලු මහ ඖෂධ ගෙන මවලා  
දිවමන් මහා මුනි සඟ පෙළ ළඟ ඉඳලා  
පූජා කරමු මනසින් යහ ගුණ දැකලා

යහපත් ගුණ සිතින් සම වත නැගේවා  
සැම අත් පිරිසිදුව ඖෂධ මැවේවා  
හිතු පැතු ලෙස මැවී ගෙන විහි දෙවේවා  
මුනි පියවරු මුල්ව සඟ පෙළ පිදේවා

සම්බුදු මුබ දම් හඬ ගෙන දුන්නේ  
දම් ඖෂධ මේවයි ලොව වන්නේ  
සඟ පෙළ එම දම් ඖෂධ ගන්නේ  
සතට දෙවා එලෙසින් ගෙන එන්නේ

සම්බුදු දම් පද ඖෂධ වන්නේ  
හිත ගත වෙත රෝගද දුරු වන්නේ  
භව ලෙඩ තව සහමුලිනි නැසෙන්නේ  
අමා නිවන් සුවයද හිමි වන්නේ

මෙම වන් ඖෂධ පිදූ පින් අපමණ  
සසර වසන තුරු දුක් ගිනි නොම දෙන  
අට අනූ රෝගද නව අනුවක් වන  
ව්‍යාධි දුරුව යාවයි පතනෙමු දන

අට අනූ රෝග සැම සත වෙත නොවේවා  
නව අනූ ව්‍යාධි කිසිවෙකු වෙත නොවේවා  
දෙසියද තුනක් අතුරුද දොස නොවේවා  
ලෙඩ නැති නිවන් සුව වෙසෙසින් ලැබේවා

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**  
**නිග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**  
**මැටිකුඹුර, පොල්ගහවෙල**

# කේන්ද්‍රයෙන් පෙන්වන හේතු ඵල දහම... 10 වන කොටස

## නවග්‍රහ අපලවලට හේතු ඵල අනුව ධර්මානුකූල විසඳුම්

නව ග්‍රහ අපලවලට තවත් ධර්මානුකූල ප්‍රතිකර්මයක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ. එතනදි ප්‍රධාන වශයෙන්ම සෙනසුරු අපල කිව්වම තමයි බොහෝ දෙනෙක් බිය වෙන්නෙ. මොකද නව ග්‍රහයින්ගෙන් සෙනසුරු තමයි බොහොම තදබල දුක් කරදර ගෙන දෙනව කියල හුඟ දෙනෙක් විස්වාස කරන්නෙ. ඉතින් සෙනසුරු අපලවලට ධර්මානුකූල විසඳුම් මීට පෙර සඟරා කලාපයකින් ඉදිරිපත් කළත්, පසුගිය කලාපයෙන් විස්තර කළා වගේ මේ අපල අවස්ථාවලට යොදා ගන්න පුළුවන් ප්‍රතිකර්ම මෙච්චරයි කියල සීමා කරන්න බෑ. ඒ නිසා සෙනසුරු අපලවලට විතරක් නෙවෙයි, අනෙක් සියලු අපලවලටත් කරන ප්‍රතිකර්ම සම්බන්ධයෙන් මෙතෙක් නොකිය වෙච්ච තවත් පැත්තක් තමයි මේ හෙළිදරව් කරන්නෙ.

මේ සෙනසුරු අපල ආදී වශයෙන් කියන්නෙ කර්ම විපාක එන හැටි. කෙනෙක් තව කෙනෙකුට සාප කරනවා. ඕකට හරි යන්න නම් එපා ... හෙණ හතම ගහපන් ... ඒ වගේම කෙනෙක් තව කෙනෙකුට අභූත චෝදනා නගන්න පුළුවන්. සමහර විට තමන්ගෙ කෙනෙකුට කරදර කළා කියල වැරදි දෘෂ්ටියක් ඇති කර ගන්න පුළුවන්. අපේ තාත්තව මැරුවෙ ඕකා තමයි .... තමන්ගෙ හිතේ තියෙන සැකයක්, හරියට කරුණු කාරණා නොදන වුනත් මේ විදිහට දන ගෙන වගේ පිට කරන්න පුළුවන්. නමුත් ඇත්ත වශයෙන්ම ඒ මනුස්සය ස්වභාවිකව මැරිල තියෙන්නෙ. හැබැයි වෙන තරහක් මත කෙනෙක් සැකයක් ඇති කර ගෙන ඒ වගේ වැරදි දෘෂ්ටියක් හදා ගන්න පුළුවන්. ඒ දෘෂ්ටියේ ඉඳගෙන අනුන්ට සාප කරන්න, අභූත චෝදනා කරන්න පුළුවන්. ඉතින් හෙණයට හුරු කරන ක්‍රියාවලිය හදා ගත්තම හෙණහුරා වැහෙනවා. හෙණහුරා පහළ වෙලා දුක් කරදර විඳින්න හේතු වෙනවා. එතකොට හෙණහුරු එපා නම්, අනුන්ට හෙණ ගස්සවන වැඩ පිළිවෙලට අදාල ගතිය නතර වෙන්න ඕන. එදාට හෙණහුරුගෙ අපලෙන් පහර ගහන්න බෑ. එහෙනම් හෙණහුරු නොකර ඒකෙ අනික් පැත්ත වන මෙත් වැඩීම කරන්න ඕන.

එතකොට හෙණහුරු වෙන්නෙ මොනවද ?

ඕක හැඳි ගෑවිලා පලයන් .... ඕකට හෙණ ගහපන් .... ඕකුන්ගෙ පරම්පරාවටම වගතුවක් වෙන්න එපා ... ඕකගෙ රස්සාව නැති වෙයන් .... ඕකට ඉන්න හිටින්න තැන් නැති වෙයන් .... ඕකට අහවල් ලෙඩේ හැදියන් .... මේ විදිහට හිතින් පටන් ගන්න සාපය ඊළඟට වචන බවට පරිවර්තනය වෙලා අන්තිමට ක්‍රියාවට නංවන්නත් පුළුවන්. එතකොට තමනුත් හෙණයට හුරු වෙලා අන් අයත් හෙණයට හුරු කළා වෙනවා. මොකද තමන් අනුන්ට සාප වෙන විදිහට වැඩ කරන කොට ඒ



අයත් නිකං ඉන්නෙ නෑ. ඒකට ප්‍රතික්‍රියා දක්වන්නෙත් ඒ ජාතියේ සාප වැඩ පිළිවෙලකින්මයි. දහම් අවබෝධයක් නැති උදවිය ඒ විදිහට තමයි ක්‍රියා කරන්නෙ. එහෙම උදවියට කර්ම විපාක පල දෙන්න තමයි විශ්වයේ ඊට අවශ්‍ය කරන පසුතලයක් හැදිල, හිතපු කියපු කරපු ආකාරයටම තමන්ටත් කර්ම විපාක එන්න පටන් ගන්නෙ.

දැන් ඉතින් මොකද කරන්නෙ ? **අනන්ත සසරේ පටන් මගෙන් අවැඩක් අසාධාරණයක් යමෙකුට සිද්ධ වුනා නම්, මේ අනන්ත වූ බුදුන්, දහම්, සඟ කියන ත්‍රිවිධ රත්නයට ගරු කරන, ඒ චිත්ත ප්‍රසාදය ඇති කරන පුණ්‍ය ක්‍රියා කරල ඒ අනන්ත අප්‍රමාණ ආශිර්වාද ශක්තිය එකතු වෙලා මගෙන් අවැඩක් අසාධාරණයක් වූ සියලු දෙනාටම විහිදී පැතිරී පිහිටා ඒ සියලු දෙනාම සුඛිත මුදිත වෙත්වා, සසර වසනා තාක් කල් සුගතියක් මිස දුගතියක් අත් නොවී නිවන් සාක්ෂාත් කරන්න හේතු වාසනා ඇත්තෝ වෙත්වා ...** ආදී වශයෙන් කියල අධිෂ්ඨාන කරන්න ඕන. ඒ විදිහට කරගෙන යන කොට, අනන්ත සසර පටන් හෙණයට හුරු වෙච්ච / හුරු කරපු වැඩ පිළිවෙලට වන්දි ගෙවෙනවා. හැබැයි ඒක නිකං මතු පිටින් කියල හරි යන්නෙ නෑ. ඥාන සම්ප්‍රයුක්තව, මේ කියන්නෙ අහවල් කාරණයයි, මේ කියන අදහස මේකයි කියල එහෙම කියන කියන මොහොතක් ගානෙ තමන්ට තේරුම් ගියා නම්, ඒ අදහස මුල් කර ගෙන කටයුතු කරන්න පටන් ගත්ත නම්, එසේම වේවා කියල ඒ අදහසම තමන්ට එන්න පටන් ගත්ත නම් අර විදිහට වන්දි ගෙවෙනවා. එහෙම නැතිව නිකං කතාවට සාදු සාදු කිව්වට හරි යන්නෙ නෑ. වන්දි ගෙවෙන ක්‍රම රටාව දන ගන්න ඕන. ඒ කාරණය ඥාන සම්ප්‍රයුක්තව තේරුම් ගන්න ඕන.

එතකොට කොහොමද වන්දිය ගෙවෙන්නෙ ? මේ ලෝකයට මොනවද වෙලා තියෙන්නෙ ? අපට මේ හෙණහුරු අපල කියල එන්නෙ මොනවද ? තම තමන් කරගත්තා වූ කර්ම විපාක තමන්ට එනවා, ග්‍රහ වස්තු මොනව කරන්නද, මෝඩයෝ ග්‍රහ වස්තුවලට බනිනව කියල බුදුන් වහන්සේ දේශනා කරනවා. එහෙම නැතිව ඒ ග්‍රහ වස්තු මාර්ගයෙන් ඔය විපාක පල දෙන්නෙ නෑ කියල නෙවෙයි කිව්වෙ. කර්ම විපාක හැදෙන රටාව ඕකයි. මුල අමතක කරල පසුව එන අතුරු ඵලයන්ට බැන්නට හරි යන්නෙ නෑ. වරදක් කරල දඬුවම් විඳින කොට ඒ වරදට ගොදුරු වෙච්ච කෙනා නෙවෙයි දඬුවම් දෙන්නෙ. උදාහරණ විදිහට කෙනෙක් තව කෙනෙකුට ගැහුවොත්, අත පය කැඩුවොත්, ඒ කාරණය දන ගෙන පොලීසියෙන් තමයි ඒ පුද්ගලයට විරුද්ධව උසාවියේ නඩු දාන්නෙ. එතකොට තීන්දුව එනවා, මේ බරපතල වරදක් කරපු කෙනෙක් කියල. ඊට පස්සෙ උසාවියෙන්ම ඒ දාමරිකයන්ට දඬුවම් නියම කරනවා. ඊළඟට ඇද ගෙන අර ගෙන යන්නෙ අර ගුටි කාල අතපය කැඩිල ඒකට ගොදුරු වෙච්ච කෙනා විසින් නෙවෙයි. හොඳට හයි හත්තිය තියෙන උස මහත ඒකට ඉන්න නිලධාරීන් තමයි මෙහාට

වරෙන් කියල මාංචු දාල ගෙනියන්නෙ. ඉතින් කූඩුවට දාල දෙක තුනක් ඇනල ඊට පස්සෙ බරපතල වැඩ ගන්නවා. දැන් ඉතින් මං උඹලට මොනව කළාටද මට ගහන්නෙ, වද දෙන්නෙ කියල ඇහුවට හරි යන්නෙ නෑ.

ඊට පස්සෙ ඒ පුද්ගලය එතන ඉඳන් මැරිල ගියාමත් සමහර විට යම ලෝකෙදි යම රජ්ජුරුවො ඉදිරියේ නඩු අහල යම පල්ලන්ට බාර දෙනවා. වැරදි කරල උසාවියේ නඩු අහල දඬුවම් නියම කරල බන්ධනාගාරයට බාර දෙනව වගේ දෙයක් තමයි එතනදිත් සිද්ධ වෙන්නෙ. ඒ වගේ යම රජ්ජුරුවො ඉදිරියේ නඩු අහල, අන්තිමට අපායෙ යම පල්ලන්ට බාර දෙන ක්‍රමයක් තියෙනවා. එතැනට ගිහින් යම පල්ලො ඇන ඇන වද දෙන කොට, ඇයි මට ගහන්නෙ මං උඹලට මොනව කළාටද කියල ඇහුවට හරියන්නෙ නෑ. ගුප්ත ලෝකයේ අපට නොපෙනෙන එහෙම පැත්තකුත් තියෙනවා. ඒ කාරණය මීට කලින් මේ සඟරාවෙ ලිපි පෙළකින් විග්‍රහ කරල තියෙනවා.

මෙන්න මේ විදිහට විපාක ක්‍රියාවලියක් එන ලෝක ධර්මතාවයක් තියෙනවා. ඒ විපාක ධර්මතාවය ක්‍රියාත්මක වෙන කොට තමන්ගෙන් අසාධාරණයට හිංසාවට ලක් වෙච්ච කෙනා එතැනට එන්න ඕන නෑ දඬුවම් දෙන්න. අර ධර්මතාවයේ ක්‍රියාවලියෙන් සජීවී අජීවී වස්තූන් ඊට අනුව ක්‍රියාත්මක වෙලා, කර්ම ශක්තියේ බලවේගයෙන් මූලිකව ක්‍රියාත්මක වෙලා, තවත් ග්‍රහ වස්තු ඇසුරු කර ගෙන තමයි අර කියන විපාක එන්නෙ. ඉතින් සෙනසුරු අපල ආවම, ඕක සංසාරයේ හැටි කියල සමහරු එහෙමත් කියනවා. හැබැයි කතාවට එහෙම කිව්වට සංසාරයේ හැටි ඇත්තටම දන්නෙ නෑ. එතකොට මහ ග්‍රහ වස්තුවක් මේ ලෝකයට ඇවිත්, ඕකගෙ රස්සාව නැති වෙනවා ... අතක් පයක් කැඩිල යනවා ... ආදී වශයෙන් කාටවත් කියල යනවද ? එහෙම නැත්නම් අර සෙනසුරුගෙ සංකේතය විදිහට පෙන්වන කකුලෙ තුවාලයක් බැඳ ගත්තු මහල්ලෙක් වගේ කෙනෙක් ඇවිත්, තොගේ රස්සාව නැති වෙනවා ... අතක් පයක් කැඩෙනවා ... කියල යනවද ? මෙච්චර කාලයකට කවුරුවත් එහෙම කෙනෙක් දැකලත් නෑ, කියලත් නෑ. හැබැයි මිනිස්සුන්ගෙ රස්සාවල් නම් නැති වෙලා තියෙනවා, අතපය කැඩිල තියෙනවා, උන් හිටි තැන් නැති වෙලා තියෙනවා. බැලුවම කාගෙන්ද ඒව සිද්ධ වෙලා තියෙන්නෙ ?

කර්ම විපාක එන කොට තමන්ගෙ ක්‍රියාකලාපය රුස්සන්නෙ නැති විදිහට ඒ රැකියා ස්ථානය ක්‍රියාත්මක කරන පාලකයන්ටත් පේන්න දැනෙන්න පටන් ගන්නවා. තමන් ඇසුරු කරපු පුද්ගලයින්ගෙන් හෝ අභූත චෝදනා එල්ල වෙන්න පටන් ගන්නවා. එහෙම දෙයක් කරල, නැති වැරදිවලට පටලවල හරි චරිතය කෙළෙසනවා. තමන්ගෙ හැකියාව කෙළෙසල ඒ වගේ හැඟීමක් පාලකයින්ට ඇති කරවනවා. එතකොට ඒ පාලකයො කල්පනා කරනවා, මේ පුද්ගලය මෙහෙම වැරදිත් එක්ක තියාගෙන හරියන්නෙ නෑ, වෙලාවට වැඩට එන්නෙත් නෑ, මෙහෙම වැඩ කරල කොහොමද මේ වැඩපල ගෙනියන්නෙ කියල. එහෙම හිතල ඒ පුද්ගලය රස්සාවෙන් අස් කරල වෙන කෙනෙක් ගන්නවා. ඒ විදිහට ක්‍රියාත්මක කරන්න හිත් එනවා.

එහෙම නැත්නම් තමන්ගෙ හතුරෙක් හරි තමන්ගෙ සුළු වරදක් විසාල වැරැද්දක් විදිහට දැකල පිරිසක් එක්ක එකතු වෙලා අත පය කඩන්න මරන්න එන්න පුළුවන්. නැත්නම් පැත්තක යන වරදකට, තමන් කිසිම සම්බන්ධයක් නැති වරදකට ගොදුරු වෙන්න පුළුවන්. එහෙම දේවල් අදටත් ඕන තරම් රටේ ලෝකයේ අහන්න ලැබෙනවා. එහෙමත් නැත්නම් මස් ලේ ඇහැට නොපෙනෙන ගුප්ත ලෝකයේ අමනුස්ස බලවේග ක්‍රියාත්මක වෙලා පුද්ගලයව නන්නත්තාර කරන්න, විනාස කරන්න පුළුවන්. හැබැයි ඒ කරන්නෙත් මේ ලෝකයේ තියෙන භෞතික දේවල් උපයෝගී කර ගෙන ඒ හරහා.

දැන් ඉතින් අපි දන්නෙ නෑ ඒ සෙනසුරු අපලය පල දුන්න හැටි. කාගෙන්ද ආවෙ, කොහෙන්ද ආවෙ කියල දන්නෙ නෑ. නමුත් එහෙම ක්‍රමවේදයක්, නොපෙනෙන බලවේගයක් මේ විශ්වය තුළ ක්‍රියාත්මක වෙනවා. අපල කාලවලදී ධර්මතාවය ක්‍රියාත්මක වෙන්නෙ එහෙමයි. තමන් කරපු ඒවා තමන්ට එනව මිසක් තමන් නොකරපු ඒවා එන්නෙ නෑ. සසරෙදි අනුන්ට හිංගියක් හිංසාවක් කළා නම්, නියමිත කාලය එනකොට සමනන්තරය හැදිල අනන්තරය විදිහට ඇදිල එන්නෙ ඒකට ගැලපෙන තමන් කරපු දෙයක් තිබුණ නම් ඒක. හැබැයි සමහරු ඉන්නවා ඊරාෂ්ඨක කාලයක් ආවත් ඔහේ නිකං ගෙවිල යනවා, මොන ප්‍රශ්නයක්වත් නෑ. නමුත් සියල්ලන්ටම එහෙම වෙන්නෙ නෑ. බොහොම කලාතුරකින් කෙනෙකුට තමයි එහෙම වෙන්නෙ. මොකද සමනන්තරය විදිහට කාලය, පරිසරය ආවට තමන් අනුන්ට සංසාරයේ ඒ ජාතියේ හිංගි හිංසා අවැඩ අසාධාරණ කරල තිබුනෙ නැත්නම්, එහෙම සාප කරන මානසිකත්වයක් ගොඩ නගල තිබුණෙ නැත්නම්, ඒ කාලය සෙනසුරු අපල නොකරන විදිහට පිහිටනවා. එතකොට සෙනසුරුගෙන් කියල කරදරයක් බාධකයක් නෑ. එහෙම නැත්නම් සංසාරයේ ඒ වගේ අවැඩ අසාධාරණ කරල තිබුනත්, දැන් ඒකට ප්‍රතිකර්ම, ප්‍රයෝග සම්පත්ති දැන ගෙන ඒවා උපරිමයෙන්ම ක්‍රියාත්මක කරගෙන ඥාන සම්ප්‍රයුක්තව වැඩ කරන කොටත් එහෙම වෙන්න පුළුවන්. එතකොට මේ ඊරාෂ්ඨකයක් කියල කියන්නෙ සමනන්තරය. මහ දසා, අතුරු දසා ආදී වශයෙන් කියන්නෙත් සමනන්තරය. ඒ කියන්නෙ මේ ඊරාෂ්ඨක කියන ඒවා ජීවිත කාලය තුළ හැමෝටම එනවා. ඒ කාලයෙදි අනන්තරයක් විදිහට පෙර කරපු දෙයක් තිබුණොත් ඒක ඇදිල එනවා. එහෙම අනන්තරයක් නැත්නම් ඊරාෂ්ඨක කාලය නිකං ගෙවිල යනවා. අනන්තරය විදිහට කුසල් හෝ අකුසල් තමයි ඇදිල ඇවිත් සැප හෝ දුක් විපාක දෙන්නෙ. දුක් විපාක දෙන කොට තමයි අපල කියන්නෙ.

ඉතින් මේ කාරණා පිහිටපු චක්‍රයක් තියෙනවා. මේ මේ අංශකයට ග්‍රහයා පිහිටියම එන්නෙ විස, මේ මේ අංශකයට ගියාම විස එන්නෙ නැති වෙලාව .... ආදී වශයෙන් ඔහොම ක්‍රමයක් තියෙනවා. ඒක බොරුවක් නෙවෙයි. එක එක චක්‍රයට කිරණ වළලු යන, ඒ ඒ ක්‍රම රටාවකට පිහිටපු, ඒ ඒ චුම්බක රේඛා තියෙනවා. ඒ අනුව කිරණ විහිදෙන ක්‍රම රටාවක් තියෙනවා. හොඳ නරක දෙකටම එහෙමයි. ඒවා බොහොම සියුම් තැන්. ඉතින් ඒ වගේ දේවල් විග්‍රහ කිරීමත් මහ ගැඹුරු දෙයක්. විග්‍රහ කළත් හුඟක් අයට තේරුම් ගන්න අමාරුයි. මොකද ලෝක විෂය අචින්ත්‍යයි.

ඒ නිසා මේ හැම අපලයකදිම කරන්න ඕන පළවෙනි ප්‍රතිකර්මය බුදු දහමෙ පෙන්වනවා. ඒ ගැන දැනුවත් වෙන්න ඕන, ඥාන සම්ප්‍රයුක්ත වෙන්න ඕන. අනන්ත අප්‍රමාණ සංසාරයේ මගේ අතින් අවැඩ අසාධාරණයන්ට, හිංගි හිංසාවන්ට ලක් වූ ලෝක සත්වයෝ අද කෙබඳු තැනක කෙබඳු භවයක ජීවත්ව හිටියත් ඒ සියල්ලටම මම කමා කරනවා, ඒ අයට මගෙන් යම් කිසි හිංගි හිංසාවක් අවැඩක් අසාධාරණයක් වුනා නම්, ඇත්ත වශයෙන්ම ඒක අයහපත් දෙයක්, නොවිය යුත්තක්, ඒක දැන් මට වැටහෙනවා ..... ආදී වශයෙන් අදහස් ගත්තම තමන්ගෙන් ලෝකයට වෙච්ච අවැඩ අසාධාරණ, වැරදි දේවල් හැටියට දකින්න පටන් ගන්නවා. එතකොට වරද හැඟවෙන්නෙ නෑ. ඒ කියන්නෙ වසං වෙන්නෙ නෑ. ඒක දකින මානසිකත්වය ගොඩ නැගෙන කොට, තමන්ගෙන් වෙච්ච අවැඩ අසාධාරණ ගැන හිත කම්පාවට පත් වෙනවා. ඒත් එක්කම අනුකම්පාවකුත් ඇති වෙනවා.

ඒ මානසිකත්වය මේ බණ දහම් අහල ගොඩ නැගෙන්න ඕන. ක්‍රමයෙන් මෙත් වඩාගෙන යන කොට ඒ හැඟීම එනවා.

''අනේ මගේ අතින් අනන්ත අප්‍රමාණ සංසාරයේ යම් කෙනෙකුට හෝ සත්ව පිරිසකට අංශු මාත්‍රයක හෝ අවැඩක් අසාධාරණයක් වරදක් ප්‍රමාද දෝසයක් සිද්ධ වුනා නම් ඒක මොන තරම් අපරාධයක්ද ? මොන තරම් සාපයක්ද ? අනේ මෙහෙම දෙයක් මින් මතුවට නම් මගෙන් සිද්ධ වෙන්න එපා. ඉතින් මම දැන් මොකද කරන්නෙ ? දැන් වෙච්ච දේවල්වලට කරන්න දෙයක් නෑ. ගිය නුවණ ඇතුන් ලවාවත් අද්දවන්න බෑ. හැබැයි ඒක කමා කරල මට වන්දියක් නම් ගෙවන්න පුළුවන්. මොකද එදා නොදැකපු උතුම් ගුණ, අද උතුම් ගුණ හැටියට මට පේනවා....''

මෙන්න මේ විදිහට වැටහෙන්න පටන් ගන්නවා. ඒක ඥාන ගෝචර දහමෙ ස්වභාවයක්. ඒ බුදු දම් සඟ ගුණ ඇසුරු කරන කොට, තවත් ඒ හා සමාන රත්නයක් ලෝකයේ නෑ කියල අදහස ඇවිත්, එබඳු ගුණ හිතට අර ගෙන වඩනව නම් ඒ මොහොතේ නැගෙන මහා පුණ්‍ය ශක්තිය අප්‍රමාණයි. එබඳු වන්නා වූ ගුණ උපහාරයන්ගෙන් ගරු කරල, මම අද මේ විදිහට කටයුතු කරනවා, අන්න ඒ ලැබෙන පුණ්‍යස්කන්ධය තමයි මට වන්දි වශයෙන් ගෙවන්න තියෙන්නෙ කියල ප්‍රාර්ථනා කරල අධිෂ්ඨාන කරල, අද මම මේ කරගත්තු උතුම් පුණ්‍ය ආශිර්වාදයන් මගෙන් අනන්ත සසර පටන් අවැඩට අසාධාරණයන්ට ගෝචර වෙච්ච අයට විහිදී පැතිරී පිහිටා කොතැනක හිටියත් ලැබේවා, ඒ සත්ව කොටස් දුගතියක ඇත්නම් දුගතියෙන් මිදෙන්න හේතු වාසනා ලැබේවා, සුගතිගාමී වී මතු නිවන් සාක්ෂාත් කර ගන්නත්, එසේ සියලු අභිවෘද්ධීන් අත්වෙන්නත් හේතු වේවා කියල ආශිර්වාදාත්මකව මේ හැඟීම යවනව නම්, ඒ අනන්ත වූ මහා ඥාන සම්ප්‍රයුක්ත ශක්තිය විහිදිලා පැතිරිලා පිහිටල, ගලන ගංගාවක් අවසානයේ මහ මුහුදේ පිහිටනව වගේ, වසින මහ වැසි ජලයක් ඇත්ද වැව් අමුණු ගංගා ඇල දොළ පුරවගෙන මුහුදට යනව වගේ, ඒ ආකාරයටම ඔය පිනත් විහිදිලා පැතිරෙනව කියල බුදුන් වහන්සේ දේශනා කරනවා. ඒ කාරණය ඥාන සම්ප්‍රයුක්තව කළාම ඒ පින ගිහින් පිහිටනවා. එතකොට තමන් කරපු අවැඩ අසාධාරණයන්ට, සාපයන්ට අප්‍රමාණ ශක්තියකින් වන්දි ගෙවිල නිදහස් වෙනවා.

ඉතින් මේ බුද්ධ සාසනයේ ධර්ම ඥානයන් පහළ කරගත්තු ආර්යන් ඇසුරු කරගෙන, එබඳු සත් පුරුෂ ඇසුර ලබාගෙන, ගුණ ධර්මයන් තේරුම් අරගෙන ඒ ටික ඔය විදිහට කරගත්තු කෙනාට ඒ වාසනාව ලැබෙනව මිසක් අනෙක් අයට ඕව කියල දෙන්නවත් කෙනෙක් නෑ. ඒක අති දුර්ලභයි. ඒ වගේ මාර්ගය පෙන්වල දුකින් මුදවන්න ලෞකික වශයෙන් හෝ කියල දෙන්නවත් කෙනෙක් නෑ. ඥාන ගෝචර නැති වුණාම කොහොම කියල දෙන්නද ? එතකොට ඉතින් මොනව හරි පොතක පතක තියෙන දෙයක් කට පාඩම් කර ගෙන ලොකුවට උඩඟු වෙලා ඒක කියව කියව ඉන්නව මිසක්, අද හුඟක් අයට මේ යථාර්ථය පෙන්වා දෙන්න හැකියාවක් නෑ. එහෙම පෙන්වා දෙන්න පුළුවන් අයත් බොහොම දුර්ලභයි.

ඒ නිසා තේරුම් ගන්න ඕන, අන්න ඒ පින විහිදවල අනුමෝදන් කරන කොට, ඒ ශක්තිය පිහිටන කොට, අනන්ත සසර පටන් තමන්ගෙන් වෙච්ච අවැඩ අසාධාරණයන්ට වන්දි ගෙවෙන්න පටන් ගන්නවා. බුදුන් වහන්සේ මේ කාරණය මෙත්තා සහගත කාය, වචී, මනෝ කර්ම වඩනව කියල පෙන්වා දෙනවා. ඥාන සම්ප්‍රයුක්තව ඒ ටික කෙරුවොත් ඒ පුද්ගලයට මතු ගෙවන්න තියෙන පාප කර්ම මෙච්චරයි කියල කියන්න බෑ, ඒ තරම් ගෙවිල ඉවරයි කියල බුදුන් වහන්සේම පෙන්වනවා. ඒ විදිහට පාප කර්ම ගෙවා ගෙන අපල ඉවත් කර ගන්න පුළුවන් ක්‍රමයක් තියෙනවා. ඒක දන්නෙ නැතිව කොච්චර යන්ත්‍ර මන්ත්‍ර බැඳ ගත්තත්, ආරක්ෂාවට පිරිස් තියාගෙන හිටියත් හරි යන්නෙ නෑ. එහෙම දෙයක් නෑ කියනව නෙවෙයි, ප්‍රබල කර්ම විපාක විඳින්න කාලය එන කොට ඒ වගේ දේවලුත් කරන්න වෙනවා. ඒ නිසා ඒක නරකයි කියනව නෙවෙයි, නමුත් ඒක ප්‍රයෝග සම්පත්තියට අයිති උපක්‍රමයක් මිසක් ප්‍රතිකර්මයක් නෙවෙයි. උපක්‍රමවලින් විපාකය දුරස් වෙනව මිසක් ගෙවෙන්නෙ නෑ. නමුත් සදාතනිකව මිදෙන්න අවශ්‍ය දහම් ප්‍රතිකර්මය තමයි මේ විග්‍රහ කළේ. ඒ විදිහට ගිහින් මිදුනොත්, ඒ පුද්ගලයට නැවතත් දුගතියකට යන්න හේතුත් නෑ. ඒ වගේ අපල එන්න හේතුත් නෑ. ඒ කර්ම ගෙවිල යහපත් වුනොත් කිරි ඉතිරෙන්න පටන් ගන්නවා. පෙර සසරෙ කරල තිබ්බ්ච පිං කුසල් ඇදිල ඇවිත් සමනන්තරයට සම්බන්ධ වෙලා පුණ්‍ය ශක්තිය බලවත්ව නැගිල එනවා. නමුත් කොච්චර හරි ගියත්, ඒ වෙන කොට තියෙන අවබෝධය නිසා ඒ පුද්ගලය ඒක අල්ල ගෙන බැඳෙන්නෙත් නෑ. නැත යන වචනයක් අහන්න නොලැබිලා උතුම් නිවන් සාක්ෂාත් කර ගන්න හේතු වෙනවා.

ඒ වගේම අපි පිනක් කර ගත්තම, පෙර කරපු පාප කර්මයකුත් තිබුණ නම් ඒ අවස්ථාවෙදි ඒ පාපය විපාක නොදී අර පිනෙන් යටපත් වෙන්න පුළුවන්. ඒකෙ අනිත් පැත්ත ගත්තොත්, දැන් පවක් කරන කොට පෙර පිනක් විපාක දෙන්න තිබුණ නම් ඒ පින යටපත් වෙන්න පුළුවන්. මේ සම්බන්ධයෙන් හොඳ උදාහරණයක් දහම් කතාවක සඳහන් වෙනවා. එක්තරා උපාසක මහත්තයෙක් සිල් ගුණ වඩන තවුසෙකුට ඇප උපස්ථාන ඇතුලු සියලු කටයුතු ඉටු කර දෙමින් හිටියා. තවත් කෙනෙක් ඒ කාලෙ හැටියට රා බීල මත් වෙලා මේ තවුසගෙ කුටියට ගල් මුල්වලින් ගහල බැනල යනවා. හැබැයි මේ දෙන්නම යාළුවෝ. ඒ කියන්නෙ සාමාන්‍යයෙන් කතා බහ කරල යනවා. ඉතින් දවසක් දෙන්නම ඔහොම කතා කර කර යන කොට අර බේබදු මනුස්සය, උඹ මේ මොකක්ද කරන විකාර වැඩේ ඕව කරල උඹට මොනවද ලැබුනෙ .... ආදී වශයෙන් අර තාපස තුමාට ඇප උපස්ථාන කිරීම ගැන දොස් කිව්වා.

දැන් ඉතින් ඒ උපාසක මහත්තය යන ගමන් කල්පනා කරනවා, මේ අන්ධ මිනිස්සුන්ගෙ හැටි අනේ ඇස් අන්ධ වෙච්ච මිනිස්සු මෙහෙමනෙ යන්නෙ කියල. ඉතින් මේ කතාව අහගෙන හිටපු දේවතාවෙක් මේ උපාසක මහත්තයට පිහිට වෙන්න ඕන කියල තමන්ගෙ පුණ්‍ය සෘද්ධියෙන් පොළව යට තිබ්බ්ච මැණිකක් හෝ මවපු මැණිකක් ඒ යන ගමන් මාර්ගයට දැම්මා. නමුත් ඒ විදිහට කල්පනා කර කර යන කොට හරියට පාර පේන්නෙ නෑ. මොකද වෙන කල්පනාවක ඉන්නෙ. ඒ නිසා මේ උපාසක මහත්තය මැණික් ගලේ හැපිල වැටෙන්න ගියා. ඒකත් ඉතින් ඒ මනුස්සයගෙත් වෙලාවෙ හැටි. එතකොට අර පිටිපස්සෙන් ආපු බේබදු මනුස්සය දැක්කා මේ හැපුනෙ මැණික් ගලක් කියල. දැන් ඒ මනුස්සය මැණික අහුල ගෙන මෙහෙම කියනවා. බලපන්කො උඹ දැන් මෙච්චර කලක් අරූට ඇප උපස්ථාන කරනවා, ඒත් උඹේ කකුල තුවාල වුනා, මම ඌටයි උඹටයි බැණ බැණ ඉඳලත් මේ බලපන්කො මට ලැබිච්ච මැණික. මෙහෙම කියල අර මැණික් ගල පෙන්නුවා. ඒක දැකල අර හොඳට හිටපු මනුස්සයත් අන්තිමට දෘෂ්ටි ගත වුණා. ඇත්ත තමයි මමත් මීට පස්සෙ ඒ තාපසයට සලකන්න යන්නෙ නෑ කියල අදහස් ගත්තා.

ඒ අතර අර දේවතාවා මේ වෙච්ච සිද්ධිය දැකල මේ විදිහට විස්තරයක් කිව්වා. තාපස තුමාට සත්කාර කරපු උඹට තිබුනෙ මාරකයක්, උඹේ අනික් යාළුවට ලැබෙන්න තිබුනෙ විසාල සම්පත්තියක්. නමුත් අර තාපස තුමාට කරදර කරල දොස්

# වාස්තු විද්‍යාවේ හේතු ඵල සම්බන්ධය දහම් ඇසින් ....

**10 වන කොටස**

වාස්තු දෝස ගැන කතා කරන කොට අද හුඟක් ගෙවල්වල දකින්න තියෙන දෝසයක් තමයි, උළුවහු දොරවල් ගෙයි බිත්තියේ මුල්ලටම වෙන්න සවි කර තිබීම. මේකෙන් එන දෝසය 100% ක්ම විද්‍යාත්මකව පැහැදිලි කිරීම ගැඹුරු කාරණයක් වුනත්, ඒ වගේ දෝස නිසා ඒ ගෙවල්වල ඉන්න මනුස්සයින්ට මොනව හරි කරදර බාධක එනවයි කියන කාරණය අත්දකින්න තියෙන දෙයක්.

මේ දෝසය වාස්තු විද්‍යාවෙදි පෙන්වන්නෙ හරියට නිකටෙ කට තියෙනව වගෙයි කියල. බල්ලගෙ කට තියෙන්නෙත් නිකටෙ. එතකොට හරියට නිකටක් නෑ වගේ. ඒක තමයි උපමාවට කියන්නෙ. එතකොට මේ දෝසය නිසා බල්ලෙකුට වගේ, ලැබෙන්න තියෙන සැලකීම් අඩු වෙනවා. ඒ කියන්නෙ බල්ලෙකුට එන අවඥාව වගේ ගෙදර අයටත් ලැබෙන්න තියෙන සැලකීම් අඩු වෙනවා. විශේෂයෙන් ඉස්සරහ දොරේ ඒ දෝසය ආවොත් ගෙදර ප්‍රධානියාට තියෙන සැලකීම් අඩු වෙනවා. ඉස්තෝප්පු කාමරයක නම් ඒ ගෙදර ඉන්න ආගන්තුක අයට සැලකීම් අඩුයි. සාලයට ඇතුල් වෙන තැන කාමරයක් නම් ළමයින්ට තමයි බලපාන්නෙ. ඇතුල් කාමරවල ඒ දෝසය ආවොත් ඒ ගෙදර ඉන්න ගැහැණු ළමයින්ට සැලකීම් අඩුයි. කුස්සියේ දොරක නම් ගෘහණියට ඒ දෝසය එනවා. වෙනත් විදිහකින් කියනව නම්, දොර බිත්තිය කොනටම හිටින්න සවි කළාම ඒ ගෙදර අයත් කොන් වෙනවා. ඊට අමතරව නොයෙක් ලෙඩ රෝග කරදර බාධකත් එන්න පුළුවන්.

ඒ වගේම අද තියෙන දියුණු කිරිලියානු ක්‍රමයට ගත්තු ඡායා රූපවලිනුත් ඒ කාරණය යම් තරමකට ඔප්පු වෙලා තියෙනවා. එතනදි ගෙදරක දොරක්, බිත්තියේ මුල්ලටම හිටින්න සවි කරල කිරිලියානු කැමරාවලින් ගත්තු ඡායාරූප තියෙනවා. ඊළඟට ඒ දොර ටිකක් එහාට වෙන්න සවි කරල ගත්තු ඡායාරූපත් තියෙනවා. දැන් මේ අවස්ථා දෙකේදි ඒ ඡායාරූප දෙආකාරයකට තමයි සටහන් වෙන්නෙ. ඒ කියන්නෙ අර මුල්ලටම වෙන්න දොර සවි කරල ගත්තු ඡායාරූපයේ ඕරා වළල්ල රතු පාටට හුරුයි. අනෙක් ඡායාරූපය කහ පාටට හුරුයි. ඉතින් රතු කියන්නෙ යම් කිසි විදිහක ගිනි ගන්න ස්වභාවයක්. ඒ කියන්නෙ බිත්තියක් මුල්ලටම වෙන්න උළුවහු දොරවල් සවි කරන්න හොඳ නෑ. අඩු ගානෙ අඟල් 9 ක් වත් මුල්ලට දුර තියල තමයි සවි කරන්න ඕන. ඒ කියන්නෙ මුල්ල අවහිර නොවෙන්න යම් කිසි ඉඩක් ඉතිරිව තියෙන්න ඕන. ඒ වගේම හුඟක් දුරින් දාන්නෙත් නෑ. මොකද දොර අරින කොට අවකාශය අපතෙ යන නිසා. අනෙක යම් කිසි පාදයකට හිටින්න තමයි උළුවස්සක්, දොරක් දාන්න ඕන.

එතකොට මෙතන තියෙන්නෙ ශක්ති විග්‍රහයක්. අර විදිහට මුල්ලටම වෙන්න උළුවහු දොරවල් ආදිය සවි කළාම, බැලූ බැල්මටම ඒ මුල්ලෙ තියෙන සෘජු ශක්තිමත් ගතිය අඩු වෙනවා. මොකද මුල්ලක් කියන්නෙ ශක්තිය දරාගෙන ඉන්න ස්ථානයක් නිසා සාපේක්ෂව එතන ශක්තිමත්ව තියෙන්න ඕන. ඒ වගේම මුල්ලක කම්පනය වැඩි නිසා ඒ ස්ථානයේ දොර ජනෙල් සවි කළාම ශක්තිමත් බව අඩු වෙලා ශක්තිය ☞

---

කියල කර ගත්තු විපාකය නිසා, ඒ ලැබෙන්න තිබ්බ්ච සම්පත්තිය මැණිකක් විතරක් ලැබිල ඒ මට්ටමින් නතර වුණා. එහෙම නැත්නම් රාජ්‍යයක් පහළ වෙන්න තරම් විසාල සම්පත්තියක් ලබන්න තිබුණා. අර කරගත්තු විපාකය නිසා ඒ සම්පත්තිය පිරිහිලා ගිහින් තමයි මැණිකකින් නතර වුණේ. උඹට තිබුනෙ මහ මාරකයක්. උඹ අර තාපස තුමාට කරපු සත්කාර නිසා කකුල විතරක් තුවාල වෙලා මාරකයෙන් බේරුණා.

ඉතින් ඒ දේවතාවා මෙහෙම විස්තරයක් කළාම අර උපාසක මහත්තය ඒ ගැන පැහැදිලා තාපසතුමාට දිගටම සත්කාර කළැයි කියල සඳහන් වෙනවා. එතකොට ඒ තිබ්බ්ච මාරකයෙන් බේරෙන්න හේතු වුනේ ගුණවතෙකුට කරපු සත්කාරයක්. ඒ ශක්තියෙන් අර විපාකය කැපුණා. ඒ කියන්නෙ මරණයට පත් වෙන්න තිබ්බ්ච පාප විපාකය පුණ්‍ය ශක්තියෙන් කැපිල ගිහින් තුවාලයක් විතරක් සිද්ධ වෙලා ඒ මට්ටමින් බේරුණා. අර බේබදු මනුස්සය පවක් කරගත්තු නිසා තිබ්බ්ච මහා පුණ්‍ය ශක්තිය කැපිල ගියා. එතකොට මේ **ගුණ යහපත් අයට ඇප උපස්ථාන කරනවයි කියන්නෙ අපලවලට හොඳ ප්‍රතිකර්මයක්.** ඒක උපක්‍රමයක් නෙවෙයි. උපක්‍රමයයි ප්‍රතිකර්මයයි කියන්නෙ කාරණා 2 ක්. ප්‍රතිකර්මයක් කළොත් ඒකෙන් පෙර කරපු පාප කර්මයට ප්‍රතිකර්ම වෙලා ඒ පාප විපාකය ගෙවිල යනවා. නමුත් උපක්‍රමවලින් විපාකය ඈත් වුනාට කවද හරි ඇදිල ඇවිත් පල දෙන්න පුළුවන්.

ඉතින් මෙන්න මෙහෙම තේරුම් ගන්න පුළුවන් ක්‍රම රටාවක් තියෙනවා. ඒකයි මේ බුද්ධ සාසනයේ තියෙන වටිනාකම. හැබැයි මේ කියන කාරණය වැටහෙන්න ඕන. තමන්ට මේ කියන දේ වැටහිච්ච දවසට තමයි ඥාන සම්ප්‍රයුක්ත හිත් පහළ වෙන්න පටන් ගන්නෙ. ඒ අනුව තමන්ගෙ හිතටත් ඒ අප්‍රමාණ ගුණ හැඟෙන්න පටන් ගන්නවා. එතකොට සීලයත්, සමාධියත් නැගිල ප්‍රඥාව වැඩෙනවා, චිත්ත ප්‍රසාදය නැගෙනවා. සියළු මාර්ග පෑදිලා එනවා. ඒ තමයි ක්‍රම රටාව. ඒකට තමයි කල්‍යාණ මිත්‍ර සම්පත්තිය හෙවත් සත් පුරුෂ සංසේවනය අවශ්‍යයි කියන්නෙ. අන්න ඒ ආධාර මාර්ගයෙන් තමන්ගෙ කටයුතු කරගන්න බොහොම පහසුයි. හැබැයි ඥාන සම්ප්‍රයුක්තව දැන ගෙන ඉන්න ඕන. එහෙම නැතිව, හාමුදුරුවො කරයි අපිට නිකං බලාගෙන ඉන්න විතරයි තියෙන්නෙ කිව්වට හරි යන්නෙ නෑ. බලමු අට පිරිකරක් තියල හරි යයිද කියල ?... හරි ගියේ නැත්නම් හාමුදුරුවන්ටත් දෙකක් කියල තමයි එන්නෙ .... ආදී වශයෙන් ඔය ජාතියේ අදහසින් ආව නම් වැඩක් නෑ. ඒවා පිං අතේ වැඩ නෙවෙයි. මේ හේතු ඵල න්‍යාය ධර්මයක් පෙන්වන්නෙ. ඒක ඥාන ගෝචරයි. ඒක අහගෙන තේරුම් අරගෙන කටයුතු කරන කොට වරදින්නෙ නෑ.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

අපතෙ යාමකුත් සිද්ධ වෙනවා. ඒ වගේ ස්ථානවල හැම තිස්සෙම පියවි ඇහැට නොපෙනෙන රතු පාට කිරණ ගොන්නක් තමයි තියෙන්නෙ. නමුත් ඒ දොර ජනෙල්, ටිකක් එහාට මෙහාට ඇත් කරල දැම්මම අනවශ්‍ය විදිහට කම්පනය වීම නතර වෙනවා. යම් කිසි සුද්ධ මට්ටමක ස්ථාවර බවක් ඇති වෙනවා. ඉතින් ඊට වඩා එහාට ඒකට හේතුව 100% ක්ම විද්‍යාත්මකව පැහැදිලි කරන්න බැරි වුනත්, මේ දෝස නිසා මනුස්සයින්ට ලෙඩ රෝග කරදර වැඩිපුර ඇති වෙනවයි කියන කාරණය අත්දකින්න තියෙන දෙයක්. ඒ විදිහට ලෙඩ රෝග කරදර එනකොටත් ගෘහ මූලිකයගෙ පටන් ඒ ගෙදර ඉන්න ළමයි, ගෘහණිය ඇතුළු සියලු දෙනාටම ඒ දෝසය තියෙන තැන අනුව බලපෑම එන්න පුළුවන්.

මොකද මේ ''මම, මගේ'' කියන සංකල්පය නිකං අහේතුකව හට ගත්ත දෙයක් නෙවෙයි. නමුත් සමහර ඒවා, ඇයි එහෙම වෙන්නෙ කියල හරියටම හේතු පැහැදිලි කරන්න බැරි වෙන්න පුළුවන්. මොකද මේ වගේ අවස්ථාවකදි ඒ භෞතිකව තියෙන සියුම් කිරණ කදම්භ විතරක් නෙවෙයි, ඒ ගෙදර ගෘහ මූලිකයා ඇතුළු අනෙක් අයගෙ කර්ම ශක්තියත් බලපානවා. එතකොට ගෙදර ඉන්න ගෘහ මූලිකයා උදේ ඉඳන් රෑ වෙනකල් වෙහෙස මහන්සි වෙලා, ගෙදර ඉන්න අනෙක් අයටත් කන්න බොන්න අරන් දීල පෝෂණය කරනවයි කියන්නෙ එක්තරා කර්ම විපාකයක්. ඒ විපාකය තමයි ගෙවන්නෙ. ඒ විදිහෙ ගනුදෙනුවක් පියවන්නම තමයි ඒ වගේ අය එකට එකතු වෙන්නෙ. ඉතින් ඔය අස්සෙ පෙර සසරෙදි අනුන්ට හිංගි හිංසා කරපු කර්ම විපාකත් එකතු වෙලා අර වගේ වාස්තු දෝසවලිනුත් බලපෑම එන්න පුළුවන්.

දැන් මෙතනදි ඒ ද්‍රව්‍ය පදාර්ථවල ආකෘතිය වෙනස් වෙන කොට, ඒ හට ගන්නා ශක්ති ආකාරවලත් වෙනස්කම් ඇති වෙන බව ඔප්පු වෙනවා. උදාහරණ විදිහට කොළයකට ගිනි තිව්වොත් ගිනි ගන්නවා. හැබැයි ගිනි ගන්නෙ නැතිවෙන්න රත් කරන්නත් පුළුවන්. එතකොට ඒ කොළ කෑල්ලෙ ශක්ති ආකෘතිය වෙනස් කරන්න පුළුවන්, කම්පන ආකෘතිය වෙනස් කරන්න පුළුවන්. ඒ වගේ මේ මුළු විශ්වයම කම්පන ආකෘතියක්. ඒ ගැන හරියටම තේරුම් ගන්න නම්, බුදු දහමේ එන සූවිසි පට්ඨානය ගැඹුරින් දැන ගන්න වෙනවා. මොකද ලෝකයේ සියල්ලම හට ගන්න හැටි ඒ තුළ අඩංගුයි. එහෙම නැත්නම් ක්වොන්ටම් භෞතික විද්‍යාවේ කෙළවරටම හිතන්න වෙනවා. එහෙම නැතිව මේ ඇහැට පේන්න තියෙන ඝන, ද්‍රව, වායු මට්ටම්වලින් අදහස් ගන්න බෑ. එතකොට මේ ද්‍රව්‍ය වස්තුවල තියෙන අති සියුම් පදාර්ථ ඝනී භවනය වෙලා කම්පනය වෙනවා. ඒක රත් කළොත් උණු වෙනවා. තවත් රත් කළොත් ද්‍රව වෙනවා. තව තවත් රත් කරන කොට වාෂ්ප වෙනවා. වාෂ්ප වෙලා පරමාණු බවට පත් වෙනවා. රත් කරන්න කරන්න තව තවත් සියුම් වෙනවා. ඒ කියන්නෙ මේ විශ්වයේ තියෙන්නෙ තාපයත් එක්ක සිදුවන කම්පනයත් එක්ක විචලනය වන ශක්තියක්. අන්න ඒ ශක්තිය තමයි මේ හුවමාරු වෙන්නෙ.





ඊළඟට ගෙදරක දොරවල් සහ ජනෙල් එකට හේත්තු කරල එක ළඟ තියන්නෙ නැතිව, ඒවා අතර යම් කිසි පරතරයක් (අඟල් 9 ක් පමණ) තියෙන්න ඕන කියල වාස්තු විද්‍යාවෙ සඳහන් වෙනවා. ඒ කියන්නෙ දොරක් ජනෙල්වලින් වෙන් කරල වෙනම තියන්න ඕන. ගෙදරක ප්‍රධාන දොරෙන් පෙන්වන්නෙ ඒ ගෙදර පියා. ජනෙල්වලින් පෙන්වන්නෙ ළමයි. ප්‍රධාන දොරත් එක්ක ජනෙල් එකට යෙදුවොත්, හරියට පියාගෙ කර උඩ ළමයි නැගල ඉන්නව වගේ දෙයක් තමයි සිද්ධ වෙන්නෙ. ඒ කියන්නෙ ඒ ළමයි හරියට හදා ගන්න බෑ, කියන දෙයක් අහන්නෙ නෑ, පියාට යටත් වෙන්නෙ නෑ. ඉතින් මේ හැම එකකටම හේතුවක් ඇතිවමයි පෙර හිටපු ඍෂිවරු ඒවා වාස්තු විද්‍යාවට ඇතුල් කරල තියෙන්නෙ. ඒ වගේ එක පෙළට තියපු ජනෙල් දොරවල්වල බැලූ බැල්මටම යම් කිසි විකෘති ගති ස්වභාවයක් දැනෙනවා. පිටින් බැලුවමත් අවලස්සනයි. මොනව හරි ලෝබ, දෝස, මෝහ මුල් වෙලා කරපු ගති ස්වභාවයක් ඒවායින් මනසට දැනෙනවා. ඒ විදියට දොර ජනෙල් පිහිටපු ගෙවල්වලත් මොනව හරි කරදර බාධක දකින්න පුළුවන්. දොර සහ ජනෙල් වෙන් වෙන්ව හිටින්න සවි කළාම ඒ ස්වභාවය නෑ. ඒ දෝස මග හැරල හදපු ගෙවල්වල බොහොම ප්‍රිය මනාප ස්වභාවයක්, නිදහස් ස්වභාවයක් මනසට දැනෙනවා. එතකොට එහෙම වෙනසක් දැනෙන්නෙ, ඒවායේ මොනව හරි වාස්තු දෝස බලපෑම් තියෙන නිසා. ඒ දොර ජනෙල් අතරට මැදින් බිත්ති කොටස් දාල වෙන් කළාම ඒ විකෘති ගති ස්වභාවය ඉවත් වෙනවා.

ඊළඟ කාරණය තමයි ගෙදරක දොරවල් අරින කොටත් ඒ දොර පළු ඇරෙන්නෙ වාමාවර්තවද, දක්ෂිණාවර්තවද කියන කාරණය මත ඒ ගෙදර අයගෙ, විශේෂයෙන් ගෘහ මූලිකයගෙ ස්වභාවය කියන්න පුළුවන්. ඒ කියන්නෙ පිට ඉඳන් ගේ ඇතුළට දොර ඇරගෙන යන කොට, ප්‍රධාන දොර ඇරෙන්නෙ වම් පැත්තට නම්, ඒ ගෙදර ගෘහ මූලිකයා විශේෂයෙන් අධ්‍යාත්මික පැත්තට නැඹුරු කෙනෙක්. අධ්‍යාත්මිකව දැඩි නැඹුරුවක් දක්වන අයගෙ ගෙවල් දොරවල් පරීක්ෂා කරල බැලුවොත් ඒ කාරණය දැක බලාගන්න පුළුවන්. ඒවා හිතල මතල ඉදි නොකළත්, පටිච්ච සමුප්පන්නව ඊට ගැලපෙන ආකාරයටමයි පිහිටන්නෙ. ඊළඟට දකුණට දොර ඇරෙනව නම්, ලෞකික පැත්ත තමයි ප්‍රධාන වෙන්නෙ. ඒ කියන්නෙ මේ විදිහට දොරවල් සවි කරල තියේ නම්, ඊට අනුකූලව ඒ වගේ ස්වභාවයක් තමයි ඒ ගෙදර ඉන්න අයට තියෙන්නෙ. හිතල මතල හැදුවෙ නැතත් සමහර ඒවා කර්මානුරූපීවම ඒ පුද්ගලයන්ට ගැලපෙන විදිහටමයි හැදෙන්නෙ. මොකද ඒ ගෙදර උදවිය යන්න තියෙන ගමන් මාර්ගයක් තියේ නම්, ඒවත් ඒ විදිහටම පටිච්ච සමුප්පන්නවම සකස් වෙනවා. නමුත් ඉතින් ප්‍රයෝග සම්පත්තිය පාවිච්චි කරල තමන්ගෙ කටයුත්තට අවශ්‍ය වෙන විදිහට ඒ දොරවල්වල පිහිටීම දාගන්නත් පුළුවන්.

එතකොට සාමාන්‍යයෙන් ලෞකික පැත්තට යන ස්වභාවයේ කෙනෙක්ගෙ ගෙදරක ප්‍රධාන දොර හිතල මතල වාමාවර්තව ඇරෙන විදිහට දැම්මොත්, ඒ පුද්ගලයට ලෝකෝත්තර පැත්තට යන්න හේතුත් නැත්නම්, ලෞකික පැත්තට ගැලපෙන්න ☞

වාස්තුත් හරියට නැත්නම්, ඒ පුද්ගලයට එන්න තියෙන ලැබීම් අඩු වෙනවා. ඒ නිසා විශේෂයෙන් ප්‍රධාන දොරවල් දාන කොටත්, ඒ ඒ පුද්ගලයගෙ චරිත ස්වභාවය බලල දානව නම් තමයි වඩා හොඳ.

ඒ වගේම ස්වභාවයෙන්ම අධ්‍යාත්මික නැඹුරුවක් තියෙන, දහම් අවබෝධයක් තියෙන කෙනෙක්ගෙ ගෙදර ප්‍රධාන දොර දක්ෂිණාවර්තව ඇරෙන්න දැම්මොත්, ඊට අනුකූල ලෞකික සම්පත්තිය, හේතු තිබුණොත් ලැබෙනවා. නමුත් ඒ පුද්ගලයගෙ අධ්‍යාත්මික ශක්තිය ඒකෙන් වහන්න බෑ. මොකද ඒ වගේ කෙනෙක් යම් කිසි විදිහකින් ලෝක ස්වභාවය ගැන වැටහීමක් ලබලයි ඒ විදිහට හැසිරෙන්නෙ. ඒ වගේ අයට කොච්චර කන්න බොන්න ලැබුනත්, කොච්චර සම්පත්තියක් ලැබුනත්, ඒවායේ අසාරත්වය දැක්කම දාල යන්න හිතෙනවා. ඒ ලෞකික ලැබීම්වලින් අධ්‍යාත්මික ශක්තිය යටපත් කරන්න බෑ.

මොකද අධ්‍යාත්මික ශක්තියක් තියෙන කෙනෙක් කියන්නෙ අලෝභ, අද්වේස, අමෝහයන්ගෙන් විශේෂ ඥාන ශක්තියක් සහිතව උප්පත්තිය ලබපු කෙනෙක්. උදාහරණයක් විදියට යසකුල සිටු පුත්‍රයා මහණ වුනේ සැප සම්පත් මිල මුදල් නැතිව නෙවෙයි. ඒවා ඕන තරම් තිබුණා. ඒ වගේම ප්‍රබල ඥාන ශක්තියකුත් තිබුණා. එදා හිටපු සමහරු රජකම්, සිටුකම් අතහැරල මහණ වුනෙත් ඒකයි. ඒ කියන්නෙ ලෞකික සැප සම්පත් කියන ඒවා අභිබවා ගිහින් ආස්වාදය, ආදීනවය, නිස්සරණය කියන කාරණා වැටහිච්ච ගමන් ඒ ප්‍රඥාව සියල්ලටම වඩා ප්‍රබලයි. ඒක දෙවෙනි කරන්න බෑ. හැබැයි මෙතනදි අධ්‍යාත්මික ශක්තියක් තියෙන උදවිය කියන්නෙ, ලෝක සම්මතයේ මල් පහන් පූජ කරල ගාථා කියල සාම්ප්‍රදායික විදිහට වත් සමාදන් වෙන අය නෙවෙයි. අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් ලෝකය පිළිබඳව යථාවබෝධයක් ලබපු අය. එතකොට තමයි අර වාස්තු විද්‍යා මූල ධර්ම අභිබවා යන්නෙ. ඒ නිසා දහම් අවබෝධයක් නැති, ලෞකික සම්පත් ලබන්න හේතු වාසනා තියෙන කෙනෙක්ගෙ ගෙදරට ඒ විදිහට දකුණු පැත්තට ඇරෙන්න දොර ජනෙල් සවි කළොත් නම් ඒ ලෞකිකව ලැබෙන සැප සම්පත්තියෙන් මත් වෙන්න පුළුවන්. නමුත් ඒ ලැබෙන්නෙත් පෙර පිනක ඵලයක්. පින් තියේ නම් ඵලය ලැබෙනවා. හැබැයි අර වගේ වාස්තු දෝසයක් ආවොත් සමනන්තරය නැති නිසා ඒ ඵලය ඇහිරෙන්න පුළුවන්. ඒ නිසා **සම්පත්තියක් ලබන්න, පෙර පින් තිබුණත් ඒක ඇදිල එන්න නම් සමනන්තරය / භෞතික පරිසරය හරියට තියෙන්න ඕන. ඒක තමයි වාස්තු විද්‍යාවෙන් කරන්නෙ.**

ඒ වගේම සාමාන්‍යයෙන් ගෘහයක් කියන්නෙ බණක් භාවනාවක් කරන්න හදාගත්තු තැනක් නෙවෙයි. මූලික වශයෙන්ම ලෞකික සම්පත්තියක් ලබාගෙන පස්කම් සැප විඳින්න හදාගත්තු වස්තුවක් මිසක් නිවන් දැකීම අරමුණු කර ගෙන හදා ගත්තු එකක් නෙවෙයි. ඒ නිසා ඒ ලැබීම් එන්න නම්, සාමාන්‍යයෙන් ගෙදරක ප්‍රධාන දොරවල් දකුණට ඇරෙන විදිහට තමයි තියන්න ඕන. නමුත් ඒ තත්ත්වයට පටහැනිව, ලෝකෝත්තර පැත්තෙම ගමන් කරන්න ඕන කියල හිතල මතල, බණ භාවනා කරගෙනම ඉන්න, දහම් අවබෝධයක් තියෙන කෙනෙක් නම්, ඒකටම ගැලපෙන්න ප්‍රයෝග සම්පත්තිය යොදල වාමාවර්තව ඇරෙන විදිහට ප්‍රධාන දොර දැම්මට කමක් නෑ. විශේෂයෙන් භාවනා කරන්න හදා ගත්තු කුටියකට ඒක හොඳටම ගැලපෙනවා. එහෙම නැත්නම් දකුණට ඇරෙන්න තමයි සාමාන්‍යයෙන් දොරවල් දාන්න ඕන. ඒ



වගේ සමහර අයගෙ ගෙවල් දොරවල් දන්නෙම නැතිව ඒ ඒ කාරණයට හරියටම ගැලපිලා තියෙනවා. එතකොට ඒ පැත්තට නැඹුරු වෙන්නත් පහසුයි.

ඊළඟට පළු දෙකේ දොරක් ගත්තම, පිටත ඉඳන් දොර අරින කොට ඉස්සෙල්ලම දකුණු පළුව ඇරෙන්නත්, දෙවනුව වම් පළුව ඇරෙන්නත් දොර පිහිටි ගෙවල්වල, හේතු තිබුණොත් ලෞකික සම්පත්තියෙන් ලැබීම් තියෙනවා. ඉස්සෙල්ලම වම් පළුව ඇරිල දෙවනුව දකුණු පළුව ඇරෙන විදිහට පිහිටි ගෙවල්වල අය හේතු තියේ නම් අධ්‍යාත්මික පැත්තට නැඹුරු වෙනවා. ප්‍රධාන දොර ඒ විදිහට පිහිටියොත් ගෘහ මූලිකයත්, ඇතුල් දොරවල් ඒ ඒ විදිහට පිහිටියොත් ගෙදර අනිත් අයත් ඒ ඒ පැතිවලට නැඹුරු වීමක් තමයි දකින්න තියෙන්නෙ. දැන් මේ වාමාවර්ත, දක්ෂිණාවර්ත කාරණයට හේතුව හරියටම අද තියෙන විද්‍යාවෙන් 100% ක්ම පැහැදිලි කරන්න බැරි වුනත්, ඒ කාරණය ප්‍රායෝගිකවත් අත්දකින්න තියෙන දෙයක්. නමුත් විද්‍යාත්මකව බැලුවත් මෙතනදි භ්‍රමණ චක්‍ර හරහා ශක්තිය ක්‍රියාත්මක වන ක්‍රමවේදයක් තියෙනවා. ඒක හරි ගැඹුරු දෙයක්. ඕනම දෙයක් කැරකෙන කොට ඒ අතට භ්‍රමණ චක්‍ර හරහා ධර්ම ලෝකයක් හැදෙනවා. ඉතින් ඒ ධර්ම ලෝකය හරහා පුද්ගලයගෙ කර්ම ශක්තිය අනුව ක්‍රියාත්මක වන ක්‍රමවේදයක් තියෙනවා. ඒවා අති සියුම් ගැඹුරු දේවල්. මේ වගේ දේවල් ගැන ප්‍රායෝගිකව පරීක්ෂා කරල බලනව නම් මේ කාරණයේ සත්‍යතාවය දැක බලාගන්න පුළුවන්.

ඒ වගේම මේ වාස්තු කියන කාරණය කෙනෙක්ගෙ අධ්‍යාත්මික හෝ ලෞකික දියුණුවට බලපාන බව පෙන්වන්න තවත් හොඳ උදාහරණයක් ධර්මයේ සඳහන් වෙනවා. එක්තරා අවස්ථාවකදි භික්ෂූන් වහන්සේ නමක් අඹ වනයක භාවනා කරන්න යන්න බුදුන් වහන්සේගෙන් අවසර ඉල්ලුවා. එතකොට උන් වහන්සේ ඒකට එපා කියල කිව්වා. නමුත් නැවත නැවතත් ඉල්ලා හිටින කොට උන් වහන්සේ ඒකට අවසර දුන්නා. ඉතින් මේ භික්ෂූන් වහන්සේ ඒ අඹ වනයට ගිහින් භාවනා කරන්න හදන කොට හිතට කාම සංකල්පනා ඇදිල එන්න පටන් ගත්තා, හිත සමාධි ගත කරගන්න බැරිව වික්ෂිප්ත වෙන්න ගත්තා. ඒ නිසා නැවතත් බුදුන් වහන්සේ හමු වෙන්න ගිහින් ඒ කාරණය සැළ කළා. එතකොට උන් වහන්සේ පැහැදිලි කරනවා, මහණ ඔබ පෙර අත්බැව් ගණනාවකට එහා රජ කෙනෙක් වෙලා ඉඳල ඔය ස්ථානයේ අන්තඃපුරයක් පවත්ව ගෙන ගිහින් තියෙනවා, ඒ හේතුවෙන් භාවනාව වැඩෙන්නෙ නැති නිසයි එතනට යන්න එපා කිව්වෙ කියල. එතකොට අත්බැව් ගණනාවකට එහා වෙච්ච සිද්ධියක මතක සටහන් නාම ගෝත්‍ර විදිහට ධර්ම ලෝකයේ තිබ්ච්ච නිසා තමයි උන් වහන්සේ ඒ ස්ථානයට ගියාම ඒ ධර්ම ලෝකයේ තිබ්ච්ච අතීත කාම ධර්ම ඇදිල ආවෙ. එහෙනම් ඒ නාම ගෝත්‍ර ධර්ම ලෝකයේ තිබිල තියෙනවා. ඒකයි ඒවා ඒ ස්ථානයේදි සට්ටනය වුණේ.

ඒ වගේම මේ වගේ අවස්ථාවකදි ඒ පුද්ගලයගෙ සසර පුරුදුවලට හේතුවන ශක්තියත් ඒ ස්ථානයේ පොළවට කා වැදිල අවුරුදු සිය දහස් ගණනක් වුනත් පවතිනවා. කල්ප විනාසයක් වුනොත් තමයි ඒක වෙනස් වෙන්නෙ. මනුස්සයෙක් ගෙයක් හදල අවුරුදු 1000 ක් ගියත්

ඒ වෙද්දි ඒ ගෙදර ඒ ස්ථානයේ නැති වුනාට, ඊට අදාල කිරණ ශක්තිය පොළවට කා වැදිල තියෙනවා. එතකොට නැවතත් ඒ පුද්ගලයා ඒ ස්ථානයට ගියොත් ඒ ශක්තිය පරාවර්තනය වෙලා පැරණි පුරුදු හිතට ඇදිල එන්න පුළුවන්. ඒ කියන්නෙ මනුස්සයින්ගෙ ගති ලක්ෂණවලට ඒ පරිසරයත් සම්බන්ධයි. මහ පොළව යට ගස් කොළං නැති වුනාට ඒ ශක්තිය තියෙනවා. නමුත් ඉතින් ඒ කාරණය අද තියෙන විද්‍යාවෙන් පෙන්වන්න පුළුවන්කමක් නෑ.

මෙතනදි අනිදස්සනං අප්පටිඝං ධම්මායතන පරියාපන්න රූපං කියල කොටසක් තියෙනවා. අනිදස්සනං කියන්නෙ ඇහැට දර්ශනය වෙන්නෙ නෑ. අප්පටිඝං කියන්නෙ මස් ලේ කයකින් ස්පර්ශ කරන්න බෑ. හැබැයි ධම්මායතන පරියාපන්න රූපං කිව්වම මනසට ගෝචර වන රූප කොටසක් තියෙනවා. ශුද්ධාෂ්ටක කියන්නෙ ඇහැට පේන්නෙත් නැති, කයකින් ස්පර්ශ කරන්නත් බැරි ඒ වගේ දෙයක්. ඉහත කාරණයෙදිත් ඒ වගේ දෙයක් තමයි සිද්ධ වුණේ. උන් වහන්සේට තේරෙන්නෙ නෑ මොකක්ද වුනේ කියල. නමුත් අර හැඟීම් එනවා. කොයි කාලෙක හරි පුරුදු කරල තිබිච්ච කාම සංකල්පනා තමයි නැගිල එන්නෙ. එහෙම නැතිව නිකම්ම එනව නෙවෙයි. ධර්මායතන රූපයක් සට්ටනය වෙලාමයි එන්නෙ. පොළවට සම්බන්ධ වෙන්නෙත් ඒ ශක්තිය තමයි. කොටස් වශයෙන් ඒ ශක්තිය හැම එකකින්ම පිට වෙනවා. කල් යන කොට ඒ ශක්තිය සියුම් වෙනවා. ඒ විදිහට තැන්පත් වෙලා තියෙන ශක්තිය තමයි නැවත ඇදිල එන්නෙ. නාම ගෝත්‍රවලට ඇදිල එන්නෙත් ඒකයි.

ඒ නිසා තමයි අපිත් සමහර ස්ථානවලට ගියාම යම් කිසි පෙර සම්බන්ධයක් තියෙන බවක් / හුරුවක් හැඟෙන්නෙ. හැබැයි ඒ පෙර සම්බන්ධය අප්‍රිය එකක් නම් එතැන ඉන්න හිතෙන්නෙ නැති ගතියක් හිතට දැනෙනවා. ඒ වගේම පෙර සම්බන්ධය ප්‍රිය එකක් නම් ඒ ස්ථානවලට ගියාම එන්න හිතෙන්නෙ නෑ, නවතින්න හිතෙනවා, යම් කිසි ප්‍රියමනාප ගතියක් දැනෙනවා. ඒ විදිහට හොඳ නරක දෙපැත්තටම තියෙනවා. එහෙනම් අපට නොපෙනෙන මොකක් හරි සියුම් ධර්ම ලෝකයක් තියෙනවා.

ලොව්තුරා බුදුන් වහන්සේට අනාවරණ ඥානය තියෙන නිසා හුඟක් ඈත අතීතය බලල කල්ප ගණනාවකට එහා වෙච්ච සිද්ධියක් වුනත් ඒ විදිහට කියන්න පුළුවන්. ඒකට හොඳ උදාහරණයක් තියෙනවා. එක සිටුවරයෙක් තමන් මැරුණට පස්සෙ කවුරුවත් වළ දාපු නැති තැනක වළ දාන්න කියල තමන්ගෙ පිරිසට උපදෙස් දුන්නා. එතකොට බුදුන් වහන්සේ පෙන්වනවා, ඒ සිටුවරයා මීට පෙරත් ඒ නමින්ම ඉපදිලා මැරිල ගිහින් ඒ ස්ථානයේම, වළ දාපු වාර ගණන බැලුවොත් 14,000 වාරයක් කියල. එතකොට ඒ පුද්ගලයා වෙනත් නම්වලින් ඉපදිලා කොච්චර නම් වාරයක් ඒ ස්ථානයේම වළ දාන්න ඇත්ද ? ඒ වගේම ඒ ස්ථානයේ වෙනත් අය මැරිල කොච්චර නම් වළ දාල ඇත්ද ? එතකොට උන් වහන්සේට මොහොතකින් ඒ වගේ කල්ප කාලාන්තරයක් තිස්සේ සිදු වෙච්ච දෙයක් දකල, හරියටම සංඛ්‍යාවත් එක්කම කියන්න මොන තරම් පෙනීමක් තියෙන්න ඕනද ?

ඒ වගේ දොරක් අරින වහන කොටත් අතීතය බලන්න පුළුවන් කෙනෙකුට නම්, ඒ ඇරපු වහපු වාර ගණනත් අතීත නාම ගෝත්‍ර සිහි කරල කියන්න පුළුවන්. ඒ දොර දකුණට ද වමට ද කැරකුනේ කියල ඇහුව නම් ඒකත් කියන්න පුළුවන්. මොකද ඒ නාම ගෝත්‍ර සටහන් විනාශ නොවී පවතින නිසා. එතකොට ඒ දොරේ කැරකීමත් ධර්ම ලෝකයේ නාම ගෝත්‍ර විදිහට සටහන් වෙනවා. ඒ කැරකීමට අනුව ඊට අදාල ශක්තියකුත් ධර්ම ලෝකයේ / ඕරා ලෝකයේ නිර්මාණය වෙනවා. ඒ ශක්තිය අනුව ලැබෙන ඵලයත් වෙනස් වෙනවා.

දැන් කෙනෙක් හිතන්න පුළුවන්, එහෙනම් උපතින්ම දුක්පත් කෙනෙක් මේ විදිහට දොරවල් දකුණට කැරකෙන විදිහට, හරියට වාස්තු විද්‍යානුකූලව ගේ හැදුවම කෝටිපතියෙක් වෙන්න පුළුවන් කියල. නමුත් කෙනෙකුට හේතු නැතිව ඵල හදන්න බෑ. කෝටිපතියෙක් වෙන්න, පෙර පින් හේතු වාසනා තිබිල, භෞතික පරිසරය නිසා ඒ ලැබීම අවහිර වෙලා තියේ නම් අන්න ඒ අවහිරතාවය වාස්තු විද්‍යාත්මක ක්‍රමවලින් ඉවත් කරන්න පුළුවන්. හරියට, මලකඩ කාල තියෙන යන්ත්‍රයක් තෙල් ටිකක් දාල සුද්ද කළාම පණ ගැන්විලා ක්‍රියාත්මක වෙනව වගේ වැඩක්. එතකොට ඒ ලැබීම එනව මිසක් මේ වාස්තු ක්‍රමවලින් හේතු හදන්න බෑ. අතීත සංසාරයේ අලෝභයෙන් දාන මාන දීල කරගත්තු පින් මහිමවල ප්‍රතිඵලය තමයි ලෞකික සම්පත්තියක් විදිහට ඇදිල එන්නෙ. හැබැයි ඒ ලැබීම වුනත් භෞතික පරිසරය හරියට නැත්නම් ඇදෙන්න විදිහක් නෑ. එතකොට පරිසරය සකස් කරල දෙනව හැර වාස්තු විද්‍යාවෙන් ඒ හේතුව හදන්න බෑ. හැබැයි දැන් හේතු හැදුවොත්, පින් දහම් කළොත්, ඒවායෙ ලැබීම මතුවට එනවා. ඒ නිසා වාස්තු විද්‍යාවේ එන සියලු උපක්‍රම දැන ගෙන ඒ අනුව ගෙවල් දොරවල් හැදුව පළියට සම්පත්තියක් ලබන්න බැරි බවත් තේරුම් ගන්න ඕන.

ඉතින් මේ සමහර වාස්තු දෝස එන කොට සමහර විට ඒ ගෙදර අයට ඉන්නම බැරි තත්ත්වයක් උදා වෙනවා. උදාහරණ විදිහට සමහර ගෙවල් තියෙනවා, ඒ ගෙදර ගෘහ මූලිකයා නෑ. ඒ කියන්නෙ එක්කො දාල ගිහින්, එහෙම නැත්නම් මියගිහින්. මැරුනෙ නැත්නම්, ඉන්න බැරි නිසා වෙන කොහේ හරි යන්න යනවා. එහෙම නැත්නම් හිටියත් මළා වගේ එක තැන් වෙනවා. බලන කොට ඒ ගෙදර මුදුන් යට ලීයක් නෑ. මොකද මුදුන් යට ලීයෙන් ප්‍රධාන වශයෙන් සංකේතවත් වෙන්නෙ ගෘහ මූලිකයා.

ඒ වගේ තමයි සාමාන්‍යයෙන් ගෙදරක ප්‍රධාන නිදන කාමරය තියෙන්න ඕන නිරිත දිසාවෙන්. මොකද නිරිත දිසාව සම්බන්ධ වෙන්නෙ වායෝ ධාතුවට. ඒ කියන්නෙ ඒ ගෙදර ඉන්න අය දවල් තිස්සෙ වෙහෙස මහන්සි වෙලා රෑට වෙහෙස මහන්සිය යන්න නිදහසේ නිදා ගන්න ගැලපෙන්නෙ වායෝ ධාතුවට අදාල දිසාව. නමුත් සමහර අයගෙ කර්ම විපාක ප්‍රබල වුනාම, ලැබෙන ගෙදර ප්‍රධාන නිදන කාමරය නිරිත දිසාවට නෙවෙයි පිහිටල තියෙන්නෙ. බැරි වෙලාවත් ඒක ගිනිකොණට අහු වෙලා තිබුනොත් ඒ ගෙදර ස්වාමි පුරුෂයයි භාර්යාවයි නිතරම ඉන්නෙ ගිනි අරගෙන. ඒ කියන්නෙ නිතරම රණ්ඩු සරුවල්. ඉතින් ඒ කාරණය දැන ගෙන හරියටම පිඹුරුපත් සකස් කරල නිරිත දිසාවට ප්‍රධාන නිදන කාමරය එන විදිහට හදල පදංචියට ගියත්, සමහර විට කර්ම ශක්තියෙන් ඒ දෙන්නට එකට ඉන්න හේතු ඇත්තෙම නැත්නම් ඒත් එක්කම දෙන්න වෙන් වෙනවා. එහෙම වෙච්ච අවස්ථා තියෙනවා. ඒ කියන්නෙ දික්කසාදයකින් වෙන්නත් පුළුවන්, නැත්නම් වෙනත් මොනව හරි ක්‍රමයකින් කෙනෙක් ඒ ගෙදර හැර යන්නත් පුළුවන්. මොකද එතකොට අර වාස්තු සිද්ධාන්තය අභිබවල කර්ම ශක්තිය තමයි ප්‍රධාන වශයෙන් ක්‍රියාත්මක වෙන්නෙ. එතකොට ඒ කර්ම ශක්තිය නිසාම තමයි ඒ වගේ අයට ඒ විදිහෙ වාස්තු දෝස පිහිටපු ගෙවල් ලැබෙන්නෙත්.

හැබැයි මේ කියන වාස්තු කාරණාවලට පරස්පර අවස්ථාත් සමහර විට දකින්න ලැබෙනවා. උදාහරණ විදිහට සමහර ගෙවල් තියෙනවා, වාස්තු විද්‍යානුකූලව ගත්තොත් ඒ ගෙදර ඉන්න ස්වාමි පුරුෂයයි භාර්යාවයි ගහ මරාගන්න ඕන විදිහට තමයි පිහිටල තියෙන්නෙ. ☞

# රුධිර පීඩනයට ප්‍රත්‍යක්ෂ ඔසුවක්

රුධිර පීඩනයේ අසමතුලිතතාවය සහ ඒ නිසා හට ගන්නා විවිධ රෝගාබාධවලින් පීඩා විඳින අය මේ වෙන කොට සමාජයේ බහුලයි. ඒවාට පිළියම් විදිහට ගන්න ප්‍රතිකාරත් බොහෝ කොටම තාවකාලිකයි. ඒ කියන්නෙ රෝගී තත්ත්වයන් යම් කිසි ආකාරයකට පාලනය කිරීමක් තමයි සිද්ධ කරන්නෙ. ඒ වගේ අවස්ථාවක වහරක අභයරතනාලංකාර හිමියන් විසින් සමාධියට හසු කර ගත් මේ ඖෂධය මේ වෙන කොටත් අත්හදා බලල ප්‍රත්‍යක්ෂ කර ගෙන තියෙන ඖෂධයක්. විශේෂ වියදමකින් හෝ මහන්සියකින් තොරව හදා ගන්න පුළුවන්, අතුරු ආබාධ රහිත ඒ ඖෂධය තමයි මේ ඉදිරිපත් කරන්නෙ.




මේ සඳහා අමුද්‍රව්‍ය විදිහට ගන්නෙ වේලල සකස් කර ගත් වද කහ අල කුඩු, කලාඳුරු අල කුඩු, කළුදුරු කුඩු, පොතු ඇරල සකස් කර ගත් සුදු ළූණු සහ නා දළු. මෙතනදි නා දළු හැර ඉතිරි සියලු අමුද්‍රව්‍ය සමාන බරක් එන විදිහට ගන්න ඕන. ඒ වගේම සුදු ළූණු වේලන්නෙ නැතිව අමුවෙන් ගන්නව නම් තුන් ගුණයක් ගන්න ඕන. හැබැයි මේ කුඩු කරපු අමුද්‍රව්‍ය බෙහෙත් බඩු වෙළඳ සැල්වලින් මිලදී ගන්නව නම් පිරිසිදු, අමිශ්‍ර ඒවා බවට සැක හැරල දැන ගන්න ඕන. මොකද බාල අමුද්‍රව්‍ය යොදා ගත්තොත් මේ ඖෂධයේ තියෙන ශක්තිය හීන වෙලා ප්‍රතිඵල නොලැබී යන්න පුළුවන්. ඒ නිසා හැම තිස්සෙම ඒ මිලදී ගන්න අමුද්‍රව්‍යවල පිරිසිදු බව සැක හැරල දැනගන්න ඕන.

ඒ විදිහට සමාන බරක් එන විදිහට ගත් ඒ අමුද්‍රව්‍ය එකට මිශ්‍ර කරල, නා දළු ඉස්මෙන් (අවශ්‍ය නම් වතුර ටිකක් දමා) අඹර ගන්න ඕන. එතනදි නා දළු නියමිත ප්‍රමාණයක් කියල නෑ. ගුලි කර ගන්න ඉස්ම එන ප්‍රමාණයට ගත්තම ඇති. ඒ මිශ්‍රණයෙන් බණ්ඩක්ක ඇට පමණට ගුලි හදා ගෙන වේලල උදේ දවල් රෑ ආහාරයට පසු ගුලි එක බැගින් මාස 1 1/2 ක් පමණ ගන්න ඕන.

මේ ඖෂධයෙන් රුධිර පීඩනයේ අඩු වැඩි වීම සමතුලිත වෙන්නත්, ලේ නහර නැවත ක්‍රමානුකූලව ක්‍රියාත්මක වෙන්නත්, හද ගැස්ම ක්‍රමානුකූල වෙන්නත්, බහිස්‍රාවී ඉන්ද්‍රිය පද්ධතිය ක්‍රමානුකූලව ක්‍රියාත්මක වෙලා සියලු අජීර්ණ සුව වෙන්නත්, දුර්වල වුනොත් නැවත ක්‍රියාත්මක කරන්න බැරි තරමට ඉතා අපහසු, තුනටිය ආශ්‍රිත ඉන්ද්‍රියක් නැවත ප්‍රකෘතිමත් වීම නිසා ඇට මිදුළු පෝෂණය වෙන්නත්, ඒ මගින් රුධිරයට අවශ්‍ය කරන සියලු රස ධාතු නැවත නිෂ්පාදනය කරල මුළු ශරීරයම ප්‍රකෘතිමත්ව නිරෝගී බවට පත් කරන්නත් හේතු වෙනවා. ඊට අමතරව බෙල්ල, කොන්ද හිර කරන ආබාධත් සුව වෙන්න හේතු වෙනවා.

රතු පාටට හුරු වඳුරු මෑ ඇට දෙකක් වගේ තුනටිය දෙපැත්තෙ වකුගඩු ආශ්‍රිතව පිහිටල තියෙන මේ ඉන්ද්‍රියන් දෙක සම්බන්ධයෙන් වහරක අභයරතනාලංකාර හිමියන් සමාධියට හසු කරගත් අත්දැකීම් සහිත කාරණයක් මේ විදිහට පැහැදිලි කළා.

මේ ඉන්ද්‍රියන්ගෙන් ඔක්සිජන් උරා ගන්නවා. ධ්‍යාන වඩපු කෙනෙකුට ඒ ඔක්සිජන් ප්‍රමාණය නිසා ධ්‍යාන සමාපත්තියට සම වැදිල පැය 2 ක් විතර හුස්ම නොගෙන ඉන්නත් පුළුවන්. චතුර්ථ ධ්‍යාන සමාපත්තියෙදි තමයි සාමාන්‍යයෙන් එහෙම ඉන්නෙ. අභිඥා ලැබුවොත් ඊටත් වඩා කාලයක් ඒ විදිහට ඉන්න පුළුවන්. හැබැයි ඒ පැය දෙකක කාලය මට දැනිච්ච දෙයක්. ඒ නිසා ඒ කාලය සමහරවිට වෙනස් වෙන්නත් පුළුවන්. එතකොට ඒ කාල සීමාවෙදි කොඳු නාරටිය හරහා ඒ ඉන්ද්‍රියන්ගෙ තියෙන ඔක්සිජන් ප්‍රමාණය මොළයට ගෙනිහින් මොළය ප්‍රකෘතිමත්ව තියනවා. මොකද ඒ වගේ ධ්‍යාන සමාපත්ති අවස්ථාවක ඉන්න කොට පොඩි ඔක්සිජන් ප්‍රමාණයයි මොළයට අවශ්‍ය වෙන්නෙ. ඒ ඔක්සිජන් ප්‍රමාණය හැම වෙලේම මේ ඉන්ද්‍රියන්ගේ ගබඩා වෙලා තියෙනවා.

**සටහන:**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

---

ඒ කියන්නෙ කිසි සමගියක් සමාදානයක් නැති වෙන විදිහට. නමුත් ඒ දෙන්න හොඳින් ඉන්නවා. ඔහොම ඉඳල ඒ ගෙදර ඉන්න ළමයින්ට ඒක ලියල දුන්න ගමන් ඒ ළමයි ගහ මරා ගන්න පටන් ගන්නවා, නිතරම අඬදබර කරන්න පටන් ගන්නවා. ඒ වාස්තු දෝසය ඉවත් කළාම ඒ බාධකයත් ඉවත් වෙනවා. එතකොට ඒ අම්මගෙයි තාත්තගෙයි කර්ම ශක්තියෙන්ම ආපු දැඩි බැඳීම, ලෙන්ගතුකම නිසා අර වාස්තු දෝසය ඉස්මතු වෙන්නෙ නෑ. නමුත් අනිත් අයගෙ කර්ම ශක්තියයි, වාස්තු දෝසයයි දෙක ගැලපෙන නිසා ඒක ක්‍රියාත්මක වෙලා ඒ අය අතර අඬදබර ඇති වෙනවා. ඒ වගේ දෙයක් තමයි එතනදි සිද්ධ වෙන්නෙ. ඉතින් ඒ වගේ අවස්ථාවල වාස්තු දෝසය ඉවත් කළාම ඒ ගැටළුව ඉවරයි.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සාදු ජනයාගේ සිත් පහන් වනු පිණිසයි.

මේ වෙන කොට සැඟව ගිය බොදු මග නැවත මතු කරමින්, කිසිඳු වාණිජමය හෝ වෙනත් ලාභ අරමුණකින් තොරව, මුද්‍රණ වියදම ඇතුළු නිෂ්පාදන වියදමටත් වඩා අඩු, රුපියල් 20/- ක් වැනි සුළු මුදලකට මෙතෙක් ඔබ අතට ලබා දුන් හෙළ බොදු පියුම දහම් සඟරාව එවැනි මිලකට ලබා දීමට හැකි වූයේ විවිධ පින්වතුන් විසින් වරින් වර ලබා දුන් මුදල් හා ශ්‍රම පරිත්‍යාග හේතුවෙනි.

ඒ අනුව හෙළ බොදු පියුම දහම් සඟරාවේ මංගල කලාපයේ පටන් මේ දක්වා වූ සියලු කලාප සඳහා විවිධ පින්වතුන් විසින් සැදැහැ සිතින් පිරිනමන ලද මුදල් ආධාරයන්ගේ එකතුව සහ ඒවා විය පැහැදම් කළ ආකාරය දක්වෙන ලුහුඬු සටහනක් මෙසේ ඉදිරිපත් කෙරේ.

- ♦ මෙතෙක් ලබා දුන් සියලු මුදල් ආධාරවල එකතුව - රු.6,630,250/-
- ♦ 1 - 50 දක්වා කලාපවලින් නැවත මුද්‍රණය කිරීම ද ඇතුළුව මේ දක්වා මුද්‍රණය කරන ලද සියලු පිටපත් සංඛ්‍යාව - 626,000
- ♦ ඒ සියලු පිටපත් සඳහා ගිය මුද්‍රණ වියදම - රු.13,588,285/-
- ♦ අනෙකුත් සියලු වියදම් - රු.576,060/-
- ♦ ඒ අනුව මේ දක්වා කරන ලද සියලු විය පැහැදම් - රු.14,164,345/-
- ♦ ලැබුණු මුදල් ආධාරවලින් පමණක් දනට නොමිලේ නිකුත් කරන ලද පිටපත් සංඛ්‍යාව - දළ වශයෙන් 18,000
- ♦ සඟරා අලෙවියෙන් ලද ඉතිරි මුදල්වලින් කොටසක් වහරක අරිය චින්ත්‍රාශ්‍රම බෞද්ධ විහාරස්ථානයෙන් නිෂ්පාදන වියදමටත් අඩුවෙන් ලබා දුන් සහ දනටමත් ලබා දෙන සංඝත දහම් තැටි සහ අනෙකුත් දහම් ප්‍රකාශන සඳහා යොදවා ඇති අතර, ඉතිරි මුදල්ද ඉදිරියේදී කෙරෙන නැවත මුද්‍රණය කිරීම්, බෙදා හැරීම් ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

# කාරුණිකව කෙරෙන දැනුම් දීමයි...

**දහම් පිපාසිත සාදු ජනයාගේ බලවත් ඉල්ලීම පරිදි දිවයිනේ සෑම ප්‍රදේශයකටම හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුළු නව කලාප ඉතා ඉක්මනින් බෙදා හැරීමට සිදුව ඇති බැවින් ප්‍රවාහන ගාස්තු ඇතුළු අමතරව සිදුවන විය පැහැදම් පියවා ගැනීම සඳහා ලබන 51 වන කලාපයේ සිට දහම් සඟරාවක මිල රු. 5/- ක මුදලකින් වැඩි කිරීමට සිදුව ඇත. ඒ අනුව ලබන 51 වන කලාපයේ සිට පිටපතක මිල රු. 25/- ක් වන බව කරුණාවෙන් සලකන්න.**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 50 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**<u>ශ්‍රම දායකත්වය</u> -**

♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ♦ චිත්‍ර ශිල්පී එස්.එම්. ජයසේකර මහතා - මාලබේ ♦ ඩබ්.ඒ. තිළිණවතී මහත්මිය - කඩවත ♦ රත්න පෙරේරා මහතා - කැස්බෑව ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල ♦ සාලින්ද ජයවර්ධන මහතා - මාලබේ ♦ කැළුම් ලංකේශ්වර මහතා - ගාල්ල ♦ මනෝජ් ජයසූරිය මහතා - මහරගම ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඩී.සී.ආර්. ඇක්සස් ලංකා මුද්‍රණාලයේ චන්දිම පෙරේරා මහතා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායක වූ පින්වතුන්

## මූල්‍යමය දායකත්වය -

♦ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු.50,000/- ♦ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ♦ ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම - කුරුණෑගල - රු. 10,000/- ♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/-♦ තුසිත නාකන්දල මහතා, සරුපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස- රු. 10,000/-♦ වසන්ත කොළඹආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - කොට්ටාව - රු.7,500/- ♦ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 6,000/- ♦ දීප්ති මුණසිංහ මහත්මිය - රු.5,750/- ♦ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ♦ ඩී. කුලතුංග මහතා - නුගේගොඩ - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ♦ සුහාෂ් රණසිංහ මහතා, මධුභාෂිනී ශාලිකා මහත්මිය - මගලෙගොඩ - රු. 5,000/- ♦ අමිල සල්ගාදු මහතා - බෝමිරිය - රු. 5,000/- ♦ චානිකා ලියනගේ මෙනවිය - බණ්ඩාරගම - රු.5,000/- ♦ අයිලීන් ජයසූරිය මෙනවිය - මොරටුව - රු.5,000/- ♦ ජනක රුවන් මහතා - ගරාඬුව, මාතර - රු.5,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ♦ බී.බණ්ඩාර මහතා ඇතුළු පවුලේ සැම - රු.3,000/- ♦ ගුණපාල ඉද්දෙගොඩ මහතා - විජේරාම - රු.3,000/-♦ ශ්‍රී ලංකා ගුවන් හමුදාවේ විගණන අංශය, කොළඹ - රු.2,600/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ♦ තරිඳු ධනුෂ්ක විජේසිංහ මහතා සහ ඩිමාලි ශෂිකලා විජේසිංහ මෙනවිය - රණාල - රු.2,500/- ♦ නිරෝෂන් ඒකනායක මහතා - බත්තරමුල්ල - රු.2,500/- ♦ සකුන්තලා කරුණාතිලක මහත්මිය, උදාර කරුණාතිලක මහතා, විදූෂිනි කරුණාතිලක දුව - බත්තරමුල්ල - රු. 2,500/- ♦ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම සිල්වා මහතා - මාරවිල - රු.2,000/- ♦ කැළුම් ලංකේශ්වර මහතා ඇතුළු පවුලේ සැම - ගාල්ල - රු.2,000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු.2,000/- ♦ ඩබ්.ඒ. මහින්ද ජයතිලක මහතා - වෙල්පල්ල - රු.2,000/- ♦ ජයනාත් සුහසිංහ මහතා - හෝමාගම - රු.2,000/-♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ ඩී.ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු.1,500/- ♦ තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා - මොරටුව - රු.1,500/- ♦ එම්.අයි. එගොඩගේ මහත්මිය සහ ඉඳුමිනි රූපසිංහ මෙනවිය - මීරිගම - රු. 1,500/- ♦ ජී.එච්.ඒ. පුබුදු ලක්ෂාන් පුතා ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 1,500/- ♦ එම්. සේනානායක මහත්මිය - ජාඇල - රු. 1,200/- ♦ සිසිර කුමාර සමරදිවාකර මහතා - එල්ලක්කල - රු. 1,040/- ♦ පූජ්‍ය සේනපුර පඤ්ඤාසාර හිමි - අරිය චින්තාශ්‍රම විවේකාශ්‍රමය - උඩපොළ - රු. 1,000/- ♦ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම- හෝමාගම - රු. 1,000/- ♦ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු.1,000/- ♦ ඕෂිනී පෙරේරා මහත්මිය සහ නමින්ද ලියනගේ මහතා - නුගේගොඩ - රු.1,000/- ♦ ඉන්ද්‍රානි විසාකා ජයසිංහ මහත්මිය - බොරලැස්ගමුව - රු. 1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු.1,000/- ♦ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු.1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ග්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/-♦ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/- ♦ රෝහිණී වෙදආරච්චි මහත්මිය - අම්බලන්ගොඩ - රු.1,000/- ♦ සීතා ගුණරත්න මහත්මිය, සුනිල් විජේසූරිය මහතා සහ අචිර විජේසූරිය පුතා - මොරටුව - රු. 1,000/- ♦ ගිහාන් චතුරංග මහතා - නිකපෙ - රු.1,000/- ♦ කරුණා පීරිස් මහත්මිය ඇතුළු පවුලේ සැම - හොරණ - රු. 1,000/- ♦ සත්‍යපාල මහතා සහ මල්ලිකා මහත්මිය - හොරණ - රු.1,000/- ♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/-♦ රත්න පෙරේරා මහතා ඇතුළු පවුලේ සැම - කැස්බෑව - රු. 1,000/- ♦ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/- ♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන - රු. 1,000/- ♦ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු. 1,000/- ♦ අසංග සෙනරත් අඹගල මහතා - රදාවාන - රු. 1,000/- ♦ අමිල බාලසූරිය මහතා - ඉහළ උඩුගම්පල - රු.1,000/- ♦ කසුන් තාරක වික්‍රමසූරිය මහතා සහ සිතුමිනි ප්‍රබෝධා මහත්මිය - පානදුර - රු.1,000/- ♦ චන්ද්‍රා පෙරේරා මහත්මිය, ඉසුරු උදාන වික්‍රමසූරිය මහතා - පානදුර - රු.1,000/- ♦ ඉරේෂා ඇන්ඩෲ මහත්මිය, සරත් චන්ද්‍රසිරි ඇන්ඩෲ මහතා සහ ප්‍රතීෂා නයෝමි දියණිය - හෝමාගම - රු.1,000/- ♦ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු. 1,000/- ♦ ඩබ්. සිසිර සේනාරත්න මහතා - මහපල්ලෙගම - රු. 1,000/- ♦ ඩබ්.එම්. චන්ද්‍රසිරි විජේරාජ මහතා - කරඳවැටිය - රු. 1,000/- ♦ උදාර ඉන්දික මහතා ඇතුළු පවුලේ සැම - බාඳුරාගොඩ - රු. 1,000/- ♦ චතුර සම්පත් ධනංගල මහතා, වරුණි ප්‍රියංවදා මහත්මිය, විනුති සඳුත්මා දුව - පාදුක්ක - රු. 1,000/- ♦ ඊ.ජී. හීන් මැණිකේ මහත්මිය සහ එම්.ජී. හීන් මහත්තයා - රත්නපුර - රු. 1,000/- ♦ ඒ. විල්සන් පෙරේරා සහ එන්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ♦ ජී.ඩී.ඩබ්ලිව්. සෝමරත්න මහතා - පයාගල - රු. 1,000/- ♦ අසංගා විජේවර්ධන මහත්මිය ඇතුළු පවුලේ සැම - තිඹිරිගස්යාය, කොළඹ 05, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ ☞

මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, - කුරුණෑගල, යමුනා උඩුමලගල මහත්මිය - පිළියන්දල, රසික තුශාන්ත මහතා - හෝමාගම, චතුර මල්වාන මහතා - කෑගල්ල, තිස්ස බී අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්.ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, දිල්ශාන් ධනුෂ්ක මහතා - වහරක, දේවිකා මහත්මිය - පිළියන්දල, ඉන්ද්‍රා සේනානායක මහත්මිය - නැදුන්ගමුව, පී.ඩී. සචින්ත දේශප්‍රිය මහතා ඇතුළු පවුලේ සැම - මීරිගම, එන්.ජී. ශ්‍යාමා සංජීවනී මහත්මිය- නාරංගස්පිටිය - එකතුව - රු. 6,640/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 257,230/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦ අනෙකුත් වියදම් - 22,310/- ♦ සම්පූර්ණ වියදම - රු. 254,810/- ඉතිරි වන මුදල් පරිත්‍යාග සහ සඟරා අලෙවියෙන් ලැබෙන සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net
www.aaryadharma.org විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අං:- 071 3046895

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සැම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. (0714220558 / 0112744308)
3. නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023
4. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
5. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
6. පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369
7. සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081
8. ලසන් ට්‍රේඩ්සෙන්ටර් - 8, අලුත්ගොඩ පාර, තිස්සමහාරාමය - 0718523556
9. පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714
10. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023)
11. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098
12. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
13. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
14. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
15. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
16. සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776
17. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.

තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - **0777794676**

**ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ අරමුණකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.**

# සැඟව ගිය බොදු මග යළි මතු කළ

# යතිවරයාණෝ...



අප බෝ සතුන් මුනි දීපංකර   මූලේ
දෙපතුල වැඳ වැටී විවරණ ලද   වේලේ
එපමණ දැකීමෙන් ගොවියෙක් ලෙස   කාලේ
උපදින භවින් භව විය සසුනට   ආලේ



කළ සෙත් සිදත් මුනි කල වහරක   ථේර
ධනවත් සිටු කෙනෙකු වී දන් දුනි   නෑර
පිළිවෙත් පුදා බුදු සඟුනට නෙක   වාර
බලවත් වෙලා බුදු විවරණ ගති   බාර

කස්සප මහ මුනිඳු කල වහරක   සමිඳ
දස්සව වෙදෙකු වී සුවපත් කළ   නිබඳ
පස් සැප හැර දමා සත සෙත දෙමින   සොඳ
තොස්සව ලබා ගති විවරණ මුනිඳු   වැඳ

සැඟවුනු බුදු සසුන යළි ගොඩ නගනු   සිතා
බල වුනු පැතුම බුදු විවරණ ලදිය   පතා
මග කුණු ඉවත හරිමින් මුනි සසුනෙ   යථා
මතු වුනු දින පටන් දම් කඳ දෙසති   ගොතා



ලොව අති දුලබ කවියෙනි බැමි බිඳ   හරින
දෙවමින බුදු බලය සෙත ගෙන සුවය   දෙන
මවමින ගුණ කඳන් හද සුදු නෙළුම   මෙන
දිව ඔසුවකිය හිමි මතු කළ දහමෙ   ගුණ

සවු සතුනගේ නෙත පාදන මග   දන්න
සිවු පිළි සිඹි නැණින් ගෙන දම් කඳ   දුන්න
ගවු ගණනකින් ලද කතරෙහි දිය   වැන්න
ලොවුතුරු පෙරුම් බල ඇත සත ගොඩ   ගන්න



සත වෙත පතල කරුණාවෙන් මග   පෑදූ
ගොත ගොත සැඟව ගිය දම් කඳ යළි   සෑදූ
වත ගොත නොවිමසා දම් දිය දුන්   සාදූ
සෙත දෙත සමිඳ වහරක තුන් දොස   සේදූ

දහයක් බුදු අතර කල් පාරමී   පිරුවා
සුවයක් ගෙනෙන්නට දුක් බාධක   දැරුවා
භවයක් නසා දම් කඳ දුන් බුදු   දරුවා
සියයක් ආයු වේවා මග හැර   මරුවා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# කවි දහසකින් සැදුනු ගිනි නිවන කවි ගඟුල...

දහසක් කවි එකතු කළ දම් කවි ගොන්න
රහසක් නැතිව එළි වෙයි මෙත් සිත කින්න
අහසක් උසට බැඳි පැතුමන් හරි මින්න
පහසක් ලබනු නොව නිවෙනට මග ගන්න

හෙළ බස පෙරට ගෙන මුනි බණ අනුව යන
ගැලවෙන විලස කෙළෙසුන් නිසි ලෙසට ගෙන
කුල මළ ජාති ආගම් නැති මුනිඳු බණ
පෙළකට ගෙනෙයි කවි පද වැල් නිවන දෙන

සිව් වසරකට පෙර ඇරඹුණු කවි මාලා
දෙව් මනු සතරපා ලෝ තතු ඇත පාලා
පව් කම් හැර ලැබූ අත් බවයට වීලා
ඇවිලුනු ගිනි නිවා ගනු දම් දිය නාලා

මුදලින් වියදමයි නැත අමතර ගන්නේ
අරුතින් පාට රූ සටහන් ගලපන්නේ
ළමයින් වැඩිහිටිද හැමටම වැටහෙන්නේ
නමකින් "ගිනි නිවන කවි ගඟුල" කි එන්නේ

කලකදී ඇරඹි කවියෙහි අදියරකි නිමී
පෙළකට ගසා නුදුරෙහි ඔබ අතට දෙමී
සැළ වුන විගස නැණසට තෙරුවනට නැමී
ගැලවෙන දහම ගනු බිඳ හැර සසර බැමී



පබැඳුම | නීතිඥ
චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.